සැඟවුණු බොදු මග යළි පුබුදන

# හෙළ බොදු පියුම

27 වෙනි කලාපය

ශ්‍රී බු. ව. 2557ක් වූ දුරුතු මස (ව්‍යවහාරික වර්ෂ 2014 ජනවාරි)



## සූක්ෂම මනෝ කාය පිළිබඳ සැබෑ තතු.....

රු. 20/-

සැඟව ගිය බොදු මග යළි රැගෙන සෑම පුන් පොහෝ දිනකම එළිදකින දහම් සංග්‍රහය



# ගෙවුණු අතීතය...











පියවී යන දෙනෙත සදහට ලොවම බලා
දියවී යයි තවත් කලකදී සැරව ගලා
වැයවී ගියා පමණකි ගත සවිය හලා
ණයවී කෙරුව පිළියම් සිහිනයකි මුලා

ආවා මිනිස් මස් ලේ ඇති කයක් සදා
කෑවා තුටින් රස මසවුළු නොයෙක් එදා
පෑවා හපන්කම් කියමින් ලොවක් බදා
ඒවා ඉතින් ඉවරයි කෝ සැපක් මෙදා

කෙමෙන් අතීතය දික් වෙයි තව දුරට
හිතෙන් මතක සටහන් යයි කෙළවරට
මුවෙන් මුව අයන් හිටියත් ලොව බරට
දණින් වැටෙන්නට වෙයි යන විට ජරට

මග තොට යනෙන භව කතරේ එක් තැනක
අග මුල නොදැක ලෝ සත කෙළියත් කුණක
වග තුග බලොත් පෙරතීතය තෙක් කොණක
දිග මිස බලනු බැහැ කප ගෙවුනත් දිනක

දිර දිර ගියපු පෙර අත්බැව් පොදි බිමට
ජර මර නොඅඩු එකොළොස් ගිනි දුනි එමට
හර නැති සසර ගමනක තව හිඳ කුමට
පෙර ගෙවු ජීවිතය දැන් සිහිනෙකි සැමට

ගෙවුනු අතීතය සිහි කර එ පසු දුව
දැවුනු සිතින් යළි ගතැකිද තිබුණු සුව
මැවුනු සිතෙහි මාළිග ඉටු නොවන බව
නිවුණු විටදී වැටහෙයි සිහිනයකි ලොව

පබැඳුම - නීතිඥ චන්දන සිරිවර්ධන













# දුෂ්ට ගති පැවතුම් ඇතැයි කියන වසවර්ති මාරයා වැනි කෙනෙක් දෙව් ලොව උපදින්නේ ඇයි ?

මාරයා ගැන කතා කරන කොට කර්ම මාර, ක්ලේෂ මාර, විපාක මාර, මච්චු මාර සහ දේව පුත්‍ර මාර කියල කොටස් 5 ක් ගැන සඳහන් වෙනවා. කර්ම මාර කියන්නෙ මතු යමක් බලාපොරොත්තුවෙන් කරන පුණ්‍ය, පාප කටයුතු. ඒවා මාර ධර්ම විදියට හඳුන්වන්නෙ ලෝකයේ පැවැත්මට හේතු වෙන නිසා. ක්ලේෂ මාර කියන්නෙ රාග, ද්වේශ, මෝහවලට. ඊළඟට කර්ම විපාක වශයෙන් සත්වයින්ට ඇස, කන, නාසය... ආදී ඉන්ද්‍රියන් පහළ වෙනවා. ඒවා ඔක්කොම ලෝකයට හෙවත් මරුට අයිතියි. මරු කියන්නෙ ලෝකයට කියන තවත් නමක්. ලෝකය කියන්නෙ ඇස, කන, නාසය... ආදී ඉඳුරන්ට සහ ඒවාට ගෝචර වෙන රූප, ශබ්ද, ගන්ධ... ආදියට කියන නමක්. එතකොට ඒව කැඩෙන බිඳෙන කොට, වැනසෙන කොට, ජරා මරණවලට පත් වෙන කොට දුක් දෙනවා. ඒ නිසා මේ ඉන්ද්‍රියන් සහ ඒවාට ගෝචර වෙන රූප, ශබ්ද, ගන්ධ... ආදිය තමයි විපාක මාර කියන්නෙ. ඊළඟට මච්චු මාර කියන්නෙ මරණය. ඒ කියන්නෙ යම් දෙයක් උපන්න නම් ස්වභාවිකවම ඒක මරණයට පත්වීම ඒකාන්තයෙන්ම සිද්ධ වෙනවා. දේව පුත්‍ර මාර කියන්නෙ මේ හතරටම වඩා වෙනස් වසවර්ති කියන දිව්‍ය මාර කොටසක්. දැන් මේ විග්‍රහ කරන්න යන්නෙ අන්න ඒ වසවර්ති මාර දිව්‍ය කොට්ඨාශය ගැන.

මෙතන තියෙන විශේෂත්වය තමයි මේ කියන වසවර්ති මාරයත් අර මුලින් සඳහන් කරපු මාර වර්ග හතරෙම ගොදුරක් වීම. ඒ කියන්නෙ මේ වසවර්ති මාරයත් මතු බලාපොරොත්තුවෙන් පුණ්‍ය, පාප කටයුතුවල නිරත වෙනවා. ඒ නිසා කර්ම මාරයාගෙන් යුක්තයි. ඒ වගේම රාග, ද්වේශ, මෝහ ක්ෂය කරල නැති නිසා ක්ලේෂ මාරයාගෙන් යුක්තයි. ඉන්ද්‍රියන් සහ ඒවාට ගෝචර වෙන විපාකයන් තියෙන නිසා විපාක මාරයාගෙන් යුක්තයි. ඊළඟට මේ මාර දිව්‍ය පුත්‍රයත් කවද හරි මරණයට පත් වෙන නිසා මච්චු මාරයාගෙන් යුක්තයි. ඒ නිසා **මේ වසවර්ති මාරයත් තවත් මාරයන් හතර දෙනෙකුගෙ ගොදුරක්.** නමුත් අවිද්‍යාව නිසා ඔහු ඒක පිළිගන්නෙ නෑ. දෘෂ්ටි ගත වෙලා ඉන්නවා. මේ වසවර්ති මාරයා ඇති වෙන්න හේතුව මාර සංයුක්තයේ විග්‍රහ කරල තියෙනවා.



වැඩිදුර විස්තර අවශ්‍ය නම් එතනින් බලාගන්න පුළුවන්.

එතකොට පුද්ගලයෙක් විදියට ගත්තම මාරයා කියන්නෙ දෙවි කෙනෙක්. දිව්‍ය ලෝක අතරින් පරනිම්මිත වසවර්තිය කියන ඉහළම ලෞකික සැප සම්පත් තියෙන දිව්‍ය තලයේ ජීවත් වෙන මේ මාරයා දෙවි කෙනෙක් වෙලත් දුෂ්ට ගති පැවතුම් තියෙන්නෙ ඇයි? මේ වගේ දුෂ්ට ගති පැවතුම් තියෙන කෙනෙක් දෙවියෙක් වෙන්නත්, එච්චර සැප සම්පත් තියෙන දිව්‍ය තලයක උපදින්නත් හේතු මොනවද?

මාර විෂය කියන්නෙ ඇත්තටම කාම රාග විෂයක්. ඒ කියන්නෙ රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ කියන පංචකාම සුවය අග්‍ර කරගෙන යන ගමනක් තමයි මාරයාට තියෙන්නෙ. ''පින් කරගෙන, යහපත් දේ කරගෙන සුචරිතවත්ව කටයුතු කරල මෙච්චර සැප සම්පත්තියක්, සැනසීමක් ලබා ගෙන ඉන්න තැනක් තියෙද්දි, මොකටද මේ ජීවිතේ නිවන් දැකල මෙහෙම ඉවර කර ගන්නෙ ?" මේ දෘෂ්ටියේ තමයි මාරයා ඉන්නෙ. මේ විදියට දෘෂ්ටිගත වෙලා ඉඳගෙන, මේ ලෝකෙ කාල බීල ජීවත් වෙන එක හොඳයි, ප්‍රිය මනාපයි කියල ඒකට අවශ්‍ය කරන්නා වූ හේතුව තමයි මනුස්ස වෙලා ඉඳෙද්දි ගොඩ නගපු සංඛාර. ඒ සඳහා ලෝකයාට උදව් උපකාර කරල, නැති බැරි අයට සලකල, හොයල බලල අඩුපාඩුකම් සකස් කරල දීල, හොඳ සුචරිතවත් වැඩ කරල දීල, මෙන්න මෙහෙම තත්වයකට, තානාන්තරයකට එන්න පුළුවන් ක්‍රමවේදයක් ලෝකයේ තියෙනව කියල දැනගෙන, ඒ ක්‍රමය අනුගමනය කිරීමෙන් මිනිස්සුන්ට දුක් විඳින්න ඕන නැහැනෙ කියල, මනුස්ස වෙලා ඉඳෙද්දි කරගත්තු පුඤ්ඤාභි සංඛාර (සිත, කය සහ වචනය තුළින් සිදු කරන යහපත් දේවල් ) තුළින් හට ගන්න පිං ඵලයෙන් තමයි මේ වසවර්ති මාරයා වෙලා උපදින්නෙ.

පරනිම්මිත වසවර්තිය කියන දිව්‍ය ලෝකයේ ඉන්න ප්‍රාදේශීය දිව්‍ය රාජයෙක් තමයි වසවර්ති මාරයා කියල කියන්නෙ. ඒ වගේම මේ සංඛාරයම වඩපු තවත් විශාල පිරිසක් ඒ හේතුවෙන් වසවර්ති මාර දිව්‍ය පුත්‍රයන් වෙලා පිරිස් වශයෙන් උපදිනවා. ''මෙහෙම ලබාගන්න පිං ඵලයෙන් කොච්චර කාලයක් මම වගේ සැනසිල්ලෙ ඉන්න පුළුවන්ද? මෙහෙම හොඳින් ඉන්න පුළුවන් ක්‍රමයක් ලෝකෙ තියෙන කොට මොකට මේක ඉවර කර ගන්නද?'' මේ විදියට දෘෂ්ටි ගතවීම තමයි මාර දෘෂ්ටිය කියන්නෙ. දැන් මේ දෘෂ්ටිය තියෙන නිසා ඒ අනුසාරයෙන් පුණ්‍ය සංඛාර වඩල තමයි මුලදි මේ මාර දිව්‍ය පුත්‍රයා ඒ තනතුරට, බලයට පත් වෙන්නෙ. ඒ කියන්නෙ කරපු පුණ්‍ය කර්මයට පුණ්‍ය විපාකයක් ලබනවා. පරනිම්මිත වසවර්ති දිව්‍ය තලයේ දිව්‍ය රාජයෙක් වෙලා උපත ලබනවා. ඒ තමයි පෙර කරපු හේතුවේ ඵලය. හැබැයි ඵලය ලැබුවට පස්සෙ මාන්නක්කාර ස්වභාවයක ඉඳගෙන කටයුතු කරනවා. එතකොට යම්කිසි හේතුවක් කඩ වුනොත් තමයි ඊට අදාල ඵලය ලැබෙන්නෙ නැතුව ☞

යන්නෙ. ඒ නිසා මෙතනදි ලබපු ඵලයේ ඉඳගෙනම ඒකට හේතුව කඩ කරල යම් හේතුවක් අලුතින් ගොඩ නගනවා. ඒ කියන්නෙ ඒ දැන් ලබල තියෙන ඵලය නැති කර ගන්න නෙවෙයි, මතුවට ලැබෙන්න තියෙන ඵල නැති කර ගන්න අලුත් හේතු ගොඩ නගනවා.

උදාහරණයක් විදියට කෙනෙකුට පුළුවන් තවත් අයගෙ සහයෝගයෙන්, නැති බැරි අයට උදව් උපකාර කරල දීල, ඒ වගේම තමන් කෙරෙහි අනෙක් අයගෙන් චිත්ත ප්‍රසාදය අරගෙන, ඒ විදියට උදව් උපකාර කරල ලොකු මිනිහෙක් වෙන්න. ලොකු මිනිහෙක් වෙනකල් ඕනෑම පුංචි මනුස්සයෙක් ළඟ වුනත් දණින් වැටෙන්න සූදානම් තත්වයක ඒ පුද්ගලයා ඉන්නවා. හොඳම උදාහරණය තමයි මැතිවරණ කාලයට ඡන්දෙ ඉල්ලන්න එන බොහොමයක් අපේක්ෂකයො. ඕන කෙනෙකුට ඔලුව පහත් කරන්න සූදානම් පිට තමයි ඒ අවස්ථාවෙ ඉන්නෙ. මිනිස්සුත් ඉතින් හොඳ මිනිහෙක්නෙ කියල හිතල ඒ පුද්ගලයා කෙරෙහි ප්‍රසාදයක් ඇති කරගෙන ඡන්දෙ දීල මැති ඇමති කරවනවා. පෙර කරපු පිං ඵලයක් තිබුණ නම් අනන්තරය වශයෙන් ඒකත් ඇදිල ඇවිත් ඒ හේතුවේ ඵලය වශයෙන් පත්වීම ලැබෙනවා. පත් වීම ලැබුණට පස්සෙ මාන්නක්කාරකම වැඩි වෙනවා. ඊට පස්සෙ මනුස්සයෙක් වැඩක් කරව ගන්න ගියාම, තමන්ට උදව් උපකාර කරපු ඒ මනුස්සයොත් හඳුනන්නෙ නැතුව යනවා. උදව් උපකාර කරපු අය අමතක වෙනවා. දැන් ඉතින් මිනිස්සු දත් මිටි කෑවත් කරන්න දෙයක් නෑ. සෑහෙන කාලයකට ඒ මනුස්සයව මන්ත්‍රීකමෙන්, ඇමතිකමෙන් පහ කරන්න බෑ. ලබපු හේතු ඵලය අවුරුදු 5ක් නම්, අවුරුදු 5 යනකල් මුකුත් කරන්න බෑ. ඔය අවුරුදු 5 තුළදි ලෝක සම්මතය තුළ තියෙන ඕනෑම බලපුළුවන්කාරකමක් කරන්න පුළුවන් හැකියාවක් ඒ පුද්ගලයාට ලැබෙනවා. ගමේ ඉන්න තරහ කාරයන්ගෙන් පලි ගන්න වුනත් දැන් ඒ පුද්ගලයාට හැකියාව තියෙනවා. ඕනම අයුතු අසාධාරණකමක් කරන්න වුනත් පුළුවන් තැනක දැන් ඉන්නවා. එහෙම නොකරන අය ඉන්න පුළුවන් වුනත් මේ තමයි පොදු ස්වභාවය. හැබැයි අවුරුදු 5 ඉවර වුනාම අර සෙල්ලම් ඔක්කොම ඉවරයි. එදා මිනිස්සුන්ගෙ හිත දිනාගෙන, හොඳ වැඩ කරල ඡන්දෙ අරගෙන මැති ඇමති වුණා. ඒ තත්වෙට පත් වුනාට පස්සෙ කරපු දේවල්වල, ගොඩ නගපු හේතුවල ඵලය ලැබෙන්නෙ මතුවට.

මේ වගේ හොඳ වැඩ කරල ඒ හේතුවේ ඵලය වශයෙන් වසවර්ති මාර දිව්‍ය පුත්‍රයා බවට පත් වුණා. ලැබිච්ච තානාන්තරයෙන් මත් වෙලා, ඒ තානාන්තරයෙම ඉඳගෙන තමන්ගෙ පක්ෂයට විරුද්ධව වැඩ කරන අයත් එක්ක සටන් කරන්න තමයි දැන් උත්සාහ කරන්නෙ. ඒ අදහසින්ම තමන්ගෙ අදහසට විරුද්ධ වෙන, තමන්ගෙ ක්‍රමයට ජීවත් නොවන බුදු පියාණන් වහන්සේටත් මේ වසවර්ති මාරයා කියනවා, තමන්ගෙ ක්‍රමයට ජීවත් වෙන්න කියල. ''ඔබ වහන්සේ බුදු බව පැත්තකට දාල ලෝකෙට සේවයක් කරන්න, රත්රන් කඳු මවන්න පුළුවන් තරම් සෘද්ධි බලයක් තියෙන ඔබ වහන්සේට සක්විති රජ වෙන්න පුළුවන්'' වසවර්ති මාරයා මේ විදියට බුදුන් වහන්සේටත් කිව්වා. නමුත් ඒ කිසිම දෙයකින් ඵලයක් නැති බව දන්න උන් වහන්සේ ඒවා පිළි ගත්තෙ නැති නිසා, මාර විෂයට නම්මවා ගන්න බැරි වුන නිසා, ඔබ වහන්සේ ඉන්නවට වැඩිය හොඳයි නැති වෙන එක කියල උන් වහන්සේටත්, උන් වහන්සේගෙ ශාසනයටත් හතුරුකම් කරල පවු පුරව ගත්තා. හැබැයි මේ කර ගත්තු පාපය කවදාහරි ගෙවන්නත් සිද්ධ වෙනවා. ඒ කර ගත්තු පාපයේ විපාකයෙන් නෙවෙයි දැන් ඉන්න දිව්‍ය තනතුරට පත් වුණේ. ඒ තනතුරට පත් වෙන්න හේතුව එකක්. එතනින් මතු වැනසෙන්න ගොඩ නගා ගන්න හේතුව තව එකක්. **ලෝකෝත්තර මගට විරුද්ධ වෙන කොට, ඒකෙන් කරගන්න මහ පාපය දැන් තියෙන ලෞකික පුණ්‍ය විපාකය ඉක්මවා යන කාලයක් එනවා.** එතකොට ඒ පුණ්‍ය විපාකය වැනසෙනවා.

මුලින් කර ගත්තා වූ පුණ්‍ය විපාකයේ බලවත්කම නිසාම සාමාන්‍ය මට්ටමේ පවු කළාට එතනින් චුත වෙන්නෙ නෑ. පහළ මට්ටමේ ඉන්න දේව කොට්ඨාශ නම් එකිනෙකා රවා ගත්තත් චුත වෙන අවස්ථා තියෙනවා. ඒ කියන්නෙ ලැබිච්ච අත්තභවේ ශක්තිය, ඒ අත්තභවය රඳවා ගන්න පුළුවන් ශක්තිය (පුණ්‍ය ශක්තිය) බොහොම දුර්වල වුනාම තමයි එහෙම වෙන්නෙ. නමුත් වසවර්ති මාර ශක්තිය කියන්නෙ එසේ මෙසේ එකක් නෙවෙයි. එහෙම පුංචි පාපයක් කරපු පමණින් නැති වෙන අත්තභවයක් නෙවෙයි. පෙර කරපු පින් දහම්වලින් ගොඩ නගා ගත් මහා බලයක් තියෙනවා. පින් දහම්වල ප්‍රතිඵලය එහෙම වුනාට මේ මාර දෘෂ්ටිය කියන්නෙ මෙහෙම දෙයක්. ''මෙච්චර සැප සම්පත් තියෙන ලෝකෙ මොකටද නිවන් දැකල ජීවිතේ ඉවර කර ගන්නෙ ? කොච්චර නම් ආස්වාද ලබන්න පුළුවන්ද? පංචකාම ආස්වාද ලබල කොච්චර සැනසිල්ලෙ ඉන්න පුළුවන් තැනක්ද? මෙච්චර සැප සම්පත් තියෙන කොට මොන දුකක්ද?'' මේ තමයි මාර දෘෂ්ටිය. ලෞකික වූ මේ දෘෂ්ටිය මිත්‍යා දෘෂ්ටියක් නෙවෙයි. හැබැයි අවිද්‍යාවෙ දෘෂ්ටියක්. නමුත් ඒ දෘෂ්ටියේ තියෙන භයානකකම මාරයා දන්නෙත් නෑ.

වතාවක් මුගලන් මහරහතන් වහන්සේ සක්මන් කරමින් ඉන්න වෙලාවක, මේ වසවර්ති මාරයා උන් වහන්සේගෙ බඩට රිංග ගත්තා. බඩේ පැත්තක් බර වෙලා, හිර වෙලා තියෙන බව උන් වහන්සේට දැනුණා. උන් වහන්සේ ඒකට හේතුව බලන කොට දිවැසින් දැක්කා, වසවර්ති මාරයා බඩට රිංග ගෙන ඉන්න බව.

දැන් කෙනෙකුට ප්‍රශ්නයක් එන්න පුළුවන්, මේක මහ සුරංගනා කතාවක්නෙ! ඕක වෙන්න පුළුවන් දෙයක්ද කියල. මොකද කෙනෙක්ගෙ බඩට තවත් නොපෙනෙන කෙනෙක් රිංගනව කියන එක දහමට වඩා විද්‍යාවට තැන දීල තියෙන බොහෝ අය පිළිගන්නෙ නෑ. නමුත් විද්‍යාවට අහු නොවෙන ගුප්ත ලෝකයේ සිද්ධ වෙන මේ වගේ දේවල් අනන්තවත් තියෙනවා. **සියුම් කිරණමය කයක් තියෙන අමනුස්ස, දේව ආදී කොටස්වලට, ඒ කිරණමය කය අවශ්‍ය ආකාරයට හසුරුවාගෙන තවත් කෙනෙක්ගෙ ශරීරයට රිංග ගන්න එක මහ ලොකු දෙයක් නෙවෙයි.**

දැන් තමන්ගෙ බඩට රිංග ගත්තු බව දැකපු මුගලන් මහරහතන් වහන්සේ මාරයාට මෙහෙම කියනවා ''මාරය, මම උඹව දැක්කා, බුද්ධ ශ්‍රාවකයන්ට කරදර නොකර එළියට වරෙන්''

දැන් මාරයා උන්වහන්සේගෙ බඩ ඇතුලෙ ඉඳගෙන මෙහෙම හිතනවා. ''භවත් ගෞතමයන් වහන්සෙත් මාව ආවර්ජනා කරල බලලයි දැන ගන්නෙ, මම ආපු සැණින් දැන ගන්නෙ නෑ, ඒත් එතුමගෙ ශ්‍රාවකයෙක් වන මුගලන් මම ආපු ගමන්ම දැන ගත්තෙ කොහොමද?'' මේ විදියට හිතල සද්ද නොකර බඩටම වෙලා හිටියා.

ඊට පස්සෙ මුගලන් මහ රහතන් වහන්සේ නැවතත් මෙහෙම කියනවා. ''මාරය, මම නුඹව දැකල ඉවරයි. මගෙන් හැංගෙන්න උඹට බෑ. ඒ නිසා කරුණාකර එළියට වරෙන්''

මුගලන් මාව දැකල ඉවරයි, ඒ නිසා එළියට යනව කියල මාරයා උන් වහන්සේගෙ කටින් එළියට බැහැල ගියා. එළියට ඇවිත් දොරකඩ ළඟ හිට ගත්තා.

ඊට පස්සෙ මුගලන් මහ රහතන් වහන්සේ මාරයාගෙන් මෙහෙම අහනවා. ''ඔබ දන්නවද ඔබට කලින් ඔය තානාන්තරයෙ හිටියෙ කවුද කියල? ඔබ අහල ඇති, දන්නව ඇති, ඔබේ මාම කෙනෙක් හිටිය දූසී කියල. ඒ දූසී මාරයා තමයි ඔබට කලින් මේ තානාන්තරයෙ හිටියෙ''

එතකොට මාරයා තමන් ඒ බව දන්නව කියල පිළිතුරු දෙනවා.

මුගලන් මහ රහතන් වහන්සේ නැවතත් අහනවා, ඒ දූසී මාරයට මොකද වුනේ කියල ඔබ දන්නවද කියල. ඒ බව නොදත් මාරයාට මේ විදියට ඒ ගැන පැහැදිලි කිරීමක් කරනවා.

කාශ්‍යප බුදු රජාණන් වහන්සේ ලොව පහළ වෙච්ච සමයේ දූසී මාරයා තමයි ඔබ දැන් ඉන්න තානාන්තරය දැරුවෙ. මේ කාලයේ දිනක් කාශ්‍යප බුදුන් වහන්සේ ශ්‍රාවකයින් සමග වඩින කොට, මේ දූසී මාරය ළමයෙකුට සම්බන්ධ වෙලා ඒ මාර්ගයෙන් උන්වහන්සේට ගල් කැටයකින් ගැහුවා. ඒ ගල් කැටය කාශ්‍යප බුදුන් වහන්සේගෙ පිටුපසින් වැඩපු ශ්‍රාවකයන් වහන්සේ නමකගෙ හිසේ වැදිල හිස පුපුරල ලේ ගැලුවා. මේ සිද්ධිය කාශ්‍යප බුදුන් වහන්සේ බුදු ඇසින් ආවර්ජනය කරල බලන කොට මේක දූසී මාරයගෙ වැඩක් බව දැක්කා. එහෙම දකල, දූසී මාරයා පමණ ඉක්මවා ගියා කියල ප්‍රකාශ කළා. දන් මේක මාර තානාන්තරය දරා ගෙන ඉන්න බැරි තරම් පාපයක් නිසා, ඒ මොහොතෙම මාර අත්බැවෙන් චුත වෙලා අපායෙ (ඔසුපත් නරකයක) උපත ලැබුවා. එතැන් පටන් සෑහෙන කාලයක් අපායෙ දුක් විඳල මනුස්සයෙක් වශයෙන් ඉපදිලා ගෞතම බුද්ධ ශාසනයෙදි මහණ වුණා. ඊට පස්සෙ අග්‍ර ශ්‍රාවක තත්වයටත් පත් වුණා. ඒ විදියට ඔබේ මාමා වෙලා ඉපදිලා, බුද්ධ ශ්‍රාවකයෙකුට ගලකින් ගහල මහ පාප කර්මයක් කර ගත්ත ඒ දූසී මාරයා තමයි ඒ අත් බැවේ මේ මම. ඒ නිසා නුඹත් බුද්ධ ශ්‍රාවකයෙකුට හිංසා කරල මට වෙච්ච දේ කර ගන්න එපා කියල පැහැදිලි කරල දුන්නා. මේ කතාව අහපු මාරයා සංවේගයට පත් වෙලා අතුරුදන් වුණා.

එතකොට මේ මාර තානාන්තරය වසවර්ති මාරයාට කලින් දූසී නමින් දරා ගෙන හිටියෙ මුගලන් මහ රහතන් වහන්සේ. නමුත් උන් වහන්සේ ඒ අත්භවයෙදි මේ මාර තානාන්තරය දරා ගෙන ඉඳල ඒකෙන් චුත වෙලා, අපාගත වෙලා නැවත මනුස්ස අත්භවයක් ලබල බුද්ධ ශ්‍රාවකයෙක් වුනාට පසුවත්, පෙර බුද්ධ ශ්‍රාවකයින්ට හිංසා කරපු පාප කර්මයේ ශේෂ වෙච්ච කර්ම විපාකය නිසා දන් ඉන්න වසවර්ති මාරයා උන් වහන්සේගෙ බඩට රිංග ගන්න හේතු වුණා. ඒකත් හේතුවේ ඵලයක්. ඒ කියන්නෙ හේතු නැත්නම් කෙනෙක්ගෙ ශරීරයට එහෙම රිංග ගන්න බෑ. මුගලන් මහ රහතන් වහන්සේට කර්ම විපාකයක් ඵල දෙන්න තිබුණ නිසා තමයි ඒ වගේ මොහොතකට හරි මාරයාට උන් වහන්සේගෙ ශරීරයට රිංග ගන්න පුළුවන්කම ලැබුනෙ. ඒ කියන්නෙ අරිහත්වයට පත් වුණත්, ගෙවන්න තියෙන ශේෂ කර්ම විපාක ගෙවන්න වෙනවා.

එහෙනම් මාරය වෙලා ඉපදෙන්නෙ, ඒ පදවිය ලබන්නෙ, පෙර කරගත්තු පුණ්‍ය ක්‍රියාවලින්. නමුත් ඒ පදවියේ ඉඳල පංච කාමයට වහල් වෙලා තමයි ඊළඟට වැඩ කටයුතු කරන්නෙ. පංච කාමයට මත් වෙලා වහල් වුනාම නීවරණ ඇති වෙනවා. නීවරණ නිසා හිත් වැහෙනවා. කාමඡන්දයට බැඳුනම හිත අන්ධ වෙනවා. සත්‍යය වැහිල යනවා. නමුත් සත්‍යය වැහිල යන්නෙ, අර පෙර කරපු පුණ්‍ය කර්මවලින් නෙවෙයි, (වසවර්ති මාර පුත්‍ර කියන) තානාන්තරය ලැබුනට පස්සෙ කරගන්න පාප කර්මවලින්. ඒ අත්බවේ ඉන්නකල් ඇත්ත නොපෙනෙන නිසා පාප ක්‍රියාවන්ට යොමු වෙනවා. ඒ විදියට පවු වැඩවලට යොමු වුනොත් නැවතත් අපාගත වෙන්න පුළුවන්.

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ:*

**ප්‍රසාද් ද සිල්වා**
**පරිපාලන නිලධාරී**
**ශ්‍රී ලංකා පරිගණක හදිසි ප්‍රතිචාර සංසදය**

# මගට උගුල

**පෙම්බර මගේ වස්තුව රන් කඳ කියලා**
**ගෙම්බර දමා ගෙන යන කුණු කඳ දැකලා**
**ගින්දර වගෙයි මේ බලපල්ලා කියලා**
**සුන්දර ලොවක් මැවූ හැටි මිනිසුන් මෙකලා**

**ඇට කටු ගොඩක් පිට සමකින් වසා ගෙන**
**රෙදි පිළි පොරව ගෙන පිට ඔප දමා ගෙන**
**සාරයි කියල උඩ පැනගෙන බදා ගෙන**
**මාරයි කියල ගෙන යයි කර තියා ගෙන**

**මොනවද ගන්න හරයක් මේ තුළ ඇත්තේ**
**පෙන පිඬුවක් වගේ දෙයකුයි මේ ඇත්තේ**
**හැඩයට පාටටයි මේ රැවටී ඇත්තේ**
**තෝරා ගන්න එතනයි සැනසුම ඇත්තේ**

**බඳවා තොරණ කැන්දා ගෙන යන්න වටී**
**කියලා කුණු කයක් කර ගහ ගන්න හැටී**
**නිවනේ මගට උගුලක් ඇද ගන්න හැටී**
**වැහැරී නැසෙන දිවි ගෙවමින් ඉන්න හැටී**



පබැඳුම: **මුරුතමුරේ ධම්මින්ද හිමි**

# ගති ගුණ, ගති හඬ සහ ගති රුව අතර සම්බන්ධය නවීන විද්‍යාව තුළින්...

*(පසුගිය කලාපයෙන් - ගති ගුණ, ගති හඬ සහ ගති රුව අතර සම්බන්ධය..)*

ගති ගුණ, ගති හඬ සහ ගති රුව අතර දහමට අනුව තියෙන අන්‍යොන්‍ය සම්බන්ධය පසුගිය කලාපයෙන් පැහැදිලි කළා. මේ කාරණය ඒ වචනවලින්ම නැතත් වෙනත් විදියකට නවීන විද්‍යාවෙන් පවා ප්‍රායෝගිකව ඔප්පු කරල තියෙනවා. නවීන විද්‍යාවෙන් ඒ කාරණය අද ඊයෙ ඔප්පු කළාට, මීට අවුරුදු දහස් ගණනකට පෙර බුදුන් වහන්සේ ඒ කාරණය ලෝකයට හෙළි කරල තිබුණා. නමුත් සියල්ල නවීන විද්‍යාවෙන්ම තීරණය කරන්න උත්සාහ කරන කාලයක ඒ කාරණයත් සැඟවිලා තියෙනවා. හැබැයි බුදු දහමේ පෙන්වන මේ කාරණය නවීන විද්‍යා පර්යේෂණවලට සම්බන්ධ කරල පෙන්වන කොට, ඒ කරුණු කාරණා හදාරන පින්වත් පිරිස්වලට මේ දහම තේරුම් ගන්න පහසු වෙනවා. මේ ලිපියෙන් කරන්නෙ ඒ සම්බන්ධව කරුණු හෙළිදරව් කිරීමක්. හැබැයි **හඳේ හාවො ඉන්නවයි කියල පිළිගන්න උදවියටයි, සිංහ කියන තිරිසන් සතෙක්ගෙන් සිංහලයො බිහි වුනයි කියල පිළිගන්න උදවියටයි මේ හෙළිදරව් කිරීම නොතේරෙන්න පුළුවන්.** මොකද ඒ වගේ දෘෂ්ටියකින් එහා ගිය ප්‍රඥා ගෝචර ක්‍රමයක් තමයි මේ හෙළි කරන්නෙ.

විද්‍යාවෙ පෙන්වනවා අනුනාදය කියල වචනයක්. ඒ කාරණය දහමින් පැහැදිලි කරනව නම්, යමක ගති ගුණ අනුව ගති රුව නිර්මාණය වීම තමයි අනුනාදය කියන්නෙ. උදාහරණයක් විදියට යම්කිසි පාලමක් ගත්තොත්, ඒ පාලමට අදාල යම්කිසි සංඛ්‍යාතයක් තියෙනවා. ඒ වගේම ඒකට නියමිත යම්කිසි හැඩයක් තියෙනවා. එතකොට යම්කිසි සෙබළු කණ්ඩායමක් ඔය පාලම උඩින් සරඹ කර කර ගියොත් ඒ තුළින් වෙනම සංඛ්‍යාතයක් ගොඩ නැගෙනවා. එතනින් එන ඒ අළුත් සංඛ්‍යාතය අර පාලමේ ස්වභාවික සංඛ්‍යාතයට සමාන වුනොත් ඒක පාලමට දරන්න බැරිව කඩා වැටෙනවා. ඒ නිසා පාලමේ ස්වභාවික ගති රුව හෙවත් හැඩය වෙනස් වෙලා අළුත් ගති රුවක් නිර්මාණය වීමෙන් ඒක කඩා වැටෙනවා. ඒ වගේම සරඹ කරද්දි මේ සංඛ්‍යාතය හෙමින් හෙමින් වැඩි වෙලා උපරිමයටම යන අවස්ථාවක් එනවා. එතකොට ඒ සංඛ්‍යාතය අභිබවන්න පාලමේ හැඩයට හෙවත් ගති රුවට නොහැකි වීම නිසා තමයි පාලම කඩා වැටෙන්නෙ. පාලමේ ස්වභාවික සංඛ්‍යාතයයි, සරඹ කරන සංඛ්‍යාතයයි එක්තරා මොහොතක සමාන වුනාම, ඉස්සෙල්ලම බොහොම පොඩියට තමයි පාලම කම්පනය වෙන්න පටන් ගන්නෙ. ඒ කියන්නෙ පාලමේ හැඩය වෙනස් වෙන්න පටන් ගන්නවා. ඒක උපරිමයටම පැද්දෙන කොට තමයි පාලමේ අංශු සකස් වෙලා තියෙන හැඩය ඒ විදියට දරා ගන්න බැරිව පාලම කඩා වැටෙන්නෙ.

දැන් මේ විදියට හුළඟට කඩා වැටුණු පාලමක් තමයි ටැකෝමා පාලම කියන්නෙ. Collapsing of Taccoma




Bridge කියල අන්තර් ජාලයේ You Tube එකේ සෝදිසි කළාම, මේ සිද්ධිය චලනය වෙන රූප රාමු පෙළකින් බලාගන්න පුළුවන්. එතකොට මේ ක්‍රමය යොදාගෙන කරන පර්යේෂණයකදි පාලමක් පොඩියට හදල, කෘතිමව හුළඟක් ඒක හරහා යවල කඩා වැටෙනවද කියල පරීක්ෂා කරල බලනවා. ඒ කියන්නෙ පාලමේ ගති රුව හෙවත් හැඩයට අදාල ගති ගුණය හෙවත් සංඛ්‍යාතය, අර සුළඟේ කම්පනය නිසා වැඩි වෙලා ඒකට ඒ හැඩය දරන්න බැරි අවස්ථාවක් එනවා. එතකොට තමයි කඩා වැටෙන්නෙ. ඒ කියන්නෙ යම්කිසි ගති රුවකට අදාල සංඛ්‍යාතයක් හෙවත් ගති ගුණයක් තියෙනවා. ගති ගුණය හෙවත් සංඛ්‍යාතය වෙනස් වෙන කොට ඒකට අදාල ගති රුවත් ඒ අනුව වෙනස් වෙනවා. එහෙම වෙනස් වෙන්න නම්, වෙනස් සංඛ්‍යාතයකින් එක්තරා වේගයකින් ඒක කම්පනය වෙන්න ඕන. ඒ කම්පනයෙන් පාලමේ සංඛ්‍යාතය වෙනස් කරන්න බැරි නම් ඒක කඩා වැටෙන්නෙ නෑ.

මේ කාරණය ඔප්පු කරල පෙන්වපු තවත් තැනක් උදාහරණ විදියට පෙන්වන්න පුළුවන්. එතනදි වතුර බොන වීදුරුවක් ඉදිරියේ කාන්තාවක් තීව්‍ර හඬින් ස්වර ගායනා කරන කොට ඒ ස්වර ක්‍රමයෙන් තීව්‍ර වෙලා එක්තරා අවස්ථාවකදි, ඉදිරියේ තියෙන වීදුරුව බිඳෙනවා. අවශ්‍ය අයට මේ කාරණයත් අන්තර් ජාලයේ glass breaking with voice යනුවෙන් සටහන් කර සෝදිසි කරල බලන්න පුළුවන්.

දැන් නවීන විද්‍යාවෙන් මේ සම්බන්ධව සංඛ්‍යාත උත්පාදක උපකරණ (Tone Generator) යොදා ගෙන කරපු පර්යේෂණ තියෙනවා. ඒකෙදි ඒ යන්ත්‍රයෙන් තමයි විවිධ සංඛ්‍යාත නිපදවන්නෙ. අවශ්‍ය ප්‍රමාණයට සංඛ්‍යාතය අඩු වැඩි කර ගන්න ඒකෙන් පුළුවන්. ඒකට ශබ්ද වාහිනී යන්ත්‍රයක් (Speakers) හයි කළාම, ඒ සංඛ්‍යාතයට හෙවත් ගති ගුණයට අදාල ගති හඬක් නිකුත් වෙනවා. ඊළඟට මේ ශබ්ද වාහිනී යන්ත්‍රයට යම් කිසි තැටියක් සවි කරනවා. ඒ තැටියට, බොහොම පහසුවෙන් එහෙ මෙහෙ චලනය වෙන මොනව හරි අංශු වශයෙන් තියෙන පිටි වගේ ද්‍රව්‍ය පදාර්ථයක් දමනවා. දැන් ඊට පස්සෙ සංඛ්‍යාත උත්පාදක යන්ත්‍රයට යම්කිසි සංඛ්‍යාතයක් දීල ක්‍රියාත්මක කරනවා. එතකොට ඒ සංඛ්‍යාතයට අදාල ගති හඬක් අර ශබ්ද වාහිනී යන්ත්‍රයෙන් ඇහෙනවා. ඊළඟට ඒ ශබ්ද කම්පනයෙන් ඒ හඬට අදාල යම් කිසි ගති රූපයක් අර තැටිය මත අංශුමය ද්‍රව්‍ය පදාර්ථවලින් යම් කිසි රටාවකට නිර්මාණය වෙනවා. උදාහරණයක් විදියට සංඛ්‍යාතය 25 Hz ක් නම් ඒකට අදාල හඬක් අර ශබ්ද වාහිනී යන්ත්‍රයෙන් නිකුත් වෙනවා. ඒ වගේම ඒකට අදාල යම් කිසි ගති රුවක් හෙවත් හැඩ තලයක් අර අංශු පදාර්ථ කම්පනය වීම නිසා තැටිය මත නිර්මාණය වෙනවා. එතකොට මේ සංඛ්‍යාතය අවශ්‍ය විදියට අඩු වැඩි කරන්න පුළුවන්. ඒ සංඛ්‍යාතය වෙනස් කරන කොට ඊට අදාල ගති හඬත්, ගති රුවත් කියන දෙකම ඒත් එක්කම වෙනස් වෙනවා. ඒ කියන්නෙ කලින් තිබ්ච්ච ශබ්දයට වඩා වෙනස් ශබ්ද, වෙනස් රූප රටාවන් මතු වෙනවා.

උදාහරණ විදියට සංඛ්‍යාතය 25 Hz සිට 200, 500 ආදී ලෙස වැඩි කරගෙන යන්න පුළුවන්. ඒ අනුව අපේ කනට ඇහෙන ශබ්දයත් වෙනස් වෙනවා. අර තැටිය මත පදාර්ථ අංශු මගින් හට ගන්නා විවිධ හැඩතලත් දිස් වෙනවා. ඔහොම ගිහින් සංඛ්‍යාතය 20000 Hz ☞

පැන්නොත් ඒ ශබ්දය අපේ කනට ඇහෙන්නෙ නෑ. මොකද මනුස්සයින්ගෙ සාමාන්‍ය මස් ලේ කනකට ඇහෙන්නෙ 20 - 20000 Hz අතර තියෙන සංඛ්‍යාත විතරයි. නමුත් ඊට අනුකූලව තැටිය මත හටගන්න විවිධ රූප රටාවන් අපිට දකින්න පුළුවන්. අපිට ඇහෙන්නෙ නැති වුනාට රූප පේනවා. ඒකත් සංඛ්‍යාතය අනුව වෙනස් වෙනවා. මේ සංඛ්‍යාතය සම්බන්ධ වෙන්නෙ ගති ගුණයට. ඒ ගති ගුණයට අනුවම තමයි අර හඬයි, රූපයයි නැගෙන්නෙ.

උදාහරණ විදියට යම්කිසි සංඛ්‍යාතයකදි ඒකෙ ගුණය රවුම් නම්, ඒ රවුම් ගුණයට අදාල හඬක් නිකුත් වෙනවා. එතකොට ඒකට අදාල ගති රුව තමයි අර තැටිය මත අංශුවලින් ඇහැට පේන්න තියෙන රවුම් රූපය. දැන් ඊළඟට සංඛ්‍යාතය වෙනස් කරන කොට හඬත් වෙනස් වෙලා, අර තැටිය මත ඉලිප්සාකාර රූපයක් හැදෙනවා. දැන් ගති ගුණය ඉලිප්සාකාරයි. ඒකට අදාල ගති රුව තමයි ඉලිප්සාකාර හැඩයට දැන් තැටිය මත දිස්වෙන්නෙ. එතකොට රවුමක් හැදුනම ඒකට තියෙන ගති ගුණයි, ඉලිප්සයක් හැදුනම ඒකට තියෙන ගති ගුණයි දෙකක්. ඒ තමයි රවුම් ගුණය සහ ඉලිප්සාකාර ගුණය. ඒ ගුණයන්ට අදාල හඬත්, රූපත් වෙනස්. ගති ගුණ අනුව ගති හඬ සහ ගති රුව වෙනස් වෙනවා. ඒ වගේම ඒකට තියෙන කේන්ද්‍රාපසාරී බලය, ගුරුත්ව කේන්ද්‍රය ආදී හැම ගුණයක්ම එකිනෙකට වෙනස් වෙනවා. බොහොම කෙටි වෙලාවක් ඇතුලත මේ සංඛ්‍යාතය ඉතා ඉක්මනින් වෙනස් කරන කොට, අධි වේගවත්ව සිදු වන මේ ද්‍රව්‍ය පදාර්ථ අංශුවලින් හැදෙන රූපයේ හැඩය සහ හඬේ වෙනස්වීමත් දැන ගන්න පුළුවන්. ඒ වගේම 20 Hz තිබිල 100 Hz දක්වා වැඩි කරන කොට හඬයි, රූපයයි වෙනස් වෙලා නැවතත් 20 Hz ට ගෙනාවම අර කලින් 20 Hz දි තිබිච්ච හඬ සහ රූපයම නැවත ලැබෙනවා. ඒකෙන් පැහැදිලි වෙනව මේ හැම සංඛ්‍යාතයකටම / ගති ගුණයකටම අදාල ආවේණික ගති හඬක් සහ ගති රුවක් තියෙන බව. ඒක ඒ සංඛ්‍යාතයට ආවේණිකයි.

ඒ වගේම කලින් තැටිය ඉවත් කරල ඊට වඩා ලොකු තැටියක් තියල, ඊට වඩා වැඩි අංශු පදාර්ථ ප්‍රමාණයක් දාල, කලින්ට වඩා ලොකු සංඛ්‍යාත උත්පාදක යන්ත්‍රයකින් අදාල සංඛ්‍යාතයම දුන්නත්, ඒත් අර කලින් නිකුත් වෙච්ච හඬ සහ නිර්මාණය වෙච්ච රූපය වෙනස් වෙන්නෙ නෑ. ඒ වගේම ඊට වඩා කුඩා තැටියක් අරගෙන පදාර්ථ අංශු තවත් අඩු කරල, කුඩා යන්ත්‍රයකින් අදාල සංඛ්‍යාතයම දුන්නත් ඒත් අර කලින් ලැබිච්ච හඬ සහ රූපයමයි ලැබෙන්නෙ. ඒ කියන්නෙ ගති ගුණය හෙවත් සංඛ්‍යාතය කෙළින්ම ගති හඬට සහ ගති රුවට සම්බන්ධයි. උපකරණවල ලොකු කුඩා බව අනුව ඒක තීරණය වෙන්නෙ නෑ. ඒක තමයි මේක ඇතුලෙ තියෙන විද්‍යාව. එක මොහොතකට අදාල ගති ගුණ, ගති හඬ, ගති රුව කියන මේ කාරණා 3 එකිනෙකට සම්බන්ධයි, වෙන් කරන්න බෑ.

මේ සිද්ධියට කෙලින්ම උදාහරණ පෙන්වන්න පුළුවන් එක්තරා අධිසංවේදී මයික්‍රෆෝන් වර්ගයකුත් තියෙනවා. ඒ මයික්‍රෆෝනය ඇතුලෙ විදුලිය එහා මෙහා යවන්න පුළුවන් එක්තරා අංශු වර්ගයක් තියෙනවා. ඒ හරහා කුඩා විදුලි ධාරාවක් යන්න සලස්වල තියෙනවා. කෙනෙක් කතා කරන කොට ඩයෆ්‍රම් එක (ප්‍රාචීරය) කම්පනය වීමෙන් ඒ අනුව අර අංශු හැඩගැහෙනවා. එතකොට ඒ පුද්ගලයගෙ හඬ අනුව තමයි ඒ අංශු හැඩ ගැහෙන්නෙ. ඒ අංශු අතරින් විදුලිය යන කොට අනුකූල හඬ නිකුත් වෙනවා. එතකොට මෙතනදි ඒ කතා කරන පුද්ගලයගෙ ඒ අවස්ථාවෙ මානසිකත්වය තමයි ගති ගුණය වෙන්නෙ. ඊට අදාල ගති හඬ තමයි පුද්ගලය කතා කරන කොට ඒකෙන් නිකුත් වෙන්නෙ. ගති රුව කියන්නෙ ඒ අවස්ථාවෙදි අර අංශුවල ඇති වන හැඩ ගැසීම. එතකොට ගති ගුණ, ගති හඬ, ගති රුව කියන කාරණා 3 ම මේ මයික්‍රෆෝනයෙත් සිද්ධ වෙනවා.



දැන් මේ විදියට යම් කිසි පුද්ගලයෙක් ගත්තත් ඒ පුද්ගලයට හිමි කම්පන සංඛ්‍යාතයක් තියෙනවා. ඒ වගේම ඒ පුද්ගලයගෙ ඔළුව, කන, නාසය, මුහුණ, අතපය ආදී ඉන්ද්‍රියන් ගත්තම, ඒවටත් වෙන වෙනම කම්පන සංඛ්‍යාතයන් තියෙනවා. ඒව ඔක්කොම එකට එකතු වෙලා තමයි ඒ පුද්ගලයට හිමි තනි සංඛ්‍යාතයක් හැදෙන්නෙ. විවිධ සංඛාර ගොඩ නගන කොට මනසෙ හට ගන්න ගති ගුණයන්ට අනුව ඒ කම්පන සංඛ්‍යාතයත් වෙනස් වෙනවා. මේ කාරණය හරියටම භෞතික විද්‍යාවෙන් උපකරණ යොදල පරීක්ෂා කරල බලන්න පුළුවන් නම්, යම් කිසි පුද්ගලයෙක් බලු වැඩක් කරන කොට බලු රුව ඔහු තුල නිර්මාණය වෙන්න ඕන. ඒ මට්ටමේ ගුණයන්ට අනුව ගති රුවක් මැවෙන්න ඕන. හැබැයි මනුස්ස කය එකපාරටම, ජීවත් වෙලා ඉඳෙද්දි බලු කයක් බවට පත් වෙන්නෙ නෑ. ඒ වෙලාවෙදි මනුස්සයගෙ ඇස්ට්‍රල් බොඩි හෙවත් සූක්ෂම කයින් ඒ විදියෙ බලු ගතියට අදාල ගති රුවක් හැදෙනවා. ඒ ගති ටික හදල, බලු රූප හදල ඊට පස්සෙ ඒ විදියට ඉඳල මරණාසන්න අවස්ථාවට පත් වුනාම, අර ඔක්කොම ගති ටික ඇදල ඇවිත් බලු රුවක් නිර්මාණය වෙනවා. ජීවත් වෙලා ඉඳෙද්දි ඒක අභ්‍යන්තරයෙන් නිර්මාණය වෙනවා.

තවත් ධර්මානුකූලව පහදනව නම්, කෙනෙක් කර්මයක් කරන කොට ඉස්සෙල්ලම චිත්තජ රූපයක් මැවෙනවා. ඒ චිත්තජ රූපය තමයි පටිසන්ධියකින් පස්සෙ නැවතත් චුතියක්, පටිසන්ධියක් එනකල් ලැබෙන්නෙ. මේ චිත්තජ රූපවලට සහජාත කර්ම කියලත් කියනවා. ඊළඟට පටිසන්ධි මොහොතෙදි ලැබෙන්නෙ නානාක්ෂණික කර්ම. ඒවායින් බලය අරගෙන, ඊළඟට කර්මජ රූපයක් ගොඩ නැගෙනවා. ඒක ගොඩනැගෙන්නෙත් චිත්තජ රූපයට අනුකූලවමයි. ඒකෙන් තමයි ඉස්සෙල්ලම බලු රූපය හිතින් ගොඩ නැගිල ඊළඟ සැරේ කර්මජ වශයෙන් ගොඩ නැගෙන්නෙ.

මේ කාරණය ඊට මෙහා මට්ටමකින් තේරෙන විදියට රාග, ද්වේශ, මෝහවලින් විග්‍රහ කරන්න පුළුවන්. උදාහරණ විදියට කෙනෙක් තවත් කෙනෙක් එක්ක බොහොම වෛරයෙන්, කේන්තියෙන් ඉන්නවා. ඒ වගේ වෙලාවකදි ඒ පුද්ගලය අනෙක් කෙනාගෙ අතින් ඇල්លුවොත් එහෙම ඔහුට ඒක ඉවස ගන්න බෑ, හරි අමාරුයි, හිතට වේදනයි. එතකොට ඒ වෙලාවෙදි ඒ පුද්ගලයගෙ ගති රුවත් ඊට අනුව වෙනස් වෙනවා. ඒ වගේම අර වෛරයෙන් ඉන්න වෙලාවෙදි ඒ පුද්ගලය වචන කතා කළොත් එහෙම හඬත් බොහොම සැඩ පරුෂයි. බොහොම රෞද්‍ර විදියට හැසිරෙන්නෙ. ඒ කියන්නෙ පුද්ගලයගෙ සම්පූර්ණ ක්‍රියාකාරීත්වයම වෙනස් වෙනවා. ඒක උපරිම වුනොත් ඇඟත් හපා කන්න පුළුවන්. කිසි ගානක් නෑ. කේන්ති ගිහිල්ල මනුස්සයො මනුස්සයො හපා ගන්න එහෙම අවස්ථාත් මේ මනුස්ස ලෝකෙ තියෙනවා. හැබැයි ඒ පුද්ගලය තමන් එක්ක තියෙන තරහ අමනාපකම් අත් හැරල සමගි වුනොත්, අර ගතිය වෙනස් වෙලා ගති හඬත්, ගති රුවත් ඒ අනුව වෙනස් වෙනවා. මේ මුල් කාරණයම අනිත් පැත්ත ගත්තොත් ඒ පුද්ගලය කෙරෙහි රාග සිතක් නැගුනොත්, දැන් අතින් ඇල්លුවත් හරි ආස්වාදයි. හැබැයි අර කලින් තිබිච්ච අතමයි. ඒක වෙනස් වුනේ නෑ. දැන් ඒ අතින් ඇල්ලුවම හරි සනීපයි. ඒ වගේම ඒ වගේ වෙලාවට කතා කරන හඬත් බොහොම මෘදුයි. හැබැයි අර වගේ තරහ ගිහින් ඉන්න වෙලාවට අතින් ඇල්ලුවොත් රිදෙනවා. හරි අමාරුයි.

එතකොට යමක නිරුක්තිය කියන්නෙ යම් ඵලයක් පෙන්වන වචනයකින් ඒ ඵලය හැදුණු ආකාරය අර්ථවත්ව පෙන්වීම. උක්තයෙන් නිර්ණය වන දේ නිරුක්තියයි කියල කිව්වෙත් ඒකම තමයි. උදාහරණ විදියට හරක කියන වචනය ගත්තොත් ඒක සංඛ්‍යාත කිහිපයක එකතුවක්. හරය කා දැමීම නිසා හරක වෙනවයි කියන්නෙ සංඛ්‍යාත එකතුවක්. වෙනත් විදියකින් කියනව නම් රූප එකතුවක්. හඬත් එහෙමයි. එහෙනම් හඬක් කියල කියන්නෙ යම් සංඛ්‍යාත එකතුවක් නම්, එක වචනයක් කියන්නෙ සංඛ්‍යාත කිහිපයක සම්පිණ්ඩනයක්. මොකද හැම වචනයකම හැම අකුරකටම සංඛ්‍යාතයක් තියෙනවා. ඒ අකුරු ශබ්ද කරන කොට තමයි වචනය හැදිල හඬ එන්නෙ. අකුරු කියන්නෙ පස්සෙ හදාගත්තු දෙවන පෙළ ඒවා. ඒ නිසා මේ හෙළිදරව් කිරීම අකුරු, ව්‍යාකරණ ආදී භාෂා රීති ඉක්මවා ගිය ක්‍රමයක්. ඒ නිසා භාෂා ව්‍යාකරණ ආදියේ එල්බගෙන ඉන්න අයට මේ හෙළිදරව් කිරීම වහ කදුරු වගේ වෙන්න පුළුවන්. දැන් එක එක සංඛ්‍යාතවලට අදාල රූප තියෙනව නම්, මේ සංඛ්‍යාත සමූහයේ එකතුවක් කියන්නෙ රූප සමූහයක එකතුවක්. අන්න ඒ සංඛ්‍යාත සමූහය එකතු කරන්න පුළුවන් නියමයක් ගණිතයේ තියෙනවා. ඒකට කියන්නෙ පූරියසීරිස් කියල. සංඛ්‍යාත එකතු කරනවයි කියන්නෙ ගති සමූහයක් එකතුවීම. විවිධ සංඛ්‍යාතවලට අදාල රූප විවිධාකාරයි. මේ සංඛ්‍යාත එකතු කළාම අලුත් දෙයක් නිර්මාණය වෙනවා.

උදාහරණ විදියට හරක කියන වචනය ගත්තොත්, හරය කා දමනවා කියන සංඛාරයෙන් තමයි ඒක ගොඩ නැගෙන්නෙ. ඒ සංඛාර ගොඩ නගන කොට ඒ පුද්ගලයගෙ ඊට අදාල ගති රුවක් ගොඩ නැගෙනවා. මනුස්ස වෙලා ඉන්න කෙනෙක් අළුතින් හරය කා දමන වැඩක් පටන් ගත්තොත්, ඒ පුද්ගලය ඇත්තටම කරන්නෙ හරක් වැඩක්. ඒ වැඩය කරන කොට, ඒ අවස්ථාවෙදි හරකට අදාල ගතියක් සහ රූපයක් තමයි ගොඩ නැගෙන්නෙ. ඒක තමයි නාම රූප විදියට ගොඩ නැගෙන්නෙ. එතකොට හරය කා දැමීමේ සංඛ්‍යාත සමූහයක් එකතු වෙලා තමයි හරක හැදෙන්නෙ. දැන් මේ සංඛ්‍යාත සමූහය එකතු වෙන කොට අර පූරියසීරිස් කියන නියමයෙන්, මේ සංඛ්‍යාත ටික එකතු වෙලා තමයි හරක කියන නම හැදෙන්නෙ. ඒ විදියට හරකෙක් හරි බල්ලෙක් හරි මොකක් හරි නිර්මාණය වෙන්න රූප සමූහයක් එකතු වෙන්න ඕන.

මේ කාරණය තවත් එහාට ගියොත් විද්‍යාවෙ එන තන්තු සිද්ධාන්තයෙන් (String Theory) මේකට අවශ්‍ය මූල සිද්ධාන්තය පෙන්වන්න පුළුවන්. ඒ කියන්නෙ විශ්වයේ තියෙන හැම දෙයක්ම කඩල බිඳල කෙළවරටම පුංචි කළාම, විවිධ දුනු හැඩයන් තියෙනවයි කියල නවීන විද්‍යාවෙන් කියනවා. ඒ කියන්නෙ බුදු දහමේ පෙන්වන නාම රූප වගේ විවිධ දුනු හැඩ තියෙනව කියල තමයි මේ අලුත් සිද්ධාන්තයෙන් කියන්නෙ. ඒ විදියට ලෝකයේ දැනට ද්‍රව්‍ය පදාර්ථවල සියුම්ම අවස්ථාව පවතින්න පුළුවන් දුනු ආකාර 11 ක් තියෙනව කියල තමයි නවීන විද්‍යාවෙන් කියන්නෙ. ඒව විවිධ දුනු හැඩයෙන් පවතින ආකාර. එතකොට මේ වගේ **සියලුම හැඩතලයන්ට වෙන් වෙච්ච යම් සංඛ්‍යාතයක් තියෙනවා. ඒ සංඛ්‍යාත එකතු වෙන කොට හැඩතලත් එකතු වෙනවා. හැඩතලවල එකතුවක් කියන්නෙ යම්කිසි රූපයක්. ගති ගුණ, ගති හඬ කියන දෙකත් මේ වගේමයි.** ඒවත් ඒ වගේම සංඛ්‍යාත එකතුවක්. හැබැයි පද කඩල නිරුක්ති පෙන්වන්නෙ අර වගේ ගණිතමය සංඛ්‍යා ක්‍රමයකින් නෙවෙයි. නමුත් මේ නිරුක්ති ක්‍රමවේදය පිළිබඳ යම්කිසි විද්‍යාත්මක අවබෝධයක් ලබා ගන්න ඒ ක්‍රමය පහසුවක් වෙනවා. ඒ නිසා තමයි මේ කාරණය පෙන්නුවේ.

එතකොට හරකගෙ උදාහරණය ගත්තොත් ගති ගුණ, ගති හඬ, ගති රුව කියන මේ කාරණා 3 සකස් වෙන්නෙ හරය කා දමනවා කියන අවස්ථාවෙන්. ඒ අවස්ථාවෙදි මැවෙන රුව තමයි හරක් රුව. එතකොට එන හඬ තමයි හරක් හඬ. මේ ක්‍රමය වචන කඩල නිරුක්ති හැදෙන හැටි පැහැදිලි කරන්නත් යොදාගන්න පුළුවන්. තවත් විදියකින් කියනව නම් අවිද්‍යා පච්චයා සංඛාරා, සංඛාර පච්චයා විඤ්ඤාණං, විඤ්ඤාණ පච්චයා නාම රූපං කියල මේ ගතිවලින් නාම රූප හදනවා. බාහිර නාම රූපවල ආකාරයන් තමයි ශරීරයේ නිපදවෙන ඕරා වළලු. මේ ඕරා වළලු ගැන දැන ගන්න අවශ්‍ය නම් අන්තර් ජාලයෙන් පරීක්ෂා කරල බලාගන්න පුළුවන්. එතකොට **හරය කා දමන අවස්ථාවෙදි ඒ පුද්ගලයගෙ ඕරා වළල්ලෙන් හරක් කියන හැඩ තලය තියෙන බාහිර නාම රූපයේ ආකාරයක් හෙවත් ෆෝටෝන අංශු තමයි ආලෝක අංශු විදියට පිට වෙන්නෙ.** ඒ අංශුවල වර්ණ වෙනස්, හැඩතල වෙනස්, ගති ගුණ වෙනස්. ඒ ප්‍රධාන වර්ණවල සංඛ්‍යාත එකතුවක් තමයි ශරීරයෙන් පිටවෙන්නෙ. ඒක පුද්ගලයගෙ කර්ම ගබඩාවත් එක්ක සම්බන්ධයි. ඒකෙන් පුද්ගලයගෙ මනෝ කාය ආශ්‍රිතව අභ්‍යන්තරයේ හරක් රුවක් නිර්මාණය වෙනවා. එතකොට හරකට ආවේණික සංඛ්‍යාතයක් තියෙනවා. එහෙනම් හරක් වැඩ කරන කොට හැදෙන්නෙ ඒකට හිමි ස්වභාවික සංඛ්‍යාතය. ලෝකයේ සියල්ලම පටිච්ච සමුප්පන්න නිසා මේ ගති ගුණ, ගති හඬ, ගති රුව කියන කාරණා 3 ත් පටිච්ච සමුප්පන්නවමයි ගොඩ නැගෙන්නෙ. ඒ හේතුවල ඵලයක් තමයි හරක කියන්නෙ. **හේතු කියන්නෙ 6 කින් එතු කියන එක. ලෝකෙ ඒ වගේ හේතු තියෙන්නෙ 6 යි. ඒ තමයි ලෝභ, ද්වේශ, මෝහ, අලෝභ, අදෝස, අමෝහ. මේ 6 තමයි ඕනම දෙයක් හැදෙන්න හේතු වෙන්නෙ.** එතකොට ඵලයත් ඒ හේතුවලට අනුකූලවමයි ලැබෙන්නෙ. ඒ නිසා හරකෙක් කියන තිරිසන් අවස්ථාව හැදෙන්නෙ, මේ 6 න් ලෝභ, දෝස, මෝහ කියන කාරණා 3 ලෝභ - මෝහ හෝ ද්වේෂ - මෝහ විදියට විවිධාකාරයෙන් සම්බන්ධ වෙලා. එතකොට ඒ හරක් වැඩ කරන අවස්ථාවෙදි නිකුත් වෙන ඊට අදාල ශක්තියෙන් තමයි හරක කියන තිරිසන් අවස්ථාව හැදෙන්න පාදක වෙන්නෙ.

මේ ගති ගුණ සහ ඊට අදාල ගති රුව අතර සම්බන්ධය පෙන්වන තවත් උදාහරණයක් මේ විදියට දෙන්න පුළුවන්. එතනදි එක්තරා ඉන්ද්‍රජාලිකයෙක් යම් කිසි මන්ත්‍ර බලයක් පාවිච්චි කරල සතෙක්ගෙන් තෙලක් හදාගෙන, ඒ තෙල්වලින් පහන් පත්තු කළාම ඒ සතාගෙ ඡායාවන් ඒ පහන් එළිය වැටෙන තැන්වලත් වැටෙන්න පටන් ගන්නවා. (මේ පිළිබඳ විස්තරයක් 17 වන කලාපයේ 19 පිටුවෙ සඳහන් කරල තියෙනවා.) ඒ කියන්නෙ ඒ තෙල්වලත් ඒ සතාගෙ ගති රුව අංශු මාත්‍රයක් හරි තියෙනවා. එතකොට ඒ ගුණයට අදාල සතාගෙ ගති රුව තමයි අර ඡායාවෙන් පෙන්වන්නෙ.

මෙන්න මේ වගේ යම් කිසි කෙනෙක්ගෙ මූලික හඬක් අරගෙන ඒ හඬේ කම්පන සංඛ්‍යාතය අර විදියට ගත්තොත් ඒකට අදාල රූපයක් බලාගන්න පුළුවන්. විද්‍යා පර්යේෂණවල නිරත වෙලා ඉන්න උදවියට මේ කාරණය හොඳ හෝඩුවාවක්. මේ බුදු දහමෙ පෙන්වල තියෙන කාරණා ඔප්පු කර ගන්න ඒක ඒ අයට පහසුවක් වේවි. ඉතින් මේ කාරණා මේ විදියට කිව්වෙ හැමදාම පරීක්ෂණ කර කර ඉන්න නෙවෙයි. මේ දුර්ලභව ලැබෙන මනුස්ස අත්භවයෙන් උපරිම ප්‍රයෝජන අරගෙන, ලැබිච්ච අවස්ථාවෙ දහම් අවබෝධයක් ලබාගන්නයි උත්සාහ කරන්න ඕන. මොන භාෂාවෙන්, මොන විද්‍යාවෙන් හරි ඒකට මගක් පාද ගන්න පුළුවන් නම්, ඒක කාගෙ වුනත් කමක් නෑ. භේදයකින් තොරව දහම් අවබෝධයට පහසුවක් කර ගන්න පුළුවන් නම් ඒක හරි වැදගත්. මොකද මේ බුදු දහම කියන්නෙ විශ්ව ධර්මතාවයක්. මේ හැම මනුස්සයෙක්ම කවද හරි ඒක අවබෝධ කර ගන්න තමයි උත්සාහ කරන්න ඕන. ඒ ක්‍රමයෙන් තමයි තමන්ගෙ සැබෑ නිදහස සලස ගන්න පුළුවන් වෙන්නෙ.

(ඉතිරි කොටස ලබන කලාපයෙන්)

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ :*

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# ද්‍රව්‍ය පදාර්ථ ඥානයට හසුවන විවිධ ශාකවල සැඟව ගිය ඖෂධ ශක්තීන්

2 වන කොටස

ප්‍ර සුගිය කලාපයෙන් මනුස්සයො එදිනෙදා ආහාරයට ගන්න එළවළු වර්ග කිහිපයක සැඟවිච්ච ඖෂධ ශක්තීන් ගැන විශේෂ විග්‍රහයක් කළා. මෙතනදි මේ එළවළු කියන වචනය ගත්තොත්, **හෙළ අවුළු කියන එක තමයි එළවළු කියන්නෙ. හෙළ කියන්නෙ සුද්ධ වූ ළයක් තියෙන සුද්ධවන්තයින්.** ඒ බව පසුගිය කලාපවල පළ වූ නිරුක්ති සම්බන්ධ ලිපි කිහිපයකින්ම පැහැදිලි කළා. අවුළු කියන්නෙ ආහාර. එතකොට ඉස්සර හිටපු සුද්ධවන්තයින්ගෙ හෙවත් හෙළයන්ගෙ ආහාරය තමයි එළවළු කියන්නෙ. බත් කියන වචනය ගත්තමත් ''බ'' කියන්නෙ යම්කිසි ආකාරයක බිඳ හැරීමක්. ''අත්'' කියන්නෙ අත්කර ගන්නවා කියන එක. යම්කිසි ආහාරයක තියෙන භෞතික කොටස් පොඩි පොඩි කැලිවලට බිඳ හැරලා, ඒවායේ තියෙන ශක්තිය අත් කර ගන්න එක තමයි බත් කියන්නෙ. ඒ ශක්තිය තමයි කයට ගන්නෙ. දැන් මේ ලිපියෙන් හෙළිදරව් කරන්නෙ තවත් එළවළු වර්ග කිහිපයක සැඟව ගිය ශක්තීන්.

ඉස්සර මිනිස්සු අතර කතාවක් තිබුණා, නිමිති බලනව කියල. ඒ කියන්නෙ යම්කිසි ආකාරයකින් නිර්මිත වෙන දේවල් මොනවද කියල හොයල බලන සිරිතක්. මොකක්ද මේ සිද්ධ වෙන්නෙ? මේ වැඩේ හරියයිද නැද්ද? මෙන්න මෙහෙම දෙයක් ඊළඟට සිද්ධ වෙන්නෙ... මේ ආදී වශයෙන් යම් කටයුත්තක් කරන්න පෙර, ඒකෙන් සිද්ධ වෙන්නෙ මොන වගේ දෙයක්ද කියල කල් තියා බලන්න පුළුවන් හැකියාවක් එදා හිටපු මනුස්සයින්ට තිබුණා. ඒකට හොඳ නුවණක් තිබුණා. ඒ තමයි හැම වෙලේම තමන් ගැනත්, අනුන් ගැනත් හොයල බලල කටයුතු කිරීමේ ගති ලක්ෂණය. නමුත් කල් යන කොට එහෙම නිමිති බලන්නෙ නැතිව හිටියා. ඒ කියන්නෙ කෙටි මනසකින් ළඟ බලල උඩින් මත්තෙන් යමක් කළා මිසක්, අර වගේ දුර දිග බැලිල්ලක් නෑ. ළඟ බලන්න පුරුදු වීමෙන් හදිසි වැඩ කරල මිනිස්සු අමාරුවෙ වැටෙන්න පටන් ගත්තා. ඒ කියන්නෙ මොළේ නැතිව වැඩ කරන අය තමයි ළඟ බලන්නෙ. එතකොට **මොළේ ඇතිව වැඩ කරපු මානසිකත්වයට හිමි ශක්තිය හෙවත් නිමිති බලන ශක්තිය පිටවෙලා ගිහින් නිවිති කියන ශාකයක පිහිටියා.** නිමිති කියන එක තමයි ව්‍යවහාරයෙදි නිවිති වුනේ. අදත් නිවිතිවල මනස වැඩෙන ඖෂධ ශක්තියක් තියෙනවා.

ඒ වගේම ඉස්සර මිනිස්සු ළඟ තිබුණා, ප්‍රසිද්ධියේ නොකිව යුතු දේවල් කනට කරල මුමුණල, කාංකුං ගාන







ශබ්දයෙන් කියන ගති ලක්ෂණයක්. අදත් කෙනෙක් යමක් කනට කරල කියන කොට කාංකුං ගානවා, කාංකුං ගාන්නෙ නැතිව අපිටත් ඇහෙන්න කියහල්ලකො... ආදී වශයෙන් කියනවා. ඒ කියන්නෙ කෙනෙක්ගෙ තියෙන දුෂ්චරිතයක් ගැන, යම් සිද්ධියක් ගැන ප්‍රසිද්ධියේ කතා කිරීම සමාජයේ සිරිත් විරිත් චාරිත්‍රවලට ගැලපෙන්නෙ නැති නිසා, ඒක තවත් කෙනෙකුට කිව්වෙ අර වගේ කනට කරල මුමුණලා. කෙනෙක්ගෙ චරිතය ඝාතනය නොකර, ඒ පුද්ගලයා අපහසුතාවයට පත් නොවෙන්න තමයි ඒ විදියට කනට කරල තවත් කෙනෙක් එක්ක කිව්වෙ. ඒ ගති ලක්ෂණය මුල් කාලෙ මිනිස්සු ළඟ තිබිල පසු කාලෙක නැති වෙලා ගියා. ඊට පස්සෙ ප්‍රසිද්ධියේ කෙනෙක්ගෙ නුගුණ කියල ලැජ්ජාවට පත් කරන්න, මඩ ගහන්න, පල් කරන්න පටන් ගත්තා. එහෙම කියන්නෙ ඒ පුද්ගලයට හැඳෙන්න නෙවෙයි, සමච්චල් කරන්න. ඒ නිසා පොඩි එවුන් දැනගත්තත්, කවුරු දැනගත්තත් කමක් නෑ කියල ප්‍රසිද්ධියේ අපහාසයට ලක් කරල කතා කරන්න පටන් ගත්තා. එතකොට අර කලින් තිබිච්ච වගේ **කනට කරල කාංකුං කියන ගති ලක්ෂණය ඉවත් වෙලා ගිහින් ඒකට හිමි ශක්තිය කංකුං කියන ශාකයක තැන්පත් වුණා.**

ඒ වගේම මේ කංකුං හැදෙන්නෙත් තෙතමනයක් තියෙන පරිසරයක. **මනස තෙත් වෙන කොට තමයි තෙතමනක් වෙන්නෙ.** එතකොට කෙනෙකුට හිංගි හිංසාවක් නොවෙන්න, කරදරයක් අපහාසයක් නොවෙන්න, සැඩ පරුෂ නොවෙන විදියට අනෙක් අයට ඇහෙන්නෙ නැතිවෙන්න කතා කරන්න නම්, ඒකට මනස එක්තරා විදියකට තෙත් වෙන්න ඕන. තෙතමනක් කියන්නෙ ඒකයි. මනස තෙත් වුනාම තියෙන ගති ලක්ෂණයක් තමයි කාංකුං ගෑම. නමුත් එහෙම හෙවිල්ලක් බැලිල්ලක් නැතිව සැඩ පරුෂ විදියට ප්‍රසිද්ධියේ කතා කරන කොට, මනස ගොරෝසු වෙලා තෙත මන නැති වෙලා යනවා. එතකොට තෙත මනක් කියන ගති ලක්ෂණයත් එක්ක කාංකුං කියන ගති ලක්ෂණය සම්බන්ධයක් තියෙනවා. ඒ දෙකම හොඳ ගති ලක්ෂණ 2 ක්. ඒ ගති ලක්ෂණ 2 ම පිටවෙලා ගිය නිසා තමයි කංකුං තෙතමනය සහිත පරිසරවල හැදෙන්නෙ. ඒ කියන්නෙ දිය සීරාව තියෙන ප්‍රදේශවල. ඒක කංකුංවලට හොඳ පරිසරයක්.

ඒ වගේම ඉස්සර සමාජයේ තිබිච්ච සාර ධර්ම පසු කාලයක නසන්න පටන් ගත්තා. එතකොට ඒ ශක්තිය ☞

පිට වෙලා ගිහින් සාරණ කියන ශාකයක පිහිටියා. අදත් මොළේ වැඩෙන්න සාරණ දෙනවා. විශේෂයෙන් නැණ නුවණ වැඩෙන ගුණයක් ඒකෙ තියෙනවා. ඒ වගේම ශරීරයේ ලේවල තියෙන අපද්‍රව්‍ය නසන ගුණයක් බෙහෙත් සාරණවල තියෙනවා.

ඊළඟට දඹ කියන්නෙ දෙහිතක් ඇති, දෙන්නෙකුට තියෙන හිතවත්කම කියන අර්ථය. **දෙහිතක් ඇති ස්වභාවය හෙවත් දෙහිතකට ආලය කිරීම තමයි ද්ව + අඹ + අල - දඹල වෙන්නෙ.** ඒ කියන්නෙ ඉස්සර මිනිස්සු අතර තිබ්බච්ච ගති ලක්ෂණයක් තමයි භාර්යාවො හරි පුරුෂයො හරි දෙන්නෙක් හිටිය නම් ඒ දෙන්නටම සම විදියට සැලකීම. හැබැයි මේ කියන්නෙ අද සමාජයට ගැලපෙන ලක්ෂණයක් නෙවෙයි, එදා ස්ත්‍රී පුරුෂ ජන අනුපාතය අනුව බහු භාර්යා, බහු පුරුෂ සේවනය තිබ්බච්ච කාලෙ සමාජ සම්මතයෙන් බිහි වෙච්ච ක්‍රමයක ලක්ෂණයක්. ඒ වගේම ළමයි දෙන්නෙක් හිටිය නම් එක් කෙනෙකුට විතරක් විශේෂත්වයක් කළේ නෑ. දෙන්නටම එක වගේ සැලකුවා. ඊළඟට එක පැත්තකින් නැන්ද මාම හිටියා, අනෙක් පැත්තෙන් අම්ම තාත්ත හිටියා. දෙමවුපියන්ට සලකනව හා සමානව නැන්ද මාමටත් සැලකුවා. පොදුවේ දෙපැත්තටම හිතවත්. ඒක තමයි දඹ ළය කියන්නෙ. නමුත් කාලයක් යද්දි ඒ විදියට දෙපැත්තටම තියෙන හිතවත්කම නැතිවෙලා ගිහින් පැත්තක් අල්ලන්න පටන් ගත්තා. එතකොට ඒ ගති ගුණයට අදාල ශක්තිය පිටවෙලා ගිහින් දඹල විදියට තැන්පත් වුණා. **වැළඳ ගන්න ගතියක් නිසා වැලක් විදියට පිහිටියා.** දඹලවල ප්‍රෝටීන් බහුලයි. අදත් ඒකෙ අතීතයේ තිබ්බච්ච මානසිකත්වය වැඩෙන්න හේතුවෙන ශක්තියක් පිහිටනවා. සමහර වෙලාවට කෙනෙකුට රුස්සන්නෙ නැති වික්ෂිප්ත මානසිකත්වයක් තියෙන උදවිය ඉන්නවා. ඒ එක්තරා අඩුවක් නිසා. ඒ අඩුවට අදාල ශක්තිය, නැවත වාරයක් ඇසුරු කරන්න හිතෙන ශක්තිය දඹලවල තියෙනවා. ඒ වගේම හදිසියේ කේන්ති යන අයටත් හුඟක් හොඳයි. ලෞකික අදෝසය තමයි ඒකෙන් එන්නෙ.

ඒ වගේම ඉස්සර සමාජයේ හිටපු මිනිස්සු ළඟ යහපත් දේවල් අහගෙන මුහු කරගෙන ඇසුරට ගන්න ගති ලක්ෂණයක් තිබුණා. ඒකෙන් හොඳ නරක තේරුම් අරගෙන යහපත් විදියට ජීවත් වුණා. අන් කියන්නෙ ආහාර. ඒ කියන්නෙ යහපත් දේවල් නමැති ආහාරය තමන්ගෙ ජීවිතයට මුහු කරගත්තා. මුල් කාලෙ තිබ්බච්ච ඒ මුහු කරගන්න යහපත් ගති ලක්ෂණය පස්සෙ කාලෙක නැති වෙලා ගිහින් ඒකට අදාල ශක්තිය තමයි මුහු + අන් - මුං කියල පිහිටියෙ. ගහටත් නැති වැලටත් නැති පැලෑටියක් විදියට තමයි ඒක පිහිටියේ. ඇට් කියන්නෙ ඉතා ළදරු ළපටි මෘදු දේවල්. **ළය මෘදු කරන්න පෑ දේවල් තමයි පෑ + ආල + ඇට් - පැළෑටි වුනේ.** හැම පැළෑටියක්ම හැදුනෙ මේ විදියට. ඒ කියන්නෙ මෘදු ආලයක් පානවා. ඒක දැඩි එකක් නෙවෙයි. ඒ ගුණයට අදාල ශක්තිය පිටවෙලා ගිහින් තමයි පැළෑටි හටගත්තෙ. ඒව ගසුත් නෙවෙයි වැලුත් නෙවෙයි. පොඩි පොඩි ශාක. ලොකු වෙන්නෙත් නෑ, හැමදාම එකම මට්ටමේ. ඒ වගේම **පන් හෙවත් ශරීරයක තියෙන ප්‍රබෝධමත් ගතිය, ප්‍රාණවත් ගතිය දුරු කරන වැඩවලට සම්බන්ධ වුනාම ඒ ගතියට අදාල ශක්තිය පිටවෙලා ගිහින් තමයි පන් + දුරු - පඳුරු වුනේ.** පඳුරු තලන්න ගියා කියල අදත් කතාවට කියනවා. ඒ වගේ ස්ත්‍රීන්ට පඳුරි කියලත් උපහාසයට කියනවා. ඒ නිසා තෘණ පඳුරු ආදියේ තියෙන ඖෂධ ශක්තිය ශරීරය ප්‍රාණවත් කරන්න හේතු වෙනවා.



ඊළඟට **ආලය කඩ කරන කොට ඇති වන ස්වභාවය තමයි කඩ + ආල - කඩල ඇති වෙන්නෙ හේතු වුනේ.** හැබැයි ඒකත් ක්‍රම දෙකක් තියෙනවා. එදා ආලය කියන ගතිය හිත්වල තිබ්බච්ච යම් කිසි හොඳ ගතියක්. ඒ කියන්නෙ කෙනෙකුට දුකක් කරදරයක් ආවම පිහිටවෙන ගති ස්වභාවයක්. නමුත් අද තියෙන්නෙ එදා තිබ්බච්ච ගති ස්වභාවය වෙනුවට තමන්ගෙ අවස්ථාවෙන් ප්‍රයෝජන ගන්න ගති ලක්ෂණයක්. ආලය කරන හැටියට පිටින් පෙන්වල ඒක කඩ කරනවා. ඒක හොඳ ගති ලක්ෂණයක් නෙවෙයි. ඒ වගේම මුල් කාලෙ ආලය කඩ කරන ලක්ෂණත් විවිධාකාරයෙන් තිබුණා. ඒ කියන්නෙ ඇලුම් කර කර හිටපු ලෝකෙ අසාරත්වය දැකලත් ඒ ආලය කරපු දේවල් කඩ කරල දාල ගිහින් මහණ වෙනවා, තපසට යනවා. එතනදි ආලය කඩ කිරීමක් වුනත් ඒක හොඳ ගතියක්. ස්වෛරීයව නැගී හිටින්න පුළුවන් ශක්තියක් ලබාදෙන ක්‍රමයක්. නමුත් අන්තිමට ඒ හොඳ අදහසත් කඩ කරල අර ආලය අත් හැරල පැවිදි වෙන්න, බ්‍රහ්මචාරී වෙන්න තිබ්බච්ච අදහස නැති වෙලා ගියා. එතකොට මේ හොඳ ගති ලක්ෂණවලට අදාල ශක්තිය පිටවෙලා ගිහින් තමයි කඩල හැදුනෙ.

ඒ වගේම ඉස්සර හිටපු මිනිස්සු ළඟ ආර්ය ධර්මය පෙන්වල, යම් යම් දේවල් ඔප්පු කරන ගති ලක්ෂණයක් තිබුණා. ඒ කියන්නෙ උත්තම දෙයක් පෙන්වල යමක් ඔප්පු කරල පෙන්වනවා. ඒක බොරුවක් නෙවෙයි, හේතු ඵල ඇතිවම සත්‍යයෙන් කරන ඔප්පු කිරීමක්. ඒ විදියට **ආර්ය ධර්මය පෙන්වල ඔප්පු කරන ගති ලක්ෂණයත් පසු කාලෙක ඉවත් වෙලා ගිහින්, ඒකට අදාල ශක්තිය තමයි පා + අරි + ඔප්පු - පරිප්පු කියල හැදුනෙ.** පරිප්පු කියන්නෙ අපිට ආවේණික කෑමක්, අපේ වචනයක් නෙවෙයි. නමුත් වචනය කොහෙන් ආවත් සිංහලෙන් පද නිරුක්තිය දෙන්න පුළුවන්.

ඉස්සර පංචකාමය මුල් කරගෙන යම්කිසි කෙනෙකුගෙ හිත ගන්න කරපු වැඩ තිබුණා. ඒකට අංචි අදිනවයි කියල කිව්වා. හැබැයි ඒ අද වගේ හානිදායක විදියට නෙවෙයි. අද කතා කරන කොට අංචි කියන වචනය අපහාසයට ගත්තත් ඉස්සර නම් ලස්සන, රස, සුවඳ, මෘදු මොලොක් බව පෙන්වල මේ රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ කියන පහෙන්ම කෙනෙක්ගෙ හිත ගන්න ගති ලක්ෂණය තමයි බොහෝ කොටම තිබුණෙ. නමුත් පසු කාලෙක ඒ ගති ලක්ෂණයත් ඉවත් වෙලා, ලෞකික වශයෙන් හරි හිත පිනවල කෙනෙක්ගෙ හිත් දිනාගන්න ගතිය ඉවත් වුණා. ඊළඟට කපටිකමින් වංචාවෙන් රවට්ටල, නොයෙක් උපක්‍රම යොදල කෙනෙක්ගෙ හිත ගන්න උත්සාහ කළා. එතකොට අර කලින් තිබ්බච්ච බොහෝ අංචි කියන ගති ලක්ෂණය ඉවත් වෙලා ගිහින් ඒකට අදාල ශක්තියෙන් බෝංචි හැදුණා.

ඊළඟට ඉස්සර ස්වාමි පුරුෂයයි භාර්යාවයි ගත්තම, මමයි ඇයයි කියන බැඳීමක් තිබුණා. ඕනකමින්ම මමයි ඇයයි කියල අනෙක් අයටත් පෙන්වල දෙන සිරිතක් තිබුණා. ඒක දෙන්න අතර ☞

තියෙන හිතවත්කම සමාජයට පෙන්වල දෙන හොඳ ගති ලක්ෂණයක්. නමුත් පසු කාලෙක ඒ ගති ලක්ෂණයත් ගිලිහිලා ගිහින් ඒකට අදාල ශක්තියෙන් තමයි මා + ඈ - මෑ කියන ශාකය හැදුනෙ. වෙළෙන ගතිය නිසා ඒක වැළක් වුණා. අදත් කතාවට කාන්තාවට මැය කියල කියනවා. ඒ නම් හැදිල තියෙන්නෙත් එදා තිබ්ච්ච ගති ලක්ෂණවලට අනුව.

ඒ වගේම ආලය කරන ගති ලක්ෂණය ගිලිහිලා ගිහින් අල වර්ග හැදෙන හැටි පසු ගිය කලාපයෙන් විස්තර කළා. එතකොට යම්කිසි ආකාරයකට කෙනෙකුට ගහල ආලය කරන ගති ලක්ෂණත් ඉස්සර තිබුණා. උදාහරණ විදියට ළමයෙකුට ඇලුම් කිරීම නිසා ආදරයටත් ගහනවා. හැබැයි ඒ ගහන්නෙ තරහට නෙවෙයි, යහපත් විදියට හදා ගන්න. ඉතින් ගහල අනිත් සැරේ අත ගානව, ඉඹිනවා. ගෙදර හිටපු භාර්යාවට වුනත් යම් වැරද්දකදි ගැහුවට, තරවටු කළාට ඊළඟට අල්ලගෙන ලෙන්ගතුකමින් හිත සනසනවා. ඒ වගේ සිරිතක් මුල් කාලෙ තිබුණා. අද වගේ කැපෙන්න, කෙටෙන්න ගැහුවෙ නෑ. අද ගැහුවොත් ආලය කිරීමක් නෑ. ගැහුවොත් ගැහුවමයි. එන්න එන්නම ඒ මුල් ගති ලක්ෂණ විනාශ වෙලා ගිහින්. එතකොට **ගහල ආලය කරන ගති ලක්ෂණය ගිලිහිලා ගිහින් තමයි ඒකට අදාල ශක්තියෙන් ගහල හට ගත්තෙ.**

ඒ වගේම මඤ්ඤං කියල කියන්නෙ වැඩකට නැති හිස් දේවල්. අදත් ඒ වගේ වැඩකට නැති හිස් දේවල් කතා කරන කොට මඤ්ඤංද කියලත් අහනවා. ඒව නිකං ප්‍රලාපවලට වැටෙන්නෙ. ඔක්ක කියන්නෙ යම්කිසි දෙයක් වමාරනව කියන එක. ඒ කියන්නෙ හිතේ තියෙන දේවල් එළියට දානවා. එතකොට ඉස්සර මිනිස්සු ළඟ තිබ්ච්ච ගති ලක්ෂණයක් තමයි වැඩකට නැති දේවල් වමාරල කතා කර කර ඉන්න ගති ලක්ෂණය. ඒ කියන්නෙ අගක් මුලක් මැදක් නැති නිකං විහිළු කොලොප්පම් කතා, කාන්සිය යන්න නිතර කියව කියව ඉන්නවා. හැබැයි ඒක හොඳයි කියලම කියනව නෙවෙයි. නමුත් එක්තරා විදියකින් නරකකුත් නෑ. මොකද කාටවත් හානියක් වෙන දේවල් නෙවෙයි. වැඩ පළ කරන කොට එන කාන්සි ගතිය, නිදිමත ගතිය නැති කරගෙන ප්‍රබෝධමත් ගතියක් එන්න ඒකත් එක්තරා ආකාරයකින් ප්‍රයෝජනයක් වුණා. හරියට කාන්සිය, නිදිමත ගතිය නැති කරගන්න බුලත්විට හපනව වගේ. ඒ නිසා ඒකත් සාපේක්ෂව හොඳයි. එතකොට ඒ විදියට මඤ්ඤං ඔක්ක කරන ගති ලක්ෂණයක් මුල් කාලෙ මිනිස්සු ළඟ තිබුණා. ඒකත් එක්තරා ආකාරයකට සාමාන්‍ය ගමේ ගොඩේ මිනිස්සුන්ගෙ ළබැඳියාවක්, සමගියක් ඇති කරන්න උදව් වුණා. හේනෙ කුඹුරෙ වැඩපළ කරන කොට වැඩක් නැති කයිවාරු කතා කියන පුරුද්දක් තිබුණා. හැබැයි මේ කියන්නෙ දහම බැබලිච්ච කාලවල හේනෙ කුඹුරෙ වැඩපළ කරද්දි දහමට අනුව කවි සී පද කිය කිය හිටපු කාලයක් ගැන නෙවෙයි. ඊට වඩා පහල ගති ලක්ෂණ තිබ්ච්ච කාලයක්. නමුත් ඒ කාලෙට අනුව ඒකත් සාපේක්ෂව හොඳයි. කොහොම හරි තවත් කාලයක් යද්දි ඒ විදියට කයිවාරු ගහගෙන මඤ්ඤං කියව කියව හිටපු ඒ මට්ටමත් ඉක්මවා ගිහින්, ගමේ ගොඩේ මිනිස්සුන්ගෙ සමගියත් නැති වෙලා නිකම් මෝඩ පිරිසක් බවට පත් වුණා. ඒ ගති ලක්ෂණයට අදාල ශක්තිය පිටවෙලා ගිහින් තමයි මඤ්ඤොක්ක හැදුනෙ.





අදත් ගමේ ගොඩේ, හේනෙ පැලේ වැඩ කරද්දි මඤ්ඤොක්ක කියන්නෙ නැතිවම බැරි ආහාරයක්. ගමේ කෑමක් කියල කියන්නෙත් ඒ නිසා තමයි. ඒකෙ යම්කිසි ප්‍රියමනාප භාවයක් තියෙනවා. හැබැයි ආහාර අතරින් පළමු පෙළ නෙවෙයි, දෙවන තුන්වන පෙළේ ආහාරයක්. ඔය ගමේ ගොඩේ කයිවාරු ගහ ගහ වැඩක් පළක් කරන මිනිස්සුන්ට මඤ්ඤොක්ක ටිකක් තම්බල දුන්න කියන්නෙ ජීවිතයට ආහාර දුන්න වගේ තමයි. ඒකෙන් යම්කිසි ප්‍රබෝධමත් ගතියක් එනවා. හැමෝම ප්‍රිය කරන ආහාරයක්. ඒ ගතියට ගැලපෙන පෝෂ්‍ය පදාර්ථ ඒකෙ තියෙනවා. ඇඟට පතට අමාරුවක් නැතිව ඔහේ කයිවාරු ගහන ගමන් වැඩෙත් කෙරෙනවා.

ඊළඟට ඉස්සර මිනිස්සු ගෙදරට ඥාතියෙක්, හිතවතෙක් ආවම, ඉන්න ඉන්න කියල නිතරම කියල නවත්ත ගන්න සිරිතක් තිබුණා. කොයි වෙලාවෙ යන්න බැරිය, කාල යන්න ඉන්න... ආදී වශයෙන් ආල හිතකින් කියන සිරිතක් තිබුණා. නමුත් පසු කාලෙක ඒ ගති ලක්ෂණයත් නැති වෙලා ගිහින්, ඉන්නවට කැමති නැති ගතියක් ආවා. ඒ කියන්නෙ එදා තිබ්ච්ච සමගිය සමාදානය ක්‍රමයෙන් නැති වෙලා ගිහින් කෙනෙකුට නවතින්න දෙනවට, කන්න දෙනවට කැමති නැති ස්වභාවයක් ආවා. ඕකුන් ගෙවල්වල නවත්ත ගන්න එපා, අපිටත් කරදරයි... මේ ආදී වශයෙන් කියන්න පටන් ගත්තා. මෙහෙම පිරිහිලා යන කොට පිටවෙච්ච ශක්තිය තමයි ඉන්නලවල තැන්පත් වුනේ. වැළඳගන්න ගති ලක්ෂණයක් නිසා ඒකත් වැල් වර්ගයක් වුණා. ඒකට අවශ්‍ය පෝෂණ ශක්තිය අදත් ඉන්නලවල තියෙනවා.

ඊළඟට ළපටිය කෝ, පොඩි එවුන් කෝ කියල නිතරම අහන සිරිතක් ඉස්සර මිනිස්සු ළඟ තිබුණා. ළපටියන්ගෙ ජීවිතය ආරක්ෂා කරන බලාපොරොත්තුවෙන් තමයි එහෙම හොයල බැලුවෙ. හැම වෙලේම පොඩි එවුන් ගැන සෙවිල්ලෙන් ඉඳල කොහෙද ගියේ කියල අහල තරවටු කරනවා. හැබැයි ඒ රිදවන්න නෙවෙයි හදාගන්න. නමුත් පසුකාලෙක ඒ තත්ත්වයත් අත හැරල දැම්මා. උන් හරි හිතුවක්කාරයි, කියන දෙයක් අහන්නෙ නෑ, උන්ට ඕන දෙයක් කරගත්තාවෙ, අපට මොකද අපි අපේ වැඩක් බලා ගන්නව.... මේ ආදී වශයෙන් කියල පොඩි එවුන් යහපතට හදාගන්න බලාපොරොත්තුව නැති වෙලා ගියා. ඊට පස්සෙ කොහෙද ගියේ කියල බලන්නෙ නැතිව නිකං හිටියා. ඒක එක්තරා ආකාරයකට හොඳ ගති ලක්ෂණයක් නෙවෙයි, සමාජයේ විනාශයට බලපෑවා. **කොහෙද ළපටියො කියල අහන ඒ ගතිය නැතිවෙලා ගිහින් තමයි කොහිල හැදුනෙ.**

එතකොට පොඩි එවුන් හදාගන්න වුනත් එහෙම විරුද්ධ වෙලා තරවටු කරන බනින ස්වභාවයෙන් කටුක ගතියක් තිබ්ච්ච නිසා තමයි කොහිල කටු සහිතව හට ගත්තෙ. ඒ කටු ඇනුනමත් රිදෙනවා. හැබැයි ඒව විස නෑ. කොහිල දළු වුනත් ආහාරයට ගන්න කොට කටු තිබුන කියල ප්‍රශ්නයක් නෑ. මෘදු කටු තමයි දල්ලෙ තියෙන්නෙ. විස නැති නිසා ඒකත් එක්කමයි ආහාරයට ගන්නෙ. ඒ වගේම තරවටු කරන, බනින ගතිය නරකක් විදියට නෙවෙයි තිබුණෙ. එක්තරා විදියකට ළමයින්ට තිබ්ච්ච බැඳියාවක් නමුත් ඒ බැඳියාව ළමයින්ට පෙන්වන්නෙ නැතිව හංගගෙන තමයි, ළමයි කොහෙද ගියේ කියල හොයල බලල තරවටු කළේ. ඒක තරහකට කරපු දෙයක් නෙවෙයි, ඇදල බැඳල ළමයින්ව යහපත් තැනක තියා ගන්න ගති ලක්ෂණයක්. ඒ විදියට අභ්‍යන්තරව ඇදල බැඳල තියාගන්න ☞

ගති ලක්ෂණය නිසා තමයි කොහිලවල ඇතුලෙ හැම තැනම නූල් පිරිල තියෙන්නෙ. දැන් එතකොට අදත් කෙනෙකුට මූලගාය ආදිය හැදුනම කොහිල අල දෙන්න කියල කියනවා. ඒ කියන්නෙ එක්තරා විදියක හිතුවක්කාර, මුරණ්ඩු ස්වභාවයක් තියෙන කොට, ඒ වගේම තරහ ගතියක් එන කොට ඒකට හරියන ශක්තියක් කොහිල අලවල තියෙනවා. කොහිල දළු පොඩි එවුන්ගෙ හිතුවක්කාර ස්වභාවයට ප්‍රත්‍ය වෙනවා. දළු පොඩි එවුන්ගෙ වැඩවලට හොඳයි. ඒ වගේම ඒ සම්බන්ධයෙන් මුල් වෙච්ච දේවල්වලට කොහිල මුල් ගන්නවා. මේ විදියට මුළු ගහේම ඖෂධ ශක්තිය තියෙනවා.

ඊළඟට හැම වෙලේම අබ්බ ගන්නව කියන්නෙ ඉඹ ගන්නව, එල්බ ගන්නව, ආස්වාදයට ගන්නව කියන අර්ථය. ඒකත් ආලය කිරීමේ ගතියක්. රා කියන්නෙ පංච කාමයට තියෙන හිතවත් බව. හැබැයි ඉස්සර හිටපු මිනිස්සු මේ පංච කාමයට එල්බ ගන්න ගති ලක්ෂණයත් අදට වඩා වාරයක් ඇතිවයි කළේ. නමුත් පස්සෙ කාලෙක ඒ වගේ වාරවත් විදියට එල්බ ගන්න ගතියත් නැති වෙලා ගිහින් ඒ ශක්තියෙන් තමයි රා + අබු - රාබු හට ගත්තෙ. ආලය කිරීමේ ගතියක් නිසා තමයි අල බහින්නෙ.









ඒ වගේම ඉස්සර සමාජයේ කෙනෙක් එක්ක කතා නොකර, ස්පර්ශයෙන් අල්ල ගන්න ගති ලක්ෂණයකුත් තිබුණා. ඒ කියන්නෙ කතා කරන්න ගියොත් බෑ කියන උදවිය ස්පර්ශ කරල අල්ල ගත්තා. ඒ තවත් ක්‍රමයක්. ඒකත් කාමයට සම්බන්ධයි. හැබැයි අද වගේ නොහොඹිනා විදියට නෙවෙයි. නමුත් කාලයක් යද්දි ඒ විදියට **කතා නොකර අල්ල ගන්න ගති ලක්ෂණයත් නැති වෙලා ගිහින් තමයි නෝ + කෝ + අල් - නෝකෝල් කියන ශාකය හට ගත්තෙ.** නෝ කිව්වෙ නෑ කියන එක. කෝ කිව්වෙ කතාව. කතාවක් නැතිව අල්ලන ක්‍රමය තමයි නෝකෝල් කිව්වෙ. එතකොට උඩින් මත්තෙන් තමයි ඒ ක්‍රමයෙදි ආලය පෙන්නුවෙ. එහෙම නැතිව කතා කරල එකඟ වෙලා සම්මත කරගෙන අල්ල ගත්තු ක්‍රමයක් නෙවෙයි. ඒ නිසා තමයි අලේ පොළොව යට පිහිටන්නෙ නැතිව උඩ පිහිටන්නෙ.

ඊළඟට **අට් කියන වචනයෙන්** පෙන්වන්නෙ අටවනව, අට්ටාල කියන **අදහස.** ඉස්සර තිබිච්ච තවත් ක්‍රමයක් තමයි වටේ කැරකිලා පොඩ්ඩක් ඔළුව පහත් කරල අටව ගන්න ගති ලක්ෂණය. ඒක අද වගේ බලහත්කාරයෙන් අටවන එකක් නෙවෙයි. නමුත් කාලයක් යද්දි මනුස්සයො දාමරික වෙලා, නොයෙක් අණවින කොඩිවින වශී ගුරුකම් කරල, එහෙම නැත්නම් ආයුධයක් ඔළුවට තියල බය ගන්වල, බලහත්කාරයෙන් අටව ගෙන අරගෙන යන්න පටන් ගත්තා. එතකොට අර කලින් තිබිච්ච කතිකාවල් එකක්වත් නැතිව ගියා. ඒක කලින්ට වඩා දරුණු තත්ත්වයක්. අද වුනත් මොකුත් කතිකාවක් නැතිව ඔළුවට තුවක්කුවක් පිස්තෝලයක් තියල, එළියට යන්න වරෙන් කියල අඬගහගෙන පන්න ගෙන යන විවිධ ක්‍රම තියෙනවා.

එතකොට අර තිබිච්ච කීකරුකම, යටහත් පහත්කම් මුකුත් නෑ. ඒව එකක්වත් ගණන් ගන්නෙ නැති ක්‍රමයක් තමයි පසු කාලෙක ආවෙ. ඒ තත්ත්වය එන්න එන්න දරුණු වුණා. ඉස්සෙල්ලම යාළු වෙලා අරගෙන ගියපු ක්‍රමය සාපේක්ෂව යහපත් පැත්තක්. 100% ක්ම නැතත් දැන් තියෙනවට වඩා හොඳයි. අන්තිමට ඒකත් නැති වෙලා ගියා. එතකොට ඒ විදියට **කැරකිලා අටව ගත්තු මෘදු ක්‍රමයත් නැති වෙලා ගිහින් ඒ ශක්තියෙන් තමයි කැරට් හට ගත්තෙ.**

බීට් හට ගත්තෙත් මේ වගේම ක්‍රමයකට. බී කියන වචනයෙන් පෙන්වන්නෙ යම්කිසි ආස්වාදයක් සඳහා බොන්න දෙන, පානය කරන්න දෙන දේවල්. එතකොට බොන්න ආස්වාදයක් දීල අටව ගත්තු ක්‍රමයකුත් ඒ කාලෙ තිබුණා. ඒ කියන්නෙ අද ටොපි චොකලට් වගේ එදා විවිධ දේවල් දුන්නා. තේ කෝපි හදල දුන්නා. එහෙම දීල අටව ගෙන යාළු කරගත්තා. ''අපිට තේ කෝපි දුන්නනෙ, කුරුම්බ කඩල දුන්නනෙ, අපිට හරි හිතවත්කමින් සැලකුව, ගියොත් මොනව හරි දෙනවා....'' මේ ආදී වශයෙන් කියනවා. ඒ බීමෙන් හිත බැඳෙනවා. නමුත් අන්තිමට නැන්ද මාම ගෙදරට ආවමත් බැනල පන්න ගන්න තත්ත්වයට පත් වුණා. ''උඹලට ඔළුව පහත් කරන්නෙ නෑ අපි'' ඔහොම තමයි අන්තිමට කියන්න පටන් ගත්තෙ. අර කලින් වගේ බොන්න දීල අටව ගන්න ගතියත් නැති වෙලා ගියා. එතකොට ඒ ශක්තිය පිටවෙලා ගිහින් ඒකෙන් තමයි බී + අට් - බීට් කියල හැදුනෙ.

ඒ වගේම මේ බොන්න දෙන ගති ලක්ෂණයට ලේ + අත් + ගතු - ලෙන්ගතුකම කියලත් කියනවා. අන්‍ය ලෙයක් තමන්ටත් ගන්නවා, ලෙයට ලෙය මිශ්‍ර කර ගන්නවා කියන්නෙ හිතවත්කම පෙන්වනවා කියන එක. ඒ නිසා තමයි බීට්වල රතු පාටට හුරු ලේ හා සම්බන්ධ පාටක් තියෙන්නෙ. ඉතින් ලේ වඩන්නත් බීට් හොඳ ආහාරයක් වෙනවා. ඊළඟට ඒ ගුණයත් ඉක්මවා ගිහින් අර කලින් වගේම දාමරික වෙලා අටව ගන්න පටන් ගත්තා. මේ වගේ හැම එළවළුවක්ම හැදිල තියෙන්නෙ කලින් තිබිච්ච මොකක් හරි හොඳ ගුණයක් නැතිවෙලා ගිහින්. හොඳ කිව්වම ඒකත් සාපේක්ෂයි. ඒකෙත් අඩු වැඩි ඒව තියෙනවා. ඒ නිසා කැරකිලා අටවන ගතියත්, බොන්න දීල අටවන ගතියත් කියන මේ සාපේක්ෂව හොඳ ගති ලක්ෂණ නැතිවෙලා ගිහින් පස්සෙ කාලෙක දාමරික විදියට අටවගන්න පුරුදු වුණා.

ඒ වගේම මුල් කාලවල මිනිස්සු ළඟ යහපත් දේවල්වලට ගවේෂණය කරපු ගති ලක්ෂණයක් තිබුණා. ඒකෙන් යහපත් දියුණු සමාජයක් ඇති වෙන්න අඩි තාලම වැටුණා. නමුත් පසු කාලෙක ඒ විදියට යහපත් දේවල්වලට ගවේෂණය කරන ගති ලක්ෂණයත් නැති වෙලා ගියා. මොකක්ද මේ, කොහොමද මේක සිද්ධ වෙන්නෙ කියල හිතන්න ඕනකමක් තිබුණෙ නෑ. ඔය තියෙන දෙයක් කාල බීල ඉන්නව මිසක් අර වගේ හොයල බලල පරිහරණය කරන ගති ලක්ෂණය නැති වෙලා ගියා. ඒ විදියට **යහපත් දේට ගවේෂණය කිරීමේ ගති ලක්ෂණය ගිලිහිලා ගිහින් ඒකට හිමි ශක්තිය තමයි ගෝව විදියට තැන්පත් වුණේ.** අදත් යම්කිසි විදියකින් කෙනෙකුගෙ සෝදිසි කිරීමේ ශක්තිය අඩු වෙන කොට, ඒකට අවශ්‍ය කරන ශක්තිය මේ ගෝවල තියෙනවා. නමුත් අද

බොහෝ කොටම වස විස ගහල හදන නිසා ඒ ශක්තියට වඩා විස ශක්තිය තමයි ප්‍රතිචාර දක්වන්නෙ. එහෙම නැත්නම් මනස වැඩෙන්න, සියුම් දේවල් දකින්න, ගණිතමය කටයුතු වගේ දේවල් පරීක්ෂා කරන්න පුළුවන් ශක්තියක් මේ ගෝවවල තියෙනවා.

ඊළඟට ඉස්සර හිටපු මිනිස්සු ළඟ ලිහිල් දේවල් ඇසුරු කරන තවත් ගති ලක්ෂණයක් තිබුණා. තමන්ගෙ යුතුකම් ඉටු කළත්, දැඩිව අල්ලගෙන බදාගෙන ඇසුරු කරන්න ගියේ නෑ. ඒක අතේ දුරින් තිබිච්ච ඇසුරක්. ඒ නිසා හිරවෙලා හිටියෙ නෑ. බොහොම නිදහස් ජීවිතයක් තමයි ගත කළේ. එතකොට ඒකත් හොඳ ගුණයක්. මොකද වැඩි හොඳත් නොහොඳට කියන්න වගේ, යමක් දැඩිව ඇසුරු කරන්න ගියාමත් ඒකෙන් එන දුක වැඩියි. මේ නිසා ලිහිල්ව ඇසුරු කිරීමත් බොහොම වැදගත් වුණා. නමුත් කාලයක් යද්දි ඒ ගති ලක්ෂණයත් ගිලිහිලා ගිහින් දැඩිව බදාගෙන ඇසුරු කරන්න ගත්තම තමයි ඒකට අදාල ශක්තිය ලිහි + අස් - ලීක්ස් විදියට තැන්පත් වුණේ.

ඒ වගේම ඉස්සර හිටපු මිනිස්සු ළඟ මුහු කරල හුරු කරල ගත්තු අංග තිබුණා. මුහු කරනවයි කිව්වෙ යම්කිසි විදියකට නොයෙක් ආකාරයෙන් කන්න බොන්න දීල, එහෙම නැත්නම් ලෞකික වශයෙන් මොනව හරි ප්‍රයෝජනවත් දෙයක් දීල, යහපත් විදියට කාමය පැත්තට හුරු කරගන්න අංග ලක්ෂණ. කාමය කිව්වම අද කියන අර්ථයෙන් විතරක් නෙවෙයි රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ කියන පංච කාමයම අයිති වෙනවා. අපේ ආත්තල මුත්තල කාලෙ ඉඳන් අපේ හැටි මෙහෙමයි.... අපේ චරිතෙ මෙහෙමයි.... මේ විදියට තමයි අපි වැඩ කළේ.... මේ ආදී වශයෙන් කතා කරන කොටත්, ඒ විදියට තමයි අනෙක් කෙනාව මුහු කරල හුරු කරගත්තෙ. එතනදි වුනත් යම්කිසි මෝහයක් තමයි හුරු කළේ. හැබැයි අද වගේ බලහත්කාරයෙන් දාමරිකකම් පෙන්වල රවට්ටල තර්ජනය කරල හුරු කරගත්ත ක්‍රමයක් නෙවෙයි. ඒ නිසා දැන් තියෙන ක්‍රමයට වඩා සාපේක්ෂව එදා තිබිච්ච ක්‍රමය හොඳයි. පසු කාලෙක ඒ විදියට මුහු **කරල හුරු කරගත්තු අංගත් ගිලිහිලා ගියාම ඒකට හිමි ශක්තිය මුරුංග විදියට තැන්පත් වුණා.** අදත් මුරුංගවල බොහෝ කොටම තියෙන්නෙ කාමය මුල් කරගත්තු ශක්තියක්. ඒක අර පෙර තිබිච්ච ස්වභාවයේ ශක්තියක්. එතකොට කෙනෙක් මුරුංග අත්තෙ තියන්න එපා කියල අදත් කතාවට කියනවා. මොකද මේ මුරුංග ගහේ වුනත් ස්වභාවයක් තමයි ගහ ලොකුවට, අත්ත ලොකුවට තිබුණත් පොඩ්ඩක් ඇත්නම් කඩා වැටෙනවා. මුරුංග අත්තෙ තියන්න එපා කිව්වෙත් ඒකයි. තට්ටු ගණනක මෙහෙම ගෙයක් තියෙනවයි කියල අහස් මාළිග පෙන්වල එක්කන් ගියාට, ඊට පස්සෙ ලිප් බොක්කක වැඩ කර කර ඉන්න තමයි වෙන්නෙ. කලින් කියපු දේවල් එකක්වත් ඒ කිව්ව විදියට නෑ. ලෞකිකත්වය තුළ මුලාවට මුහු කරල හුරු කරගෙන තමයි එක්කගෙන ඇවිත් තියෙන්නෙ. මුරුංග අත්තෙ තියෙන්නෙත් එහෙම ස්වභාවයක්. පිටින් ලොකුවට පෙනුනට හයිහත්තියක් නෑ. ඒ **විදියට කරපු ආලය තමයි කර + ආල - කරල වුනේ. මුරුංග කරල් හැදුනෙත් ඒකෙන්.** ආලය කරන ඒවට තමයි කරල් හැදෙන්නෙ.

ඊළඟට මේ කාමයට අතුරු පැතිත්



ක්‍රියාත්මක වුණා. ඒ කියන්නෙ තවත් අය ඒකට සම්බන්ධ වුණා. කාම වස්තු සඳහා අතුරු සම්බන්ධයක් ආවම ඒකත් අර මුහු කරල හුරු කරගත්තු අංගවලට එකතු වුණා. ඒ කියන්නෙ හැමෝම සමගියෙන් සමාදානයෙන් එකතු වෙලා දෙපැත්තෙම අයගෙ තත්ත්වයන් කිය කියා සතුටු වුණා. කාමයට අතුරු කියන එක තමයි ක + අතුරු - කතුරු කියන්නෙ. නමුත් පස්සෙ කාලෙක, එකිනෙකාගෙ පම්පෝරි කතා අහන්න අපි යන්න ඕන නෑ කියල, ඒ තිබිච්ච සමගිය නැති වෙලා ඒ වගේ දේවල්වලට නොගිහින් හිටියා. ඒකට අදාල ශක්තියෙන් තමයි කතුරුමුරුංග හැදුනෙ.

ඒ වගේම යම්කිසි විදියකට අඹවනවා කියන වචනයෙන් පෙන්වන්නෙ කෙනෙක් මැඩ පවත්වනව, හිර කරනව කියන ගති ලක්ෂණය. ඒ වගේම ඒකට එකතු වෙලා පිරිස් රැළි ගැහෙන ස්වභාවයක් තියෙනවා. හැබැයි ඉස්සර මිනිස්සු ළඟ ඒ ගති ලක්ෂණය තිබුනෙ නරකට නෙවෙයි, යම්කිසි යහපතකට. ඒ කියන්නෙ සමාජයේ යම්කිසි දාමරිකයෙක්, හොරෙක්, හතුරෙක් හිටිය නම්, පිරිස එකතු වෙලා රැළි ගැහිල ඒ පුද්ගලය යටපත් කරල මැඩ පවත්වනවා. ඒකෙන් සමාජය රැකුණා. ඒක හොඳ පැත්තට තිබුණොත් හොඳ දෙයක් තමයි ඒකෙන් සිද්ධ වෙන්නෙ. සප්ත අපරිහානි ධර්ම එක්කත් එක්තරා විදියකට මේ කාරණය සම්බන්ධයි. ඒ කියන්නෙ හදිසියට කරදරයකදි එකතු වෙන ස්වභාවය. නමුත් කාලයක් යන කොට ඒ විදියට රැළි ගැහිල මැඩ පවත්වන ගතියත් නැති වෙලා ගිහින්, උන්ට ඕන දෙයක් කරගත්ත දෙන්.... අපිට කමක් නෑ අපි මොනව කරන්නද? එක එකාට වාල්කම් කරල අනික් එවුන් හදන්න යන්නෙ නැතිව අපි අපේ වැඩක් බලාගමු.... මේ ආදී වශයෙන් අදහස් ගත්තා. ඊට පස්සෙ ඒ කටයුතු ඈත් වෙලා ගිහින් ඒක පරිහානියට හේතු වුණා. ඒ විදියට **කෙනෙක් මැඩ පවත්වන්න, අඹවන්න රැළි ගැසීමේ සිරිත නැති වෙලා ගිහින්, දුරස්වෙලා ගිහින් තමයි ඇඹරැල්ල හට ගත්තෙ.** හැබැයි ඉතින් ඒ වගේ දාමරිකයින් අඹන්නත් උලක් වගේ දෙයක් ගන්න වෙනවා. ඒ කියන්නෙ දැඩි විදියට, රළු විදියට කටයුතු කරන්නත් සිද්ධ වෙනවා. ඒ විදියට **අඹන්න හුරු කර ගත්තු ගතිය නිසා ඇඹ + උල් - ඇඹුල් ගතියෙන් යුක්ත වුණා.** ඒ වගේම ඒකෙ අභ්‍යන්තරයේ සැඟවිලා කටු ස්වභාවයකුත් තියෙනවා. ඒ අර තිබිච්ච රළු ස්වභාවය නිසා.

දැන් මේ විදියට විවිධ ශාක වර්ග විවිධාකාර හැඩයන්ට හට ගන්න, විවිධ එළ දරල විවිධ පාටවලින් එන්නත් හේතුව තමයි අර මුල් කාලෙ තිබිච්ච ගති ලක්ෂණවලට අදාල ස්වභාවයන්. ඒ ගති ස්වභාවයන්ට අනුකූලවම තමයි ගහක එලයක පාට, හැඩය ආදී ගති ස්වභාවයන් සකස් වෙන්නෙත්. හැබැයි ඒක එකින් එක තෝරනවයි කියන්නෙ අති සියුම් කාරණයක්. ද්‍රව්‍ය පදාර්ථ ඥානය හුගක් ඉහළින් වැඩිච්ච කෙනෙකුට ඒකත් තෝරන්න පුළුවන්.

**(පසුගිය කලාපයේ පළ වූ, හන්දිපත් අමාරුවලට ලබු ඉස්මෙන් සකස් කර ගන්න බේත, දින 4-5 ක් පමණ උදේ වරුවෙ ආලේප කරල පැය 4 ක් විතර තියල හෝදල ඉවත් කළාම ප්‍රමාණවත්.)**

(ඉතිරි කොටස ලබන කලාපයෙන්)

**සටහන**

**නීතිඥ චන්දන සිරිවර්ධන**

**අභයරතනාලංකාරය - 27**

# මළගිය ඥාති හිතමිත්‍රාදීන්ගෙන් ඇති වූ කරදර උපද්‍රව ධර්මානුකූලව වැළැක් වූ හැටි



*(පසුගිය කලාපයෙන් - දේව රැකවරණය සහ අග්‍ර සංඝ කොටසින් දන් දීම සම්බන්ධයෙන් සත්‍ය අත්දැකීම්)*

**- වහරක අභයරතනාලංකාර හිමි**

තමන්ගෙ මිය පරලොව ගිය ඥාති හිතමිත්‍රාදීන් යම් යම් දුක්ඛිත අවස්ථාවල ඉඳගෙන, ජීවත් වෙලා ඉන්න තමන්ගෙ පිරිස්වලට කරදර කරපු අවස්ථා ගැනත්, ඒ වගේ අවස්ථාවලදි ඒ අය නිදහස් කරල යහපත සලසල දීපු හැටිත් තමයි මේ විස්තර කරන්නෙ. මෙතනදි ඒ මියගිය **සමහර අය මනුස්ස ගන්ධබ්බ විදියට හිටියත්, සාමාන්‍ය අයට දර්ශනයෙන් පේන්නෙ නැති නිසා අමනුස්ස කියන වචනය ව්‍යවහාරයෙදි භාවිතා කරනවා. එහෙම නැතිව සතර අපාගත වෙලාම නෙවෙයි අමනුස්ස කියන්නෙ.**

මේ සිද්ධිය දංකොටුවෙ පන්නල කියන ගම් ප්‍රදේශයට සම්බන්ධ සිද්ධියක්. ඒ පැත්තෙ ගෙදරක හිටපු ස්වාමි පුරුෂයා මීට අවුරුදු 20 කට පමණ පෙර හදිසි අනතුරකට පත් වෙලා, බොහොම දරුණු විදියට තුවාල ලබල, දැඩි සත්කාර ඒකකයේ සතියක් පමණ දුක් විඳල මියගිහින් තිබුණා. මැරෙන කොට ඔහුගෙ වයස අවුරුදු 55 ක් විතර ඇති. මේ පුද්ගලය ජීවත් වුනේ තමන්ගෙ බිරිඳගෙ මහ ගෙදරට අයත් වත්තෙම, ඒ අයට හිමි වෙච්ච බිම් කොටසක. කොහොම හරි ස්වාමි පුරුෂයා නැති වෙලා ටික කලක් යන කොට, අර වැන්දඹු කාන්තාවට බාහිරින් නොයෙක් ආකාරයේ අමනුස්ස හිරිහැර කරදර එන්න පටන් ගත්තා. කොහේ හරි ඉඳගෙන කෙනෙක් ඇඟට වැලි ගහනවා, හිටි ගමන් බෙල්ල මිරිකනවා, ඇඟ පහුරු ගානවා, ඇඟ දැවිල්ලයි... මේ ආදී වශයෙන් මොනව හරි දැන ගන්න ලැබිල තිබුණා. ඒවට විවිධ උපක්‍රමත් යොදල තිබුණා. සමහර කට්ටඩියො ගෙනත් ඒ අමනුස්ස බලවේගය අයින් කරන්න කියල විවිධාකාරයේ බන්ධන හිර කිරීම් කරල තිබුණා. අඳුන්වලින් බලල විවිධ දේවාල ගානෙත් ගිහින් තිබුණා.

නමුත් මේ අමනුස්සය හෙවත් ඥාති ප්‍රේතය මොකද කරන්නෙ, අර වෙලාවට කට්ටඩියොත් රවට්ටල වෙනත් පොඩි පොඩි අමනුස්සයින්ව එතනට ගෙනත් දාල පැනල දුවනවා. ඒ තරම් බලවත්. මේ විදියට බලවත් අමනුස්සයින් තමන්ව අල්ල ගෙන කොටු කර ගන්න හදන කොට, ඒ වෙනුවට වෙනත් අමනුස්සයො පාව දීල රවට්ටල පැන ගන්න අවස්ථා තියෙනවා. මෙතනදිත් ඒ වගේ දෙයක් තමයි සිද්ධ වුනේ. අන්තිමට බලන කොට අහුවෙලා තියෙන්නෙ අවශ්‍ය කෙනා නෙවෙයි, නිකං වැඩක් නැති පොඩි පෙරේතයො ටිකක්. ඉතින් මේ බලවේගය නැවතත් අර විදියටම ඒ කාන්තාවට කරදර කරන්න පටන් ගන්නවා. පෙරේත තටු ආදිය තියන කොටත්, ඒවත් භුක්ති විඳල, කොහොම හරි අල්ලල ගැටගහන්න ඉස්සෙල්ල පැනල යනවා. මේ වගේ තත්ත්වයක් තමයි දිගින් දිගටම තිබුණෙ.

දැන් මේ කාන්තාවගෙ සහෝදරයෙක් පන්සලට ඇවිත් සාසනික කටයුතුවලට සම්බන්ධ වෙලා නිතර නිතර බණ අහල භාවනා කරනවා. තමන්ගෙ සහෝදරියට සිද්ධ වෙන මේ කරදර හිරිහැර ගැන, බැරිම තැන මා ළඟට ඇවිත් ඔහු මේ විදියට කිව්වා. ඉතින් මම යොමු කරල බලන කොට මේ කාරණය අර විදියට දැක්කා. ඒ අර ස්වාමි පුරුෂයා තමයි දැන් මේ පරදත්තුපජීවියෙක් (අනුන් දෙන දේ තුලින් තමන්ගෙ ජීවිතයට උප ජීවයක් ලබා ගන්නා), අමනුස්සයෙක් එහෙම නැත්නම් ඥාති ප්‍රේතයෙක් විදියට ඉඳගෙන කරදර කරන්නෙ. ඒ ඥාති ප්‍රේතයා එහෙම ලේසියෙන් ඔය කියන ක්‍රමවලට අල්ලන්න බෑ කියන කාරණයත් මම දැක්කා. හැබැයි දොළොස් පිරිකරක් එක්ක දානයක් දීල පුණ්‍යානුමෝදනාවක් කළාම, ඒකෙන් පින් ගන්න බලාපොරොත්තුවෙන් ඉන්න බවත් මට වැටහුණා. එහෙම පින් ගන්න පුළුවන් තැනක තමයි හිටියෙ. ඊට පස්සෙ ඒ ඥාති ප්‍රේතය මා ඉදිරියේ පෙනී හිටියා. එහෙම පෙනී ඉඳල, දානයක් දීල පුණ්‍යානු-මෝදනාවක් කළොත් මගෙන් කිසි ප්‍රශ්නයක් ඇති වෙන්නෙ නෑ කියල කිව්වා. ඊට පස්සෙ ඒ අමනුස්සය බලාපොරොත්තු වෙන දේවල් දැනගෙන, දොළොස් පිරිකරක් එක්ක දානයක් දෙන හැටි ජීවත් වෙලා ඉන්න ඒ පිරිසට විග්‍රහ කරල දුන්නා.

මේ වගේ දානයක් දෙන කොට දෙන්න ඕන ක්‍රමයක් තියෙනවා. මොකද බොහෝ අවස්ථාවල දන් දෙන කොට භික්ෂූන් වහන්සේලාට විතරක් දානෙ දුන්නම, ඒ ඥාති අමනුස්ස කොටස් ඉන්නෙ බඩ ගින්නෙ. එතකොට දානයක් දීල පින් අනුමෝදන් වෙලා සතුටු වෙන්න කිව්වට එහෙම සතුටු වෙන්න බෑ. තමන් වෙනුවෙන් අනුන්ට දානෙ දීල සන්තෝස වෙන්න කියනවා. නමුත් තමන් බඩගින්නෙ ඉන්නෙ. ඉතින් එතකොට තමන් බඩගින්නෙ ඉන්නව මිසක් ඒ දානෙ දිහා බලල සතුටු වෙන්න පුළුවන් කමක් නෑ. බඩ ගින්න නිසා දැඩි අසහනය ඒ තරම් වැඩියි. ඉස්සර නම්, මම ඔය වගේ අවස්ථාවලදි ඒ වගේ අවශ්‍යතාවයන්ට ගැලපෙන විදියට බලල, මනෝමය වශයෙන් ඒ අවශ්‍ය දේවල් මවල ඒ අයට යවන ක්‍රමයක් තිබුණා. දානෙ දෙන කොට මනෝමය වශයෙන් ඒ අයට අවශ්‍ය දේවල් ඔක්කොම ලැබෙන්න කියල අධිෂ්ඨාන කරල තමයි ඒ දේ සිද්ධ කරන්නෙ. එතකොට ඒ අයට ඒ වෙලාවෙම ඒ අවශ්‍ය දේවල් නිර්මාණය වෙලා ලැබෙනවා. නමුත් ඉතින් ඒක හැමෝටම කරන්න බෑ. ඒකට මනෝමය වශයෙන් මවල දෙන සෘද්ධි ක්‍රමය පුරුදු වෙලා තියෙන්න ඕන.

මේ නිසා ඒ වගේ වෙලාවකදි මොකද කරන්නෙ, ඒ අයට භෞතික වශයෙන් ආහාර තටුවක් වෙනම හදල තියන්න ඕන. පෙරේත තටුව කියල කියන්නෙ ඒක තමයි. ඒකට බත් පිඟානක් එක්ක කරවල හරි මාළු කෑල්ලක් හරි ☞

මස් කැල්ලක් හරි බැදල මොනව හරි ව්‍යංජන 5 ක් විතර තියන්න ඕන. මොකද උන්ට ප්‍රියමනාප දේ දෙන්න වෙනවා. ව්‍යංජන පහට වැඩි වුනත් කමක් නෑ. ඒකට කොළ මැල්ලුමක් සමග මොනවහරි හොද්දකුත් තියන්න ඕන. මුංඇට හොද්දකට තමයි වැඩිය කැමති. මඤ්ඤොක්ක තම්බල, අර්තාපල් අල ව්‍යංජනයක් තියන්න පුළුවන් නම් තවත් විශේෂයි. මොකද අමනුස්සයො ඒවටත් විශේෂයෙන් කැමතියි. මේව පිඟන් කෝප්පවලට බෙදන කොටත් අලුත් ඒව ගන්නෙ නෑ. පාවිච්චි කරපු, පරිහරණය කරල අහකට දාපු පරණ පිඟන් කෝප්ප, පොල් කටු වගේ ඒව තමයි ගන්නෙ. ඒ වගේ දේවල්වලට තමයි ඒ පරදත්තුපජ් ජීවීන් කියන අමනුස්ස කොටස් වැඩියෙන් කැමති. මේ පිඟන් කෝප්ප ගන්න කොටත් වීදුරු ඒව නැතිව ප්ලාස්ටික් වගේ ඒව ගන්න පුළුවන්නම් වඩා හොඳයි. මොකද ඒව ඉවත් කරන කොට කැඩිල බිඳිල කාටවත් කරදර අනතුරු සිද්ධ වෙන්නෙ නැති නිසා. ඒ වගේම මෙතනදි බත්, ව්‍යංජන, කැවිලි පළතුරු ආදිය තියන්න පිඟන් දීසි කෝප්ප වෙනුවට අවශ්‍යනම් බත් ඔතන පොලිතින් මලු හෝ කොලපොත් වගේ සුදුසු දෙයක් යොදාගන්නත් පුළුවන්. එතකොට ඒවට වෙන වෙනම බෙදල වහන්නෙ නැතිව විවෘත කරල තියන්න ඕන. ඒ වගේම මේ තටුවට උඩින් පැත්තක, බත් බෙදාගෙන කන්න කෙහෙල් කොල කැලි 4 - 5කුත් තියන්න ඕන.

දැන් මේ තටුවට අර බත් එක්ක ව්‍යංජනත් තියල, තැඹිලි ගෙඩියක ඇස්ස කපල මූඩිය වගේ වහල ඒකත් එක්කම තියන්න ඕන. මොකද බඩ පපුව දැවිල රත් වෙලා ඉන්න අමනුස්සයො ඉන්නවා. ඒ අයට තැඹිලි වතුර ගුණයි. ඊට අමතරව බොන්න වතුර එකකුත් තියන්න ඕන. ඒ වතුර එකට අයිස් කැටයක් දැම්මොත් තවත් හොඳයි. එතකොට අර තියෙන දාහ ගතිය දුරු වෙන්න හේතු වෙනවා. මොකද සමහර අමනුස්ස කොටස් තැඹිලි වතුරට කැමති නෑ. මේ වතුර තියන කොටත් බොන්න ගන්න වතුර එක වෙනම කෝප්පයක තටුවත් එක්කම උඩින් තියල, තවත් තරමක ලොකු වතුර භාජනයක් මූණ කට හෝද ගන්න තටුව යටින් තියන්න ඕන. ඒ යටින් තියන වතුර භාජනයට, වතුර ගන්න සුද්ද කරපු පොල් කටුවකුත් දාන්න ඕන. මොකද අපි මේ ලෝකෙ පාවිච්චි කරනව වගේම ඒ අයගෙ ලෝකෙ ඒ පාවිච්චි කරන්න අවශ්‍ය කරන විදියට භාණ්ඩ මැවිල එන්න නම් භෞතික භාණ්ඩ තියන්න ඕන. ඒ වගේම තැඹිලියි, වතුරවලටයි අමතරව සීනි දාල තේ කහට එකකුත් (ප්ලේන්ටියක්) තියන්න පුළුවන් නම් තවත් හොඳයි. මොකද හුඟක් අමනුස්සයො ආහාර ගන්න ඉස්සෙල්ල තේ එකක් බීල බඩ දිග ඇරගන්න බලාපොරොත්තුවෙන් ඉන්නවා. ඒ කියන්නෙ මනුස්සයො වෙලා ඉන්නකොටත් තිබිච්ච සිරිතක්. මොකද මනුස්සයින්ට වුනත් කෑම නොකා ඉඳල එකපාරටම කන්න ගියොත් අමාරුයි. තේ එකක් බීල කෑම කෑවම තමයි ඇඟට ප්‍රබෝධයක් දැනෙන්නෙ. ඒ වගේම මේ අමනුස්සයින්ට හාමත් වෙලා ඉඳල එකපාරටම කෑම කන්න බෑ. ඉතින් තේ එකක් බීල හිටියොත් ටික වෙලාවක් යනකොට ඇඟට ප්‍රබෝධයක් එනවා. ඊට පස්සෙ හොඳට කන්න පුළුවන්. විශේෂයෙන් සමහර අමනුස්සයො කියලම එහෙම ඉල්ලනවා. ඉතින් අර වගේ ඇලි මැලි ගතියට පත්වෙලා ඉන්නකොට ඉස්සෙල්ලම තේ එකක් බීල කෑම කන්න බලාගෙන ඒ අය ඉන්නවා. ඒ වගේම මේකට කැවිලි ටිකකුත් තියන්න ඕන. මොකද සමහර අමනුස්සයො කැවුම් වගේ මොනව හරි කැවිලි කාල තේ බොන්න කැමැත්තෙන් ඉන්නවා. සමහර අමනුස්සයින්ට බඩගිනි වෙලා හාමත් වෙලා ඉන්නකොට එකපාරටම බර ආහාර ගන්න බැරි නිසා, අර වගේ පොඩි දෙයක් ඉස්සෙල්ලම ඉල්ලනවා. ඒකෙන් පස්සෙ යම්කිසි ශක්තියක් එනවා. ඒ විදිහට අනුපිලිවෙලින් කන අයත් ඉන්නවා. මේ වගේ විවිධ අවශ්‍යතා තියෙන දහස් ගණන් අමනුස්සයො පෙරේත තටුවකට එනවා. ඒ නිසා පුළුවන් උපරිමයෙන් මේ සියල්ලම පරිපූර්ණ වෙන්න තියන්න පුළුවන් නම් හුඟක් හොඳයි. ඒ අයත් බොහොම සන්තෝස වෙලා පුණ්‍යානුමෝදනාවට සම්බන්ධ වෙනවා. ඊළඟට පළතුරුත්, කොටපු දැහැත් විටකුත් (බුලත්, පුවක්, හුණු සමග එනසාල් කරාබුනැටි ආදියත් එකතු කරල) තියන්න පුළුවන් නම් තවත් හොඳයි. ඒ දැහැත් විට අයිනෙන් දුම්කොළ කැල්ලකුත් වෙනම තියනවා. මේ බුලත් විට කියන එකත් ඈත අතීතයේ පටන්ම ආහාර වේලක් ගත්තට පස්සෙ සාමාන්‍ය සිරිතක් වශයෙන් පාවිච්චි කරනවා. බත බුලතින් සංග්‍රහ කරනව කියන්නෙත් ඒකයි. ඒ වගේම ඉන වටේ ඔතන්න පුළුවන් මට්ටමට යාර දෙකක් විතර දිග අලුත් සුදු රෙදි කැල්ලකුත් තියන්න පුළුවන් නම් තවත් හොඳයි. ඒ රෙදි කැල්ල පැත්තකින් නූල් පොටක් හරි මහල තියන්න පුළුවන් නම් හුඟක් හොඳයි. සම්පූර්ණයෙන්ම මැහුවෙ නැති වුනාට කමක් නෑ. මොකද සමහර අමනුස්සයො ඉන්නවා ඇඟේ නූල් පොටක්වත් නැතුව නිර්වස්ත්‍රව. ඉතින් බොහොම අමාරුවෙන් තමයි ඒ අය අතින් විලිවහගෙන ඉන්නෙ. සමහර වෙලාවට ලැජ්ජාව නිසා මේ වගේ අවස්ථාවකට සම්බන්ධ වෙන්න බැරිව ඉන්නවා. ඒ වගේ අයට රෙදිපිළි මැවිල එන්න තමයි මේ විදිහට රෙදිකඩක් තියන්නෙ.

දැන් මෙහෙම හදපු තටුව තියන්නත් තැනක් තියෙනවා. කෙහෙල් ගහක් වගේ ගහක් යට, වැසිකිලි වලක් උඩ, දර මැස්සක් උඩ, දිරච්ච දර කොටයක් ළඟ... මේ ආදී වශයෙන් මොකක් හරි අගුපිලක දණ හිස මට්ටමට උස මේසයක්, පුටුවක් වගේ එකක් තියල ඒක උඩ තමයි තියන්න ඕන. එහෙම නැත්නම් වත්තෙ කොහේ හරි තියෙන මඩුවක වුනත් කමක් නෑ. කොහොම හරි ගේ ඇතුලෙ තියන්නෙ නැතිව එළියට ගන්න එක තමයි වඩා හොඳ. මොකද අර වගේ ස්ථාන තමයි ඒ අය නිතර වාසය කරන්න කැමති ගැලපෙන ස්ථාන. දැන් මේ තියපු තටුව උඩ බත් පිඟාන, ව්‍යංජන, බොන වතුර පුරවපු කෝප්පය, තැඹිලි ගෙඩිය, තේ එක, දැහැත් විට, කැවිලි, පළතුරු, රෙදි කැල්ල, කෙහෙල් කොල තියෙනවා. ඒ සියල්ලම උඩින් කෙහෙල් කොළයක් තියල වහනවා. තටුවට යටින් තමයි අර මූණ හෝදන වතුර භාජනය තියන්නෙ. දැන් ඒ විදියට තියල ඒක අරගෙන භුක්ති විඳින්න කියල ගෙදර කවුරු හරි ලවා විස්තර ඇතිව කියන්න ඕන.

''මේ ස්ථානය ඇසුරු කරගෙන ඉන්නා වූ කවුරු හරි මියගිය ඥාති හිතමිත්‍රාදීන් ඉන්නව නම්, අමනුස්ස ආදී කොටස් ඉන්නව නම්, අණවින කොඩිවින බන්ධනවලට බැඳිච්ච අය ඉන්නව නම්, ඒවායින් නිදහස් වෙලා ඒ අය මේ දානය අරගෙන භුක්ති විඳින්න. මේ දානය ඔබලට කැපයි කැපයි කැපයි. අද දවසේ .... අහවල් පන්සලට ගිහින් මෙහෙම දොළොස් පිරිකර සහිත දාන පූජාවක් දීල පැන් වඩල පුණ්‍යානුමෝදනාවක් කරනව, ඒක අනුමෝදන් වෙන්න'' මේ ආදී වශයෙන් කියන කොට ඉහත සඳහන් කරපු විදියට කැපයි කියල තුන් වතාවක් කියල, දානෙ දෙන ස්ථානයත් සඳහන් කරන්න ඕන. ඒ වගේම පින් දෙන්න ඕන විශේෂ පුද්ගලයන් ඉන්නව නම් ඒ අයගෙ නම් සඳහන් කරන්නත් ඕන.

ඒ වගේම මෙතනදි පෙරේත තටුවට තියන දානයයි, බුද්ධ පූජාවත් සමග තියන සාංඝික දානයයි වෙන වෙනම තමයි උයන්න ඕන. එහෙම නැතිව එකම භාජනවල උයල දෙකට බෙදල තියන්නෙ නෑ. ඒ දාන දෙකට අවශ්‍ය බත් සහ ව්‍යංජන වෙන වෙනම වෙන් කරල උයන්න ඕන. සාංඝික දානය එක පැත්තක හදන ගමන් තවත් පැත්තකින් ලිපක් බැඳල අනෙක් දානෙ හදන්නත් පුළුවන්. එහෙම නැත්නම් එක දානයක් උයල ඒ ලිපේම අනෙක් දානයත් උයා ගත්තට කමක් නෑ. ගෙදර පාවිච්චියට ගන්න වළං මුට්ටි වුනාට ☞

කමක් නෑ, ඒව හෝදල ගන්න පුළුවන්. හැබැයි ඒව සාංඝික දානෙ උයන්න පාවිච්චි කළොත්, ඒ දාන කටයුතු අවසන් වෙන කල් විතරක් පෙරේත තටුව දෙන දානෙට හරි ගෙදර උයන පිහන කටයුතුවලට හරි ඒ භාජන යොදා ගන්නෙ නෑ. අඩු ගානෙ හැන්දක්වත් යොදා ගන්නෙ නෑ. එතකොට ඒ සඳහා වෙනම ඒව පාවිච්චි කරන්න වෙනවා. මොකද ඒ සාංඝික දානෙ උයපු භාජනවල තියෙන ඉඳුල් පොඩ්ඩක් හරි පෙරේත තටුවෙ දානෙට හෝ වෙනත් උයන පිහන කටයුත්තකට සම්බන්ධ වුනොත් ඒක ගැලපෙන්නෙ නෑ. මොකද මේ වෙනකොටත් බුද්ධ පූජාව තියල සාංඝික දානෙ දීල ඉඳුල් කරල නැති නිසා. නමුත් දාන කටයුතු සියල්ල අවසන් වුනාට පස්සෙ ඒ දානෙ උයන්න ගත්තු භාජනත් ගෙදර පාවිච්චියට ගන්න පුළුවන්. ඒ වගේම මේ සියලු වැඩකටයුතුවලින් පස්සෙ පෙරේත තටුව අයින් කරන කොටත්, ඒ සම්පූර්ණ පෙරේත තටුවෙ තියෙන භාජනත් එක්කම එක පොට්ටනියකට දාල කට ලිහල තුංමං හන්දියක අයිනකින් තියන්න ඕන. හැබැයි රෙදිකෑල්ල විතරක් ඒ පොට්ටනිය ඇතුලට දාන්නෙ නැතිව, ඒක පොට්ටනියට උඩින් ඉඳුල් ගෑවෙන්නෙ නැතිවෙන්න වෙනම පැත්තකින් තියන්න ඕන. ඊට පස්සෙ ඒකට මොනව වුනත් ප්‍රශ්නයක් නෑ.

දැන් මේ විදියට විස්තරය සම්පූර්ණයෙන්ම කියල, ඉස්සෙල්ලම පෙරේත තටුව දීල, සාංඝික දානෙ වෙනම හදල, බුද්ධ පූජාවත් තියල පූජ කරල පුණ්‍යානුමෝදනාව කරන හැටි විස්තර ඇතිව ඒ අයට කියල දුන්නා. දැන් ඉතින් මම ඔය වගේ කටයුතුවලින් ඈත් වෙලා විවේකීව ඉන්න නිසා අපේ පන්සලේ වැඩ ඉන්න, භාවනා කරල යම් කිසි සමාධි ශක්තියක් වැඩිච්ච හාමුදුරුවො නමකට කියල ඒ අනුමෝදනාව කරගන්න කිව්වා. පන්සලට සම්බන්ධ වෙලා දහම් කටයුතුවල නිරත වෙලා ඉන්න උපාසක මහත්තයෙකුට සම්බන්ධ ප්‍රශ්නයක් නිසා උන් වහන්සෙත් දානෙ අරගෙන අනුමෝදන් කරන්න ඒ ගෙදරටම වැඩම කළා.

ඉතින් උදෙන්ම වෙන වෙනම දානෙ උයල අර පෙරේත තටුව මියගිය කෙනා හිටපු ගෙදර පේන තෙක් මානයේ තිව්වා. තියල අර විදියට ආරාධනා වාක්‍යයකුත් කියල, ඒ ස්වාමීන් වහන්සෙත් ඊට පස්සෙ දානෙ අරගෙන පින් අනුමෝදන් කළා. මේ වගේ වෙලාවට අර පෙරේත තටුවෙ තියෙන දානෙ හොඳට බඩ පිරෙන්න කාල තමයි ඒ අය අනුමෝදනාවට එන්නෙ. එහෙම කාල මොහොතකින් එතනින් පිටත් වෙනවා.

දැන් ඊළඟට ඔය අනුමෝදනාව කරන මොහොතත් මම දන්න නිසා, ඒ වෙලාවෙදි මම මෙහේ ඉඳල යොමු කරල බැලුවා. බලන කොට ඒ ස්ථානයට සම්බන්ධ තවත් වයසක ගන්ධබ්බයො දෙන්නෙක් මට කියනව, අනුමෝදනාවෙදි අපේ නම් කිව්වෙ නෑ කියල. මොකද අර කරදර කරන්න මුල් වෙච්ච ප්‍රධාන කෙනාගෙ නම විතරයි මේ අය දන්නෙ. අනෙක් අයගෙ නම් කියන්න, ඒ අයත් මෙතනට සම්බන්ධ වෙලා ඉන්නව කියල දැනගෙන ඉඳල නෑ. ඒ නිසා අර පුද්ගලයගෙ නම මුල් කරල අනෙක් අයට පොදුවෙ තමයි පින් අනුමෝදන් කළේ. දැන් මේ අනිත් දෙන්නගෙන් එක් කෙනෙක් කාන්තාවක්. ඒ කාන්තාව අර පුද්ගලයට හුඟක් කලින් මියගිහින් හිටපු මේ අයගෙ ලොකු අම්ම කෙනෙක්. එයා ටිකක් සද්දෙට කෑ ගහල කිව්ව, අපේ නම් කිව්වෙ නෑ කියල. අනෙක් කෙනා එච්චරම නැතත් එයත් ඒ කතාවම කිව්වා. දැන් ඉතින් දානෙ දීල අනුමෝදන් කරලත් ඉවරයි. හැබැයි ඒ අය එහෙම කිව්වට, මට පේනව ඒ අයට කිසිම අඩුපාඩුවක් නැතිව අනුමෝදන් වෙන්න පුළුවන් කියල. ඒ නිසා මම ඒ අයට කිව්ව, කිසි අඩුපාඩුවක් නැතිව දාන මාන ලැබිල සියල්ලෙන්ම සම්පූර්ණ වෙලා අභිවෘද්ධිය උදාවෙන්න, සුඛිත මුදිත වෙන්න කියල මම අධිෂ්ඨාන කරනව කියල. කියන කොටම ඒ අය හරි හරි කියල සන්තෝස වුණා. ඉතින් මම මෙහේ ඉඳන් අර විදියට අධිෂ්ඨාන කරන කොට ඒ කියන විදියටම ඒ අයටත් ලැබීම පහළ වුණා.



පූජා අවස්ථාවකදී කැමරාවක සටහන් වූ අමනුස්ස රුවක්

දැන් ඊළඟට සමාධියට යොමු කරල බලන කොට, ඒ ගෙදර ඊසාන දිග පැත්තට වෙන්න අඹ ගහක් හරි ගිනි සපු ගහක් හරි තියෙනවා. අර ප්‍රධාන ඥාති ප්‍රේතය, ඒ කියන්නෙ මියගිය ස්වාමි පුරුෂයා ඒ පින් අරගෙන වෘක්ෂ දේවතාවෙක් බවට පරිවර්තනය වෙලා ඒ ගහේ මහ විමානයක් එක්කම පහළ වෙලා. එයා තමයි මෙතන බොහොම බලවත් වෙලා ඉස්සෙල්ල කරදර කළේ. අනෙක් අය රවට්ටල, මාව අල්ලන්න බෑ වරම් තියෙනවයි කියල හිටපු කෙනා තමයි දැන් මේ විදියට නිදහස් වුනේ. ඒ වගේම අර නම් කිව්වෙ නෑ කියල කෑ ගහපු දෙන්නත් එතනින් නිදහස් වෙලා මිනිස් අත් බැව්වලට යන්න පුළුවන් ගන්ධබ්බයො විදියට පිටවෙලා ගියා. ඊට අමතරව තවත් බොහෝ පිරිස් සම්බන්ධ වෙලා පින් අරගෙන සතුටින් විසිරිලා ගියා. එයින් බොහොමයක් සුගතිගාමී වුණා.

ඒ වගේම මෙතනදි තවත් විශේෂ සිද්ධියක් වෙලා තිබුණා. අනුමෝදනාව ඉවර වෙලා බලන කොට, අර පෙරේත තටුවෙ තිබුණ බත් පිඟානෙ පැත්තකින් බත් සහ ව්‍යංජන, හරියට මනුස්සයෙක් කාපු හැටියට අඩු වෙලා තිබුණා. බත් ඇටයක් වත් බිම ඉහිරිලත් නෑ. ඒ අවස්ථාවෙදි එතනට වෙනත් සතෙක් ඇවිත් කාලත් නෙවෙයි. අර ඩිංගට මේකෙ භෞතික විදියට තිබ්බ බත් ව්‍යංජන අඩු වුනා. ඒ අර ඥාති ප්‍රේතයින් ඇතුළු අමනුස්ස කොටස් ඇවිත් කාල තිබුණ නිසා. මොකද අමනුස්ස ගන්ධබ්බ ශරීරයක ඝනත්වය කියන්නෙ මිනිස් කයින් 1/1000 ක්. එතකොට අර පංගුවෙන් භෞතිකව ආහාර අඩු වෙන්න නම්, ඒ අය දහස් වාරයක් බඩ පිරෙන්න කන්න ඕන. මොකද ඒ බත් පංගුවෙන් 1/1000 ක අංශු තමයි එක සැරයක් කෑවම ඉවත් වෙන්නෙ. ඒ වගේ යම්කිසි ගන්ධබ්බ කොටසක් ඉන්නව නම්, ඒ පිරිසම ඇවිත් පුංචි පුංචි ශරීර මවාගෙන කනවා. එතනිනුත් ශක්තිමත් අය වැඩියෙන් කනවා. එතකොට ඒ ප්‍රමාණය භෞතික වස්තුවෙත් අඩු වෙනවා. ඉතින් මෙතනදිත් අර මියගිය පුද්ගලය මුල් කරගෙන පොදුවේ දානය දුන්නම, ඔතනට ඒ අමනුස්ස පුද්ගලයත්, අර පස්සෙ නම් කිව්වෙ නෑ කියල කෑ ගහපු දෙන්නත්, අමතරව තවත් සෑහෙන පිරිසකුත් ගුප්ත ලෝකවලින් පින් අනුමෝදන් වෙන්න ඇවිත් හිටියා. ඒ අය කවුද කියල මම යොමු කරල බැලුවෙ නෑ. නමුත් අර ජීවත් වෙලා ඉන්න අයගෙ පෙර හිටපු ඥාති හිත

මිත්‍රාදීන් වශයෙන් සම්බන්ධකම් තිබිච්ච අය. ඉතින් මේ විදියට විශාල පිරිසක් ගුප්ත ලෝකයෙන් ඇවිත් අනුභව කිරීම නිසා තමයි අර භෞතිකව තිබිච්ච බත්, ව්‍යංජන අඩු වුනේ. දැන් ඔය විදියට අධිෂ්ඨාන කරන්න පුළුවන් නම්, අවශ්‍ය නම් එක බත් පිඟානකින් කෝටි ගානකට වුනත් මවල දෙන්න පුළුවන්. ඒක මනෝමය සෘද්ධි ක්‍රමයක්.

ඊළඟට මේ වගේ තවත් සිද්ධියක් මේ මෑතකදී සිද්ධ වුනා. ඒකට සම්බන්ධ පිරිස පදිංචි වෙලා හිටියෙ ගම්පහ උඩුගම්පොළ කියන ප්‍රදේශයේ. ඒ පවුලෙ බිරිඳට දරුවෙක් ලැබුණා. සාමාන්‍යයෙන් දරුවෙක් ලැබිල මාසයක් විතර යනකල් කිල්ල කියල දෙයක් තියෙනවා. ඒකට කියන්නෙ වැදූ කිල්ල කියල. ඒ කිල්ල නිසා ඒ ඒ ස්ථානවල යම් යම් දෝස තියෙනව නම්, එතන ඉන්න අමනුස්ස ආදී කොටස් ඇවිස්සෙනවා. මොකද එහෙම දෝස තිබුණොත්, ඒ අය යම් යම් අයට කරදර කරන්න බලාපොරොත්තුවෙන් ඉන්නව නම්, ඒකට පසුතලයක් හැදෙනවා. එහෙම ඇවිස්සිලා එතන ඉන්න පිරිසට විවිධ අඩත්තේට්ටම් කරනවා. ඒ නිසා සාමාන්‍යයෙන් ඒ කිල්ල නැති වෙන්න, ඒ ස්ථානයේ පිරිස් සම්බන්ධ කරල අර වගේම පෙරේත තටුවක් තියල සාංඝික දානයක් දීල පුණ්‍යානුමෝදනාවක් කරනවා. ඉතින් මේ කියන පිරිසටත් අර ළමය ලැබිල දවසක් දෙකක් යන කොට විවිධ කරදර උපද්‍රව එන්න පටන් ගත්තා. ඒ ළමය වදපු අම්මට උණ ගැනිල දුක් වෙන්න, අඬන්න පටන් ගත්තා. තමන්ගෙ ස්වාමි පුරුෂයා දෙන දෙයක් කන්නෙ බොන්නෙ නෑ, ඔහුව පේන්න බැරි තත්ත්වයට පත්වුණා. මේ විදියට කරදර එන්න එන්නම වැඩි වෙන්න පටන් ගත්තා. ඒත් මොකක් වෙලා ද කියල හොයාගන්න බැරි වුනා. නමුත් මොකක් හරි අමනුස්ස බලපෑමක් තියෙනව කියල දැනගෙන, ඒ ගෙදර හිටපු ඒ අම්මගෙ සහෝදරයෙක් කිව්ව, අපි මළගිය අයට කියල දානයක් වත් දුන්නෙ නැනෙ, ඒ වගේ දෙයක් කළේ නැනෙ කියල. මෙහෙම කියන කොටම අර මස්සිනා (දරුවගෙ තාත්ත) අපිට ඕව කරන්න බෑ, තිකන් සල්ලි නාස්ති වෙනව විතරයි, වැඩක් නැති හිස් බොරු වැඩ... ආදී වශයෙන් විවිධ කතා කියල ඒ කාරණය පිළිගත්තෙ නෑ.

ඊට පස්සෙ මොකද වුනේ දරුවගෙ තාත්තටත් අර විදියටම ඇවිස්සිලා කියවන්න පටන් ගත්තා. මං ඉන්නෙ නෑ මේ ගෙදර, මට ඉන්න බෑ මම යනව යන්න... ආදී වශයෙන් ඒ මනුස්සයත් කෑ ගහන්න, ආවේෂයෙන් වගේ කතා කරන්න පටන් ගත්තා. දවසක් ඔහු වැසිකිලියට ගියාම යම්කිසි නොපෙනෙන බලවේගයක් ඔහුගෙ බෙල්ලට වැටෙන්නම පහරදීල, ඒත් එක්කම ඔහු නැගිටල එළියට පැනල, මට ගැහුවා මට ගැහුවා කියල විලාප තිව්වා. එතකොට ගෙදර හිටපු අනිත් අය ඒක විශ්වාස නොකර හිනා වුණා. ඔහොම ඇවිස්සිලා ඉන්න කොට තව දවසක් ඒ මනුස්සය ගෙදර තිබිච්ච එළියෙ තියෙන නාන කාමරයට ගියා. ඒකෙ තිබුණා වතුර උණු කරන ඇලුමිනියම් මුට්ටියක්. දැන් ඔහු නාන කාමරයෙ ඉඳල නැවතත් එළියට එන කොටම, අර මුට්ටිය පස්සෙන් ඇවිත් ඔළුවෙ වදින්න පටන් ගත්තා. දැන් මේ බිම තිබිච්ච මුට්ටිය තමයි උඩින් ඇවිත් ඔළුවෙ වදින්නෙ. මේ මනුස්සයා ඒකට බය වෙලා මුට්ටියට බැණ බැණ දුවනවා. මුට්ටියත් පස්සෙන් එනව මේ මනුස්සයට පහර දිදී. ඒ වෙලාවෙදි ඔහු ඒ මුට්ටියට අතින් ගහල මුට්ටියත් එබිල තිබුණා. දැන් මෙහෙම කෑ ගහගෙන එන කොට, මේ මුට්ටිය මනුස්සයගෙ පස්සෙන් ඇවිත් ගෙට ඇතුල් වෙන කොටම එතනදි බිම වැටුණා. ගෙදර උදවිය සද්දෙ ඇහිල ඇවිත් බලන කොට, මුට්ටිය බිම වැටිල ඒත් එක්කම මහ විසාල වවුලෙක් එතනින් ඉගිල්ලිලා ගිහින් තියෙනවා. මේ අය හිතල තියෙන්නෙ අර වවුල ඒ මුට්ටිය අරන් එන්න ඇති කියල. නමුත් එතනින් වැඩේ නැවතුනේ නෑ. ඊට පස්සෙ වැලි ගහල, ගල් ගහල තවත් කරදර කරන්නත් පටන් අරගෙන තිබුණා. මොකද ඔය අමනුස්ස ලෝකවල තියෙනව ඔහොම වැලිවලින්, ගල් කැටවලින් ගහන ක්‍රම. අන්තිමට අසූචිත් ගහනවා. ඒ විදියට තමයි උන් ඇවිස්සිලා එන්නෙ. ඒ අතර මීයොයි, කුඹියි මේ ගෙදර හැම තැනම කවදාවත් නැති විදියට පොකුරු පිටින් දුවන්න පටන් ගත්තා. මේ ඔක්කොම ප්‍රශ්න ඊ 8 න් පස්සෙ තමයි ඇවිත් තියෙන්නෙ.

ඉතින් ඔහොම ඇවිස්සිලා වැඩේ දරුණුවට පටන් ගත්තට පස්සෙ තමයි මාව හමුවෙන්න ආවෙ. මම යොමු කරල බලන කොට බලවත් අමනුස්ස ගන්ධබ්බයෙක්. බොහොම රෞද්‍රයි. ඒ ස්ථානයට, පෙර සම්බන්ධයක් තිබිච්ච කෙනෙක්. ඒ විස්තරය බලල අර කලින් කිව්ව විදියටම පෙරේත තටුවක් තියල, දොළොස් පිරිකරක් එක්ක දානයක් දෙන්න කියල මම ඒ අයට කිව්වා. කලින් විදියටම ඒ කටයුතු කරන හැටිත් විස්තර කරල දුන්නා.

දැන් මෙහෙම විස්තර කර ගෙන යන කොට, අර කරදර කරපු අමනුස්සයා පැත්තක ඉඳන් මට කියනව, ඕක කල් තියා කළානම් ඉවරයිනෙ කියල. මොකද අර ගෙදර කට්ටිය දානයක් දෙන්න හදන කොට, අර මනුස්සයා ඒක වළක්වල තිබුණ නිසා ඒකට තරහින් තමයි එහෙම කිව්වෙ. දැන් මෙහෙම විස්තර කරගෙන යන කොට ඒ අයට දෙන දානෙට (පෙරේත තටුවට) තියන්න ඕන දේවලුත් මට කියනවා. අපිට අහවල් එක ඕන කියල ඒ කියන එකත් මට ඇහෙනවා. මැල්ලුමකුයි, පතෝල මාලුවකුයි, හොද්දකුයි ආදී වශයෙන් මොනව හරි වර්ග තුනක් කිව්වා. ඒ විදියට ඕන දේ ක්ෂණිකවම ඒ අය කියනවා. මෙහෙම කතා කර කර ඉන්න කොට ඒ අයත් ඒකට හොඳින් ඇහුම් කන්දීගෙන තමයි ඉන්නෙ. ඒ අයත් මොනව හරි කියන කොටම ඒ සංඥාව මට දැනෙනවා. ඒ අයගෙ ජීවත් වෙලා ඉන්න පිරිස බොරුවක් නම් කියන්නෙ, ඔය බොරු කියන්නෙ කියල එහෙමත් ඒ අය දැනුම් දෙනවා. ඒ කියන්නෙ ඒ අයගෙ ගෙදර සීමාවෙ හරි කොහේ හරි ඉඳගෙන තමයි ඒ දැනුම් දීම කරන්නෙ. හරියටම කොයි පැත්තෙන්ද කියල කියන්න බෑ. නමුත් සද්දෙ එනවා, ඇවිත් කියනවා. කෙනෙක් ඇත ඉඳන් කියන බව ඇහෙනවා. මොකද **මේ ගන්ධබ්බයෙකුට / අමනුස්සයෙකුට ලංකාව කියන්නෙ අල්ලක් තරම් පොඩි ප්‍රදේශයක්. ඒ නිසා විශාල ප්‍රදේශයක ක්ෂණිකවම සුළු මොහොතකින් ක්‍රියාත්මක වෙන්න පුළුවන්.** ඉතින් මේ වගේ දෙයක් කරන්න කතා කරන කොටම ඒ අයට ඒ ආරංචිය පැතිරිලා යනවා. ඊළඟට බොහොම සන්තෝසෙන් තමයි වැඩේ කෙරෙනකල් බලන් ඉන්නෙ. දැන් ඒ විදියට කියල අපිට අරව මේව දෙන්න කියල ඉල්ලුවා. හැබැයි දොළොස් පිරිකරක් එක්ක දානයක් දෙන්න කියල කිව්වෙ මම. ඒක ඒ අයගෙ ඉල්ලීමක් නෙවෙයි. මොකද ඒ අයට ඕන කෑම වර්ග විතරයි ඒ අය කියල ඉල්ල ගන්නෙ.

දැන් ඉතින් මේ අමනුස්සයා තමන්ට කන්න ඕන ජාති කියල, එකක් විතරක් කියන්නෙ නැතිව අසහනයෙන් හිටියා. ඒ තමයි බැදපු මාළු කෑල්ලක් හරි කරවල කෑල්ලක් හරි තියන්න කියන කාරණය. ඒක කියන්නෙ නැතිව හිතේ බලාපොරොත්තුවෙන් ඉන්න බව මට පෙනුණා. මොකද වහරක අරිය චින්තාශ්‍රමය කියන මේ විහාරස්ථානයට දානෙ දෙන කොට, මස් මාළු උම්බලකඩ ආදිය ගේන්නෙ නෑ, ඒ හාමුදුරුවරු ඒව වළඳන්නෙ නෑ කියල ඒ අයත් දන්නවා. ඒ නිසා තමයි කියන්නෙ නැතිව හිටියෙ. නමුත් ඉතින් ඒ වගේ අවස්ථාවකදි අපි අනුකම්පාව දයාව මුල් කරගෙන මස් මාංශ නොවැළඳුවට, ඒ අමනුස්සයින්ට ඒ අවශ්‍යතාවයන් ඉටු කරල දෙන්න වෙනවා. නැත්නම් මහ අසහනයක්. ඉතින් ඔය කාරණය දන්න නිසා මම කිව්ව, මරල ගන්නෙ නැතිව ඔය කොහේ හරි මැරිච්ච සතෙක්ගෙ මස් කෑල්ලක් හරි මාළු කෑල්ලක් හරි අරගෙන හොඳට කර කරල බැදල තියන්න කියල. ඒ විදියට ඒ අයගෙ අවශ්‍යතාව ඉටු කරල දෙන්න ඕන. නැත්නම් ඒක මදි පාඩුවක් වෙනවා.

මේ නිසා ඒක සාංඝික දානෙට සම්බන්ධ කරගන්නෙ නැතිව වෙනම පෙරේත තටුවත් එක්ක තියල ඊළඟට දානෙ හදාගෙන පන්සලට ගෙනිහින් දෙන්න කියල කිව්වා.

ඒ වගේම අර මුට්ටිය වැදිච්ච මනුස්සයට මේ වෙන කොටත් ඔළුවෙ ඉඳන් කරපිටට එනකල් අමාරුව තිබුණා. ඇස් ඉදිමිලා වමනෙ දම දමා ආවේසෙන් වගේ නැගිටගන්නවත් බැරුව තමයි ඔහු හිටියෙ. ඒ නිසා දැන්ම පඬුරක් වෙන් කරල ඒක දානෙ දවසෙ පඬුරු පෙට්ටියට දාල, ඊට පස්සෙ පැන් වඩල පින් අනුමෝදන් වෙන්න කියලත් කිව්වා. ඒ කියපු විදියටම පෙරේත තටුව දීල, දානෙ දීල අනුමෝදනාව කරන එක, අර කලින් අනුමෝදනාව කරපු ස්වාමීන් වහන්සේ මගින්ම සිද්ධ කළා. ඒ අනුමෝදනාව කරල පැන් වඩන වෙලාවෙදීම මේ මනුස්සයගෙ ඇගේ තිබිච්ච ලොකු බරක්, හරියට කර උඩ තිබිල බැහැල ගියා වගේ මුළු ශරීරයම සැහැල්ලු වෙලා ගියා. ඒ වෙලාවෙදි තමයි ඔහුගෙ ඇඟට සහනය ඇවිත් සාමාන්‍ය තත්ත්වයට පත් වුණේ. අර අමනුස්සයගෙ බැල්ම අහක් වෙලා නිදහස් වෙලා ගියේ ඒ වෙලාවෙ. දැන් ඔහොම දොළ පිදේනියක් දීල දානෙත් දීල දවස් කිහිපයයි ගියේ, අර ගෙදර තිබිච්ච ප්‍රශ්න සම්පූර්ණයෙන්ම ඉවරයි. සමගියත් සමාදානයත් හොඳට ඇති වුණා. මොකුත් ප්‍රශ්නයක් නෑ කියල ඒ අයම ඇවිත් කිව්වා.

මම ඒ අමනුස්සය ගැන පස්සෙ යොමු කරල බලන කොට, දැන් අපිට කිසි ප්‍රශ්නයක් නෑ, අපෙන් කිසි කරදරයක් නෑ කියල සද්දයක් ඇහුණා. බලන කොට ඒ හිටපු සීමාවෙත් නෙවෙයි, හුඟක් ඈතකින් විදුලි බුබුළු 3 ක් පත්තු වෙනව වගේ එළි 3 ක් පෙනුණා. ඒ කියන්නෙ ඒ ප්‍රධාන අමනුස්සයත් එක්ක හිටපු තවත් දෙන්නෙකුත් නිදහස් වෙලා. එතකොට ඒකෙන් පැහැදිලිවම පේනව ඒ අයට දේවත්වයක් හා සමාන ශරීර ලැබිල තියෙනවයි කියල.

දැන් මේ වගේ අවස්ථාවලදී දැන ගන්න ඕන තවත් වැදගත් කාරණයක් තියෙනවා. ඒ තමයි **මේ වගේ යම් අමනුස්සයෙක්, කෙනෙකුට කරදර කරන්නෙත් නිකන් නෙවෙයි, යම්කිසි සාධාරණ හේතුවක් ඇතිවයි කියන කාරණය. මොකද මේ අනන්තව ආපු සසර ගමනෙදි, අද අපි මොන හොඳ කරගෙන හිටියත්, එදා අපි අතින් අවැඩ අසාධාරණයන්ට ලක් වෙච්ච, යුතුකම් ඉටු නොවිච්ච පිරිස් ඕන තරම් ඉන්න පුළුවන්. මේ අත්භවයෙදිත් එහෙම වෙච්ච අවස්ථා තියෙන්න පුළුවන්.** ඒව මේ හැමෝටමත් අඩු වැඩි වශයෙන් තියෙනවා. ඒ විදියට යමෙකුට බලවත් අසාධාරණයක් කරල තිබුණ නම්, දැනට ජීවත් වෙලා ඉන්න අය සම්බන්ධ කර ගෙන ඒ පරලෝක ප්‍රාප්ත ජීවීන් යම් සාධාරණ තීරණයක් අර ගන්නවා. අපි අසාධාරණයි කියල අපේ පැත්තෙන් කිව්වට හරි යන්නෙ නෑ, ඒ අයටත් කවද හරි අසාධාරණයක් වෙලා තියෙනවා. හැබැයි එහෙම තීරණ අරගත්තු පලියට ඒ අයට මනුස්සයින් ළඟට ඇවිත් කරදර කරන්න බෑ. මොකද මේ හැම අමනුස්සයෙක්ම, හැම ගන්ධබ්බයෙක්ම ලෝක පාලක දෙවි දේවතාවන්ගෙ පාලනය යටතෙ තමයි ඉන්නෙ. ඒ නිසා ඒ යක්ෂ ප්‍රේත, භූත, පිසාච, කුම්භාණ්ඩ, අමනුස්ස ආදීන්ට හිතුමතේට කරදර කරන්න ඒ අය ඉඩ දෙන්නෙ නෑ. එහෙම ඉඩ දුන්නොත් ඒ අය මොනව කරයිද දන්නෙ නෑ. හරියට මේ මනුස්ස ලෝකෙ සම්මත කරගත්තු නීතියක් නැති වුනොත් එහෙම මිනිස්සු මරා ගන්නව, කපා කොටා ගන්නව, අනෙකගෙ දේවල් මංකොල්ල කනව වගේ. නමුත් නීතියක් කියල දෙයක් තියෙන නිසා ඒකට බයෙන් ඒ වගේ දේවල් පාලනය වෙලා තියෙනවා. ඒ නිසා සමාජයේ පැවැත්ම යම් ආකාරයකට තහවුරු වෙලා ආරක්ෂාවක් රැකවරණයක් ලැබිල තියෙනවා.

මෙන්න මේ වගේ ලෝක පාලක දෙවි දේවතාවොත් අර දරුණු අමනුස්ස කොටස් ඇතුලු පර ලොව ජීවීන්ට, නීති අණපනත් පනවල, ඒ හැම කෙනෙක්ම ඒකට යටත් කරල තියෙනවා. සතර වරම් දෙවියන්ගෙ පාලනය කියන්නෙ ඒකට. එතකොට එතන ඉඳල ඒ කටයුතු සොයා බලන්න වෘක්ෂ දේවතාවන්ගෙ පටන් පාලක මණ්ඩල විවිධාකාරයෙන් පත් කරල තියෙනවා. භූමාටු දේවතා කියන්නෙත් ඒ පාලක දේව මණ්ඩලයෙම කොටසක්. හත් කට්ටුවක් කියල කියන්නෙත් ඒ වගේ මහ දේව මණ්ඩලයෙ ඉඳල පහළට එන කොටස් 7 ක්. ඔතනින් භූමාටු කියන කොටස තමයි පුංචිම කොටස. හැබැයි පුංචි වුණාට බල තියෙනවා. ඒ අයත් බලා ගන්නෙ අර බලවත් කොටස්. ඒ නිසා ඒ ඒ කොටස්වලට හිතුමනාපෙට කටයුතු කරන්න බෑ. අර පාලක මණ්ඩලවලින් අවසර ගන්න ඕන. නැත්නම් මේ මනුස්ස ලෝකෙදි නීතිය කඩ කරපු අයට දඬුවම් දෙනව වගේ ඒ අයටත් දඬුවම් දෙනවා.

ඒ නිසා ඒ වෙලාවෙදි අයුක්තියට, අසාධාරණයට ලක් වෙච්ච කොටස් ඉන්නව නම්, ඒ සමහර අය තමන්ට වෙච්ච අසාධාරණය පාලක දෙවියන්ට කියල අවසර අරගෙන, ඒකට එකට එක කරල පළිගන්න, කරදර කරන්න බලාපොරොත්තුවෙන් ඉන්නවා. උදාහරණයක් විදියට කෙනෙක් ජීවත් වෙලා ඉඳෙද්දි අනික් අයට ගෙවල් දොරවල් හදල දීල, කන්න බොන්න දීල ඔක්කොම කළාට පස්සෙ, වයසට ගියාම පලයන් කියල දොට්ට දැම්මොත්, දැන් ඉතින් ඒ මනුස්සය හලිය හලිය යනවා. ''කවද හරි මං තොපිට හොඳ වැඩක් කරන්නම්කො. ඕව ඔක්කොම මම හදපුව කරපුව, මේ කරපු අපරාදෙට උඹලට සාප වෙනව'' මෙහෙම කිය කිය කරපු අසාධාරණය ගැන සිහි කරල හුල්ලගෙන ඉඳල අන්තිමට මැරිල යනවා. ඊට පස්සෙ ඒ පුද්ගලය ඒ කර්ම ශක්තියෙන්ම ගන්ධබ්බ ලෝකෙට යනවා. ගන්ධබ්බය වුනාට පස්සෙ අර සිතිවිල්ල නිසා හරි බලවත්. නමුත් හිතුමනාපෙට මනුස්සයින්ට කරදර කරන්න අර දේව මණ්ඩලය ඉඩ දෙන්නෙ නෑ. හැබැයි ඒ වුනාට අර ගන්ධබ්බය තමන්ට වෙච්ච අසාධාරණය, පාලක දේව මණ්ඩලය හමුවේ කියා සිටිනවා.

''මේක හරි අසාධාරණයි, මගේ තැනනෙ! මාව පන්නන්න එහෙම පුළුවන්ද? මට කොච්චර ලොකු අසාධාරණයක්ද කළේ? මේ මගේ දේවල්, මං කරල දීපුවා. ඇයි එහෙම කරපු මට සැලකුවෙ නැත්තෙ? මං උන්ගෙන් පළිගන්නවා.'' මේ ආදී වශයෙන් කියල ඉල්ලීමක් කරන්න පුළුවන්. එතකොට මේ කියන්නෙ ඇත්තද කියල පාලක දේව මණ්ඩලයත් හොයල බලනවා. හරියට අපේ මනුස්ස ලෝකෙ උසාවිවල නඩු අහනව වගේ තමයි. ඉතින් බලාගෙන යනකොට කාරණය ඇත්ත. මොනව කරන්නද ඉතින් ඒ මනුස්සයට කරපු අසාධාරණයට අපිට කරන්න දෙයක් නෑ, උඹලනෙ අසාධාරණය කරල තියෙන්නෙ කියල පාලක දේව මණ්ඩලයත් ඒ ගන්ධබ්බයට ඕන එකක් කර ගන්න නිදහස දෙනවා. ඊට පස්සෙ බලය ලැබෙනවා. දැන් ඉතින් මේ ලෝකෙ බන්ධන කරල, හිර කරල ඒකව අල්ලන්න බෑ. ඉතින් දේවාලවලට ගිහින් දෙවියන්ට ආරාධනා කරල ඉල්ලා හිටියත්, මේ මොනව කෙරුවත් වැඩක් නෑ. දෙවි දේවතාවොත් මග හරිනවා. එතකොට තමයි ඒ ගන්ධබ්බ කොටස් බලවත් වෙලා ඇවිත්, කෝ තොපි දේවාලවල ගිහින් මාව කොටු කළාද, අරව කළා මේව කළා, මං වරම් අරගෙන ඉන්නෙ... ආදී වශයෙන් කියන්නෙ. වරම් අරගෙන කිව්වෙ අර විදියට පාලක මණ්ඩලයෙන් අවසර ගත්තයි කියන එක. හුඟක් වෙලාවට වෙස මුණි දෙවියන්ගෙන් වරම් අරගෙන ආව කියල තමයි කියන්නෙ. එතකොට යක්ෂ ගතිවලට කිට්ටුයි. ඒ ගතිය ආවම ඒ ගන්ධබ්බයින්ට වුනත් හොඳ උස මහත ශරීර ලැබෙනවා. මොකද මේ යක්ෂ අමනුස්ස කොටස් පාලනය කරන්නෙ වෙසමුණි දෙවියො. ඒ ගතිය තමයි ඒ අයටත් එන්නෙ.

දැන් අර කලින් විස්තර කරපු අවස්ථා දෙකේදි සිද්ධ වෙලා තියෙන්නෙත්, අර වගේ වරම්

ගැනීමක්. මොකද මූලික වශයෙන් ඒ ඉඩ කඩම්වල වවා හදාගත්තු ඒවායේ අයිතිය ඒ අයට තිබිල තියෙනවා. ඒ කාලෙ ඒව බලහත්කාරයෙන් අනිත් මිනිස්සු එකතු වෙලා කා කොටාගෙන අරගෙන, ඒ වගේම මළාට පස්සෙ ඒ අය ගැන නොසලකා හැරල ඒ වගේ මොනව හරි අසාධාරණකම් ඒ අයටත් වෙලා තියෙනවා. ඒ අයගෙ හිමිකම දෙන්නෙ නැති නිසා ඒ අයත් වරම් අරගෙන තමයි අර විදියට ඇවිත් කරදර කළේ. ඉතින් ඒක දෙන්නෙ නැතිව වෙන මොනව කළත් හරි යන්නෙ නෑ. ඒ වෙලාවට ගිහින් දෙවියන්ට කන්නලව් කළාට හරි යන්නෙ නෑ. මොකද ඇත්තටම අසාධාරණයක් වෙලා තියෙන නිසා. **ඒ අයගෙ හිත හැදෙන්න ඒ අයට අවශ්‍ය දේ, ඒ අයගෙ හිමිකම නැවත ලබා දෙන්න ඕන. ඒකට විශාල ලාභයක් පරලොව පැත්තෙන් ඒ අයට ලැබෙන්න ඕන.** නැත්නම් හිත හැදෙන්නෙ නෑ. හැබැයි විශාල ලාභයක් කිව්වට ඒක කරන්න මේ මනුස්ස ලෝකෙ ලාභ ගන්නව වගේ ලක්ෂ ගණන් මුදල් වියදම් කරන්න ඕන නෑ. අර විදියට ඒ අයටත් එක්ක දානයක් දීල හරියට පුණ්‍යානුමෝදනාවක් කළාම ඒ ඔක්කොම ලැබෙනවා. එතකොට තමයි ඒ අයටත් චිත්ත ප්‍රසාදයක් ඇතිවෙන්නෙ.

ඉතින් අර කලින් සිද්ධියේදි වෘක්ෂ දේවතාවෙක් වෙලා ගියපු කෙනත් අන්තිමට පාලක දේව මණ්ඩලයටමයි ඇතුල් වෙන්නෙ. එහෙම ඇතුල් වුනාට පස්සෙ ඒ අයගෙ තත්ත්වයන් අනුව ඒ අයටත් ඒ මොනව හරි ගම්භාර වගේ දේව කාරියක් පැවරෙනවා. දැන් තත්ත්වෙ වෙනස් වෙලා අර කලින් තිබ්බ පුද්ගලික අමනාපකම් මුකුත් නෑ. එහේ ආයුස තියෙන කල් තමන්ගෙ රාජකාරිය ඉටු කරගෙන ඉන්නවා.

මේ වගේ තවත් අවස්ථාවකදි මේ පන්සලට සම්බන්ධ එක්තරා මහත්තයෙකුට අසනීපයක් හැදිල, මම යොමු කරල බලන කොට ඒ අයගෙ මිය ගිය ආච්චි තමයි ශරීරය ඇතුලෙ හිටියෙ. ඒ කියන්නෙ ආච්චි ඔහුට සෑහෙන්න ආදරයකින් ලෙන්ගතු කමකින් ඉඳල අවසන් මොහොතෙ බොන්න වතුර දෙන ගමන් ඔහුගෙ උකුලෙදිමයි මියගිහින් තිබුනෙ. මියගියාට පස්සෙ ඔහුගෙ පිත්තාශය ඇතුලට රිංගගෙන බොහොම කුඩාවට උන්ඩ්වෙලා තමයි හිටියෙ. ඉතින් සෑහෙන කාලයක් කර්මජ කයත් මුල් වෙලා, බඩ ගින්නෙ ඉඳල ඇට සැකිල්ලක් වගේ හිටපු ප්‍රේත අවස්ථාවක්. කර්ම විපාකය නිසා ඒ අමනුස්සය මැරෙන්නෙත් නෑ. කාලයක් තිස්සෙ කන්න බොන්න නැතිව දුක් විඳිනවා. ඉතින් මේ වගේ පෙරේත තටුවක් දීල පුණ්‍යානුමෝදනාවක් කරන බව කියල මම මෙහේ ඉඳන් ආශිර්වාදයක් කළාම, ඒ වෙනකොට රෝහල් ගතවෙලා හිටපු ඔහුගෙ ශරීරය දැඩි වේදනාවකට පත්වෙන්න පටන් ගත්තා. ඊට පස්සෙ ටික වෙලාවකින් ඒ වේදනාව සම්පූර්ණයෙන්ම පහවෙලා ගියා. ඒ අර අමනුස්සය ශරීරයෙන් පිටවෙන කොට තමයි දැඩි වේදනාවක් ආවෙ. ඊට පස්සෙ ඒ අයත් මේ වගේ පෙරේත තටුවක් එක්ක සාංඝික දානයක් දීල පුණ්‍යානු-මෝදනාවක් කළා. ඒ අවස්ථාවට මේ ප්‍රධාන අමනුස්සයත් එක්ක තවත් විශාල අමනුස්ස පිරිස් සම්බන්ධ වුණා. මේ අවස්ථාවෙ මහා අඳෝනාවකින් හිටපු ඒ අමනුස්සයො තමන්ගෙ සතුට කිය කියා තමයි ඒ ආහාර ගත්තෙ. ''එක්කෙනෙකුට දුන්න බත් හතර දෙනෙකුටම ඇතිනෙ, ඕන තරම් පිරිසකට ගන්න පුළුවන්නෙ, මේ උත්තමයො බුදු වෙන්න ඕන'' මෙහෙමත් කියනවා. තමන්ගෙ ප්‍රසාදය මේ විදියට පල කළේ දානෙ දෙන්න සම්බන්ධ වෙච්ච ඒ පිරිසට. ඒ අය කොච්චර ගත්තත් ඒ ගන්න ගන්න සැරේට මැවිල එනවා. දැන් විසාල පිරිසක් මේ විදියට වට වෙලා ආහාර ගන්න කොට, අර ප්‍රධාන අමනුස්සය ඒ දානෙන් තමන්ගෙ කොටස අරගෙන පැත්තකට වෙලා වෙනම කනවා. කොච්චර කෑවත් තවත් තියෙනව කියල ඒ අය කන ගමනුත් කතා වෙනවා. කාලෙකට පස්සෙ තමයි අද මේ බත් කන්නෙ කියල තවත් කොටසක් කියනවා.

දැන් මෙහෙම ආහාර ගන්න කොට අර ඇටසැකිලි වෙච්ච ශරීරය බලා ඉඳෙද්දි නැගිල මස්පිඬු දාල පිරිල ගියා. ඊට පස්සෙ ඒ ප්‍රේතියගෙ කය සාමාන්‍ය හොඳ කයක් බවට පරිවර්තනය වුණා. හැබැයි තරුණ නෙවෙයි, වයසක අම්මණ්ඩි කෙනෙක්. ඒ වුනත් යන්න එන්න පුළුවන් හොඳ හැකියාවක් තියෙන කයක් බවට අර ඇටසැකිල්ල පරිවර්තනය වුණා. දැන් මේ විදියට පිරිස කාල ඉවර වුනාට පස්සෙ කියනව, ඉක්මන් කරල මූණු හෝදපල්ල, මේ විදියට හොටු කබ පෙරාගෙන බුදුන් වඳින්න යන්න බෑ කියල. ඒ කියන්නෙ මේ ඊළඟට තියෙන පුණ්‍යානුමෝදනාවට සහභාගි වෙන්න. ඉතින් තැඹිලිවලට අමතරව වෙනම වතුර භාජනයකුත් තිබුණ නිසා ඒකෙන් ඒ අය මුහුණු අතපය හෝද ගත්තා. ඒ හෝද ගන්න කොටත් සියලු දෙනාටම අඩුවක් නැතිව වැස්ස වගේ වතුර ලැබුණා. ඒ විදියට පිරිසිදු වෙලා කට්ටියම අනුමෝදනාවට ගියා.

දැන් මේ විදියට පින් අනුමෝදන් වුනාට පස්සෙ 25 -30 විතර පිරිසක් තාවතිංස දිව්‍ය ලෝකයට සම්බන්ධ වුණා. ඊටත් වඩා විශාල පිරිසක් චාතුර් මහා රාජිකයට සම්බන්ධ වුණා. ඒ විදියට නිදහස් වෙලා දේවත්වයට පත් වෙච්ච අය අත්වැල් අල්ලගෙන තමන්ගෙ සතුට පෙන්වන්න රැඟුම් රඟනවා. ඒ අතර අර කලින් ප්‍රධාන අමනුස්සය වෙලා ඉඳල, දැන් තාවතිංසයේ දේවතාවියක් බවට පත් වෙච්ච කෙනාව මැදි කරගෙන අනෙක් අය වටේ කැරකෙමින්, අපිටත් මේ තත්ත්වයට පත් වෙන්න පුළුවන් වුනේ ඔබ නිසයි කියල ඇයට ගෞරව කරනවා. ඒ ඔක්කොම මීට පෙර මේ ස්ථානයට යම් යම් හිමිකම් තිබ්බ අය. කොච්චර ඈතක හිටියත් ඒ අයට මේ කියන කරන දේවල් ආරංචි වෙලා ඒවට සහභාගි වෙන්න පුළුවන් වුණා. ඊට පස්සෙ අර තිබ්බ අසනීපයත් ඉවරයි.

ඒ වගේම මේ අයට මේ විදියට සම්පත් ලැබිල නිදහස් වෙන්න තවත් හේතුවක් තියෙනවා. පසුගිය සඟරා කලාපයක දානයේ ආනිසංස ගැන සඳහන් කරල, අන්තිමට ආර්ය උතුමන්ට දෙන දානයෙන් අප්‍රමාණව මහත්ඵල මහානිසංස ලැබෙන බවත් විග්‍රහ කරල, බුද්ධ ශාසනය උදෙසා දන් දීමේ වැදගත්කමත් පෙන්වා දීල තිබුණා. අන්න ඒ නිසා තමයි අර දොළොස් පිරිකර පූජා කිරීමෙන් ඒ අයට අවශ්‍ය කරන සියලුම ඇඳුම් පැළඳුම් ආදියත් අඩුවක් නැතිව පූර්ණ වෙන්න හේතු වෙන්නෙ.

එතනදි දොළොස් පිරිකර කියල කිව්වෙ අට පිරිකර සහිතව තවත් පිරිකර 4 ක්. කුඩයක්, හැර මිටියක්, තෙල් ගුලාවක් සහ සෙරෙප්පු 2 ක් කියන මේ 4 තමයි ඒ අමතර පිරිකර 4. **මේ වගේ දොළොස් පිරිකර පූජාවකින් ඥාති ප්‍රේතයින්ට අවශ්‍ය සියල්ල ලැබෙන්න හේතු වාසනා වෙනවා.** ඒ වගේම කුඩයක් පූජා කිරීමේදී ඒ ඥාති ප්‍රේත ගන්ධබ්බයින්ට විමන් ලැබෙන්න හේතු වෙනවා. හැරමිටියක් පූජා කිරීමෙන් ශරීරයේ තිබුණ දුබලකම් නැති වෙලා පෘෂ්ටිමත් දේව වැනි ශරීරයක් ලබන්නත් හේතු වෙනවා. තෙල් ගුලාවක් පූජා කිරීමෙන් ඒ ඥාති ප්‍රේතයට යම්කිසි රෝගාබාධයක් තිබුණ නම් ඒක දුරු වෙන්න හේතු වෙනවා. මෙතනදි තෙල් ගුලාවක් තියන කොට මොනව හරි බෙහෙත් තෙල් වර්ග තුනකින් අවුන්සෙ කුප්පිය බැගින් අරගෙන ඒවායේ මූඩිවල සීල් කඩල නැවතත් නිකන් වහල ඒ කුප්පි තුනම එකට තියල ගෝනි නූලක් වගේ දෙයකින් බැඳල තියන්න පුළුවන්. ඒ වගේම සෙරෙප්පු 2 ක් පූජා කිරීමෙන් ගමන් බිමන් යන කොට කකුල්වල තිබ්බ අපහසුතා දුරු වෙලා පුණ්‍ය සෘද්ධි ලබන්නත් හේතු වෙනවා. ඒ විදියට දේවතාවෙකුට ලබන්න තියෙන සම්පත්තියක් තියේ නම්, ඒ සියල්ලම මේ දොළොස් පිරිකරෙන් සම්පූර්ණ වෙනවා. මෙතනදි බුදු දහම අනුව දේවතා කියන්නෙ යම්කිසි ශක්තියක් ඇති, යමෙකුට උදව් උපකාර කරන්න පුළුවන්, යමක් දෙන්න පුළුවන්, ☞

යම් දෙයක් දොවා ගන්න පුළුවන් කෙනෙක්. ඒ අර්ථයෙන් තමයි දේවතා කියන්නෙ. ඒ නිසා තමයි ගවයත් දේවත්වයෙන් සැලකුවෙ. එහෙම නැතිව දිව්‍ය ලෝකවල ඉන්න දෙවියොම නෙවෙයි දේවතා කියන්නෙ. දෙවි දේවතා කියල කොටස් දෙකක් ඉන්නවා. ඒ නිසා මෙතනදි මේ මනුස්ස ගන්ධබ්බ කොටස් පින් අරගෙන ඒ ගන්ධබ්බ ලෝකෙ හොඳ බලවත්, හොඳට කන්න බොන්න තියෙන, ප්‍රෞෂ්ඨිමත් අය බවට පත් වුනයි කියන්නෙ ඒ අයටත් දේව සම්පත් ලැබුණයි කියන එක. ඒ කියන්නෙ දෙවිවරුම නෙවෙයි, දෙවි දේවතා කියල වචන දෙකක් තියෙන්නෙ ඒකයි.

ඉතින් පිරිකර පුංචි වුනාට ශාසනය උදෙසා දෙන දාන පිරිකර මහත්ඵල මහානිසංස නිසාම, ඒ බලවත්කම නිසාම, මේ සියලුම ලැබීම් සීමා කරන්න බැරි කාලයකට ලැබෙනවා. ඒ නිසා ඒ අයට සුළු මුදලක් වැය වුනත් නැවතත් කිසි කරදරයක් නැතිව, මේ වගේ චිත්ත ප්‍රසාදයෙන් යුක්තව විශ්වාසයක් ඇතිව කටයුතු කළාම, ඒකෙන් ලැබෙන්නා වූ ආනිසංසත් ඒ තරම් බලවත්. ඒ ඥාති ප්‍රේත අමනුස්සයින්ට වෙච්ච ගනුදෙනුවලට සම්පූර්ණයෙන්ම වන්දි ගෙවල නිදහස් වෙන්න ඒ ආනිසංසයම ඇති. ජීවිත කාලය තුළම තමන්ට කරපු අයුතු අසාධාරණකම්වලට මේකෙන් වන්දි ලැබෙනව කියල ඒ ඥාති බලවේගත් දන්නවා. මට ඒ තරම් සම්පත්තියක් අද ලැබුණා, දැන් ඉතින් නැවතත් කරදර කරන්න ඕන නෑ කියල නිදහස් අදහස් පහළ වෙනවා. ඒ වගේම ජීවත් වෙලා ඉන්න ඒ තමන්ගෙ පිරිසට, අර කරපු උපකාරයට ආශිර්වාද කරල පුළුවන් විදියට රැකවරණ සලස්වනවා. මොකද ඒක විශාල උපකාරයක්. ඒ උපකාරය යම් කිසි විදියක අතින් පයින් උපස්ථාන කරල කරන්න ගියා නම්, ජීවිත කාලයම උදේ ඉඳන් රෑ වෙනකල් කළත් ඒකෙන් මාත්‍රයක්වත් කරන්න බෑ. එච්චර උදව්වක් අතපය වෙහෙසවල කරල දෙන්න බෑ. නමුත් බුද්ධ ශාසනය උදෙසා කරන්නා වූ පරිත්‍යාගයන්ගෙන් ලැබෙන ආනිසංස ඒ තරම් මහත්ඵලයි. අදත් මේක ප්‍රායෝගිකව කරන්න පුළුවන් දෙයක් නිසා ඒකෙ බොහොම විශේෂත්වයක් තියෙනවා.

**විශේෂයෙන් ගෙවල් දොරවල්වල යම් යම් වාස්තු දෝස ආදිය ඉවත් කරන්න කලින්, මේ වගේ පෙරේත තටුවක් සහිත සාංඝික දානයක් දීල පුණ්‍යානුමෝදනාවක් කර ගන්න පුළුවන් නම්, ඒ ස්ථානවලට සම්බන්ධ අමනුස්ස ආදී කොටස් නිදහස් වීම නිසා විසාල දියුණුවක්, අභිවෘද්ධියක් අත් කරගන්න පුළුවන්.** එහෙම නැතිව වාස්තු දෝස විතරක් ඉවත් කළාට, අමනුස්ස බලපෑම් තියේ නම් ඒකෙන් සාර්ථක ප්‍රතිඵල ගන්න පුළුවන්කමක් නෑ. ඉතින් මේ අමනුස්ස දෝස කිව්වම මේව නැති තැනක් නෑ. හැම තැනම අඩු වැඩි වශයෙන් තියෙනවා. අර කලින් විස්තර කරපු අවස්ථාවලදි වගේ මනුස්සයින්ට දුනෙන්න කරදර නොකළත්, අපි නොදැනුවත්වම බලපෑම් කරන අවස්ථා ඕන තරම් තියෙනවා. නමුත් මේ මිනිස්සු ඒව ගැන දන්නෙ නෑ. ඒ නිසා **කවුරු කවුරුත් තම තමන් ජීවත් වෙන ස්ථානවල ඒ වගේ පෙරේත තටුවක් එක්ක සාංඝික දානයක් දීල, හරියට පුණ්‍යානුමෝදනාවක් කරගත්තොත් ඒක හැමෝටම යහපත්. ඒකට මහ ලොකු මුදලක් වියදම් වෙන්නෙත් නෑ. සාසනයට සම්බන්ධ නිසා කවදාවත් අපතෙ යන්නෙත් නෑ. ඒකෙ ප්‍රතිඵල කවද හරි ලැබෙනවා.**

තම තමන් ජීවත් වෙන ප්‍රදේශයෙ වැඩ ඉන්න භික්ෂූන් වහන්සේ නමක් සම්බන්ධ කරගෙන මේ වගේ පුණ්‍යානු- මෝදනාවක් හැමෝටම කරගන්න පුළුවන්. ඒකට වහරක අරිය චින්තාශ්‍රම විහාරස්ථානයටම යන්න ඕන නෑ. අනිත් භික්ෂූන් වහන්සේලාටත් ඒක කරන්න පුළුවන්. ඒ නිසා හාමුදුරුවරු දුසිල්වත් කිය කියා සිල්වත් හාමුදුරුවරු හොයන්න යන්නෙ නැතිව, තමන් ඉන්න ප්‍රදේශයෙ වැඩ ඉන්න භික්ෂූන් වහන්සේ නමක් ලවා ඒක කරගන්න පුළුවන්. මොකද දවසකට එක කමටහනක් වැඩුවත්, එක තෙරුවන් ගුණයක් සිහි කළත්, අසුරක් ගහන සැණින් ත්‍රිලක්ෂණය මෙනෙහි කළත්, දර්ශන මාත්‍රයක් මෙත් භාවනාව වැඩුවත් ඒකත් ගුණයක්. ඒ භික්ෂූන් වහන්සේ ගුණවත්. උන් වහන්සේ සිවුපසයට සුදුසුයි. ණය වෙන්නෙ නෑ. එහෙම පුණ්‍යානු මෝදනාවක් කරන්න උන් වහන්සේට පුළුවන්. මේ විදිහට භික්ෂුණිවහන්- සේලාගේ සීල ගුණයන් ගැන දැන ගන්න අවශ්‍ය නම් <u>අච්ඡරා සංඝාත වග්ග සූත්‍ර</u> 182 ක් අංගුත්තර නිකායෙ සඳහන් වෙනවා. ඒවායේ මේ ගැන එකක් නෑර විග්‍රහ කරල තියෙනවා. අසුරක් ගහන මොහොතක් කියන එක තමයි අච්ඡරා කියන්නෙ. ඉතින් මේ කියන ගුණ මාත්‍රයක් හරි දැන් ඉන්න භික්ෂුණිවහන්සේලාගෙන් 90%කටත් වැඩි පිරිසකටම තියෙනවා. හැබැයි ඉතින් හේතු ඵල දැනගෙන අර කියපු නිවැරදි ක්‍රමයට කරන්න ඕන. මේ වගේ පෙරේත තටුවක් තියල අනුමෝදනාවක් කරනව කියන්නෙ වැඩකට නැති හිස් වැඩක් කියන දෘෂ්ටියක ඉන්න භික්ෂුණිවහන්සේ නමක ලවානම් මේ වගේ දෙයක් කරගෙන වැඩක් නෑ.

ඒ වගේම මේ වගේ කාරණාවලින් දැනගන්න ඕන තවත් වැදගත් දෙයක් තියෙනවා. අපි දැන් මනුස්සයො වශයෙන් **මොන හොඳ කර ගෙන හිටියත්, සමහර කර්ම විපාක ඵල දෙන්න තියෙනව නම්, ඒකට කාටවත් කරන්න පුළුවන් කිසිම දෙයක් නෑ.** ඒ වෙලාවට ඒක විඳින්න සිද්ධ වෙනවා. අපිට නෙවෙයි, ලොව්තුරා බුදුන් වහන්සේ පිරිනිවන් පාන්න කිට්ටුව, ආනන්ද පැන් පිපාසයි, මට පැන් ටිකක් දෙන්න කියල ඉල්ලුවෙත්, ඒ අවස්ථාවෙදි කයට ආපු වේදනාව නිසා. එතකොට උන් වහන්සේ එහෙම ඉල්ලා හිටින කල් සතර වරම් දෙවියන්ටවත් ඒකට ක්‍රියාත්මක වෙන්න බැරි වුනා. ඊළඟට පාරිලෙයිය වනයෙ මාස ගණනක් හුදකලාව වස් වසන කොටත් ඇප උපස්ථාන කළේ ඇතෙක්, වඳුරෙක්. දෙවියො දන්නෙත් නෑ, මනුස්සයො දන්නෙත් නෑ, එදා හිටපු භික්ෂූන් වහන්සේල දන්නෙත් නෑ. ඒ වගේම උන් වහන්සේ භික්ෂූන් වහන්සේලා 500 නමක් එක්ක මාස 3 ක් තිස්සෙ යවහල් වළඳමින් වස් වසපු කාලයක් තිබුණා. ඒ කාලෙ අශ්ව වෙළෙන්දො පිරිසක් දකල යවහලුයි මීපැණියි දීල ගිහින් තිබුණ මිසක්, වෙන කවුරුවත් මනුස්සයෙක්වත් භික්ෂූන් වහන්සේ නමක්වත් ඒ ගැන හොයල බලල මෙහෙයවන්න හිටියෙ නෑ. අඩු ගානෙ දෙවියන්ටවත් ක්‍රියාත්මක වෙන්න බැරි වුණා. අද කාලෙ, කැලේ බුද්ධ ප්‍රතිමාවක් තිබුණත් මිනිස්සු ඒකට වඳිනව, පුදනව, ගරු සත්කාර කරනවා. නමුත් අද තිබුණ සැලකිල්ල එදා තිබුණෙ නෑ. එදා උන් වහන්සේ ජීවමානව වැඩ ඉඳෙද්දි ඒ වගේ දුෂ්කර තත්ත්වයන්ට පත් වෙන්න සිද්ධ වුණා. මොකද ඒ හැම අවස්ථාවකදිම උන් වහන්සේගෙ කර්මය බලවත් වුණා. **කර්ම විපාක බලවත් වුණාම, උදව් කරන්න බැරි වෙන්න දෙවියන්ගෙ දිවැස් පවා වැහෙනවා.** ලොවුතුරා බුදුන් වහන්සේටත් එහෙම වුනානම් අනිත් අයට මොනව වෙන්න බැරිද? මේ අනුව සංසාරෙ තියෙන භයානකත්වය තේරුම් ගන්න ඕන. අනන්ත සංසාරෙ මොන ජාතියේ කර්ම කරල ඇවිත් තියෙනවද කියල අපි අද දන්නෙ නෑ. ඒ වගේ ඒව කොයි මොහොතක ඇවිත්, මොන විදියට ඵල දෙනවද කියලත් අපි දන්නෙ නෑ. එහෙම එන වෙලාවට අපි අන්ත අසරණයි. ජීවත් වෙලා ඉන්න අයටත් අපිට උදව් කරන්න බැරි අවස්ථා තියෙනවා. ඉතින් ඒ නිසා මේ ලැබිච්ච මනුස්ස අත්තභවයෙන් ඉඩ ලැබෙන මොහොතක් පාසා, මේ දහම් මග අනුගමනය කරල, පුළු පුළුවන් විදියට සංසාරෙ කෙටි කර ගන්න හැම මනුස්සයෙක්ම උත්සාහ ගන්න ඕන.

(ඉතිරි කොටස ලබන කලාපයෙන්)

**සටහන**
**නීතිඥ චන්දන සිරිවර්ධන**

# සූක්ෂම මනෝ කායේ සැබෑ තතු

(පසුගිය කලාපයෙන්: මරණය, චුතිය සහ පටිසන්ධිය....)

මේ ඇස්ට්‍රල් බොඩි කියල හඳුන්වන සූක්ෂම කයේ තියෙන කෙස්, ලොම්, නිය ආදිය ගත්තොත්, උපන්නට පස්සෙ කවදාවත් ඒ සූක්ෂම කයේ තියෙන ඒ ප්‍රමාණයට වඩා දිගට මේ මස් ලේ කයේ ඒ ඒ කොටස් වැඩෙන්නෙ නෑ. ඒ සූක්ෂම කයේ ඒවාට හිමි දිග ප්‍රමාණයට විතරයි මස් ලේ කයේ ඒ ඒ කොටස් වැඩෙන්නෙත්. උදාහරණ විදියට සූක්ෂම කයේ බෙල්ල ළඟට නම් කෙනෙකුගෙ කොණ්ඩය තියෙන්නෙ, ඒ පුද්ගලයා මනුස්සයෙක් වෙලා උපන්නට පස්සෙ ඒ මස් ලේ කයේ කොණ්ඩෙත් බෙල්ල දිහාවට විතරයි වැවෙන්නෙ. එයින් එහාට වැවෙන්නෙ නෑ, සීමා වෙනවා. කෙස් ගහ මුලින් හිසට සම්බන්ධ තැනින් ලියලනවා. නමුත් අගින් වැඩි වෙන ටිකට මොනව වෙනවද කියල දන්නෙ නෑ. දැන් මේ කාරණය දැනගන්න පුළුවන්, කොණ්ඩෙ සුදු වෙච්ච කෙනෙක් කළු වර්ණ ගැන්නුවොත් සති කිහිපයක් යන කොට කෙස් ගස් මුලින් සුදු පාටට ඇදිල තියෙනවා. ඒ අළුතින් ඇදිච්ච ටික. එතකොට දින ගණනකටත් සෑහෙන ප්‍රමාණයක් කොණ්ඩෙ ඇදෙනවා. හැබැයි එහෙම ඇදුනට ඒ පුද්ගලයගෙ සූක්ෂම කයේ යම් පමණකට ද කොණ්ඩෙ තියෙන්නෙ, දැන් කොච්චර වැව්වත් ඒ මට්ටමට විතරයි වවන්න පුළුවන්. අර කර්මජ කයේ ආකෘතියෙන් එහාට මොනව කළත් වැවෙන්නෙ නෑ. මස් ලේ කයටත් ඒ ප්‍රමාණයටමයි වවන්න පුළුවන්.



දැන් කෙනෙකුට මෙහෙම භෞතික තර්කයක් ඉදිරිපත් කරන්න පුළුවන්. ''කෙස් ගහේ අග නිතර ස්පර්ශ වෙන නිසයි, අතේ පැටලෙන නිසයි ගෙවෙන්නෙ. එහෙම නැතිව ඔය කියන මනෝමය කයක් නිසා නෙවෙයි, ස්පර්ශ නොවෙනව නම් කාගෙත් කෙස් දිගටම වැවෙනවා.'' නමුත් සමහරු කෙස්වලින් හවරි හදල අවුරුදු 10 - 15 ක් යන කල් ඒ හවරිය පාවිච්චි කරනවා. එතකොට ඒ හවරියත් නිතරම අතේ පැටලෙනව, ස්පර්ශ වෙනව, මේ සියල්ලම වෙනවා. නමුත් ඒකෙ තියෙන කෙස් එහෙම ස්පර්ශ වුනා කියල ගෙවෙනවද? නෑ. ඒ කියන විදියට කෙස් ගෙවෙන්නෙ නෑ.

උසත් ඒ වගේමයි. **කර්මජ කයට/සූක්ෂම කයට තියෙන උසින් දශමයක්වත් එහාට මස් ලේ කයේ උස වැඩි කරගන්න බෑ.** නමුත් මස් ලේ කයේ හෝමෝන දුර්වලතාවයන් නිසා කෙනෙක් කුරු වෙන්න පුළුවන්. එතකොට මොනව හරි ඖෂධ අරගෙන හරි ව්‍යායාම් කරල හරි මොකක් හරි ක්‍රමයකින් උස වැඩි කර ගන්න පුළුවන් වුනත්, ඒත් කර්මජ කයේ උස ඉක්මවා යන්න බෑ. නියපොතු ගත්තමත් එහෙමයි. නමුත් ස්වභාවිකව වැවෙන මට්ටමට වැවෙන්න දෙන්නෙ නැතිව අපි ඒව අපිට ඕන විදියට කපල කොටල හැඩ කරගන්න නිසා තමයි අර සූක්ෂම මනෝ කායේ තියෙන ප්‍රමාණයම නැත්තෙ. එහෙම කැපුවෙ නැත්නම් සහ මස් ලේ කයේ යම්කිසි දුර්වලතාවයක් නැත්නම් කවද හරි ඒ මට්ටමටම වැවෙනවා. හැබැයි එහෙම වැවිල අන්තිමට සීමා වෙනවා. එතකොට කර්මජ කයේ ආකෘතියෙන් එහාට, මස් ලේ කයේ වැඩිපුර වැවෙන්න උත්සාහ කරන කොට ඒකට ඉඩ නොදී කර්ම ශක්තියෙන් ඒක පරමාණු බවට පත් කරල අයින් කරනවා. කෙනෙකුට අලුතින් වකුගඩුවක් වගේ අවයවයක් බද්ද කළාමත් ඒක ප්‍රතික්ෂේප කරන්න බලන්නෙ මේ ආගන්තුක ඒව අඳුනගෙන සූක්ෂම කයෙන් ඉවතට තල්ලු කරන්න උත්සාහ කරන නිසා. බෙහෙත් වර්ග දීල ඒක කෘතිමව පාලනය කිරීමක් තමයි ඒ වගේ අවස්ථාවකදි කරන්නෙ. නමුත් මේ අතර එන සමහර කර්ම විපාක, කර්ම රෝග නිසා මුලින් තිබිච්ච තත්ත්වයන් වෙනස් වෙන්නත් පුළුවන්.

දැන් කෙනෙකුට ප්‍රශ්නයක් එන්න පුළුවන්, බාහිරින් අවයව බද්ධයක් කළාම සූක්ෂම කර්මජ කය ඒක ප්‍රතික්ෂේප කරන්න උත්සාහ කරනව නම්, බාහිර අයගෙන් ලේ ගන්න කොටත් එහෙම වෙන්න ඕනනෙ කියල. මෙතනදි ශරීරයක ලේ ධාතුව කියන්නෙ අතිරේක අංගයක් මිසක් ශරීරයේ ප්‍රධාන අංගයක් නෙවෙයි. ලේ ධාතුව හැදිල තියෙන ලක්ෂණ අනුව සමාන ලේ ගණයක් තිබුනොත් ඒ ලේ කෙනෙකුට පාරවිලයනය කරල අදාල කාර්ය දරා සිටින්න පුළුවන්. නමුත් ඒ දරා සිටින කාර්ය බොහොම ටික දවසයි තියෙන්නෙ. පිටස්තර කෙනෙක්ගෙ ලේ තවත් කෙනෙකුගෙ ශරීරයට දුන්නොත් ඒ දීපු ලේ ශරීරය ඇතුලෙ ක්‍රියාත්මක වෙන්නෙ උපරිම වශයෙන් මාස 3 යි. ඊට පස්සෙ ඒ පුද්ගලයගෙම ශරීරයේ ලේ නිපදවෙලා ක්‍රියාත්මක වෙනව මිසක් අර බාහිරින් දීපු ලේ තියෙන්නෙ නෑ. ක්ෂණිකවම සිහි නැති වෙලා හරි ඒ වගේ හදිසි අවස්ථාවකදි ප්‍රයෝජනයට ගන්න, නැවත ලේ වඩන්න පොදු ආධාරයක් විදියට විතරයි ඒක පිහිටන්නෙ.

ඒ වගේම කෙනෙකුට ලේ දුන්නම, ඒ දුන්නු කෙනාටත් දවස් 2 - 3 ක් යන කොට ඒ ප්‍රමාණය නැවත හැදෙනවා. ඒක කර්ම ශක්තියෙන්ම හදල දෙනවා. හැබැයි තිබිච්ච ප්‍රමාණයට වඩා වැඩි කරන්නෙත් නෑ. අවශ්‍ය ගානට පාලනය වෙනවා. එතකොට ලේ අඩුවෙලා තිබුණෙ යම් හේතුවකින් නම්, ඒ හේතුව හොයල මොනව හරි අවශ්‍ය විදියට දුන්නට පස්සෙ නැවතත් ඒකෙන් ලේ වැඩි කරල දීල කෙටි කලකින් ගෙවිල යනවා. පිටින් ගන්න ලේ, ලේ බැංකුවක ගබඩා කරල තියෙන්නෙ ඒකයි. ලේ බෝතල් 2 - 3 ක් දුන්න කිව්වත් සමහර අයට සතියක් යන කොටම ඒක බැහැල ඉවර වෙනවා. ඉතින් නැවතත් දෙන්න වෙනවා. එතකොට ඒ දීපු ලේවලට මොකද වුනේ? ඒක තියෙන්නෙ නෑ. තමන්ගෙ වැඩිච්ච ලේ වුනත් පරිවර්තනය වෙනවා. යම්කිසි මට්ටමක් තියාගෙන නැවත නැවත අවශ්‍ය වෙලාවට නිපදවල දෙනවා. ඒ මට්ටමේ මොනව හරි දුර්වලතාවයක් ඇති වුනොත් ඒකට පොඩි රුකුලක් වෙන්න තමයි අනුන්ගෙන් ☞

ලේ ගන්නෙ. මේ සියල්ලම කර්ම ශක්තියෙන් පාලනය වෙනවා.

දැන් මේ පරමාණු බවට පත් කරල වැඩි කොටස අයින් කරල දාන කතාව තවත් පැහැදිලි කළොත්, මේ මස් ලේ කයේ ස්වභාවය ගත්තම කර්මජ කයයි, චිත්තජ කයයි, මේ මස් ලේ කයයි කියන තුනම සම්බන්ධ වෙලා අන්තිමට එක කයක්, එක ප්‍රතිඵලයක් හදනවා. ඒක හේතු සමූහයක ඒකීය ප්‍රතිඵලයක්. මේ කොටස් තුනේ සංකලනයක් අනුව තමයි ඒ ප්‍රතිඵලය හැදෙන්නෙ. එතකොට කර්මජ කය දීර්ඝ කෙස් වවන්න උත්සාහ කරනවා. ඊළඟට චිත්තජ කය මොකද කරන්නෙ තමන්ට ඕන හැටියට, හිතන හැටියට චිත්තජ කයේ කෙස් පාලනය කරන්න උත්සාහ කරනවා. ඊට පස්සෙ සතර මහා භූතයන්ගෙන් හැදිච්ච භෞතික මස් ලේ කයේ යම්කිසි ශක්තියක් ඇත්ද, ඒ මට්ටමට එන කොට ඒක නවත්වන්න භෞතික කය උත්සාහ කරනවා. දැන් මේ 3 තුන් විදියකට ක්‍රියා කරනවා. හැබැයි මේ තුන් විදියකට ක්‍රියාත්මක වීමේ සංකලනයේ ඒකීය ප්‍රතිඵලයක් තමයි අපේ මේ මස් ලේ ඇහැට පේන මේ ශරීරය. ඉතින් මේ භෞතික ශරීරය අපට ඕන විදියට දික් කරගන්න හදාගන්න නම්, ඒ විදියට චිත්තජ කයයි, කර්මජ කයයි, භෞතික මස් ලේ කයයි තුනම ගැලපිලා තියෙන්නත් ඕන. ඒ කියන්නෙ කෙස් ගත්තොත් මේ තුනේම කෙස් දීර්ඝ වෙන විදියට සැකසිලා තියෙන්න ඕන.

ඊළඟට මේ තුනට අමතරව උතුජ පරිසරයෙ තියෙන දේවල් මේකට බලපානවා. උතුජ කියන්නෙ හට ගත් දෙයක් වෙනස් වෙවී යන කොට විද්‍යමාන වෙන අලුත් අලුත් අවස්ථා, වෙනස් වීම නිසා ජනිත වෙන අවස්ථා. උතුජ පරිසරය කිව්වම **අපි ජාන ශක්තිය කියල කියන්නෙ මේ භෞතික සතර මහා භූතයන් කර්ම චිත්ත ක්‍රියාවලියට ගෝචර වීමෙන් අපට ලැබෙන ශක්තිය. ජනිත වන න්‍යාය තමයි ජාන කියන්නෙ. අවිද්‍යාවේ ප්‍රභේද, පුණ්‍ය පාපවල ප්‍රභේද.... ආදී වශයෙන් මේ ජාන කුසලතාවය හෙවත් ධාතු කුසලතාවය මුලින්ම ලෝකෙට හෙළිදරව් කළේ ලොව්තුරා බුදු පියාණන් වහන්සේ.** එතකොට මේ ජාන ශක්තිය සමහර විට පරපුරෙන් පරපුරට එනකොට ශරීරවල පොඩි පොඩි වෙනස්කම් ඇති වෙනවා. දෙමව්පියන්ගෙ ශරීර ලක්ෂණ දූ දරුවන්ට එන කොට ජාන ශක්තියේ වෙනස්කම් තියෙනවා. ඒකත් අර භෞතික පරිසරයෙ තියෙන සතර මහා භූතයන්ගෙ ශක්තියෙන්මයි සිද්ධ වෙන්නෙ. ඒ තමයි උතුජ රූප ශක්තිය.

මෙතනදි මේ දෙමවුපියන්ගෙ ගති උරුමයන් දූ දරුවන්ටත් එන්න හේතුවක් තියෙනවා. ඒ කියන්නෙ මවු පියන්ගෙ තියෙන සමාන ගතිවලට තවත් සමාන ගති තියෙන අය ඇදිල එන සමනන්තර අනන්තර ප්‍රත්‍යය මෙතනදි ක්‍රියාත්මක වෙනවා. එතකොට ඒ මවුපියන්ගෙ ගති, ඒ අයගෙ ප්‍රදේශය ආදී සියලු ගති ලක්ෂණවලින් සමනන්තරයක් හැදුනම ඒ හා සමාන ගති ලක්ෂණ තියෙන අය ඇදිල ඇවිත් ඒකට උපනිශ්‍රය වෙනවා. ඒ කාරණය උදාහරණයකින් විස්තර කළොත්, යම් කිසි ගඟක් ගැලුවට පස්සෙ ඒ ගඟේ සැඩ පහරට වැලි පිහිටපු ආකාරය විවිධාකාරයි. සමාන ජාතියෙ වැලි එකට එකතු වෙලා පිහිටනවා. ඒ කියන්නෙ කළු වැලි එකට එකතු වෙලා එක පැත්තක, හීන් වැලි එකට එකතු වෙලා වෙනම පැත්තක, මධ්‍යම වැලි එකතු වෙලා තවත් පැත්තක, බොරලු වෙනම එකතු වෙලා තවත් පැත්තක... මේ ආදී වශයෙන් සමාන ගති ලක්ෂණ තියෙන ඒවා එකට එකතු වෙලා වෙනම පිහිටනවා. එතකොට මේ ගල් වැලිවලට අන්‍යොන්‍ය වශයෙන් හිතක සම්බන්ධයක් නෑ. නමුත් ධර්මතාවයක ස්වභාවයක් තමයි අනුකූල දේ අනුකූල දේට ළංවීම. එතකොට එක ජාතියෙ සියල්ලම එක වගෙයි. මේ වගේ ගති ලක්ෂණ සමාන වුනාම ගඟක් ගලාගෙන යනව වගේ තමයි මනුස්සයො අතරත් ඥාති සම්බන්ධකම් හට ගන්නෙ. ඒ කියන්නෙ ජීවන ගඟ ගලන කොටත් සමාන ගති ලක්ෂණ තියෙන අය සංසාර ගනුදෙනුත් එක්ක එක පැත්තකට එකතු වෙනවා. එහෙම එකතු වෙලා සම්බන්ධ වෙලා ළඟ නෑයො විදියට උපදිනවා. එතනදිත් ගති ලක්ෂණවලින් ඉතාම ආසන්න අය ලේ නෑයො වශයෙන් සහෝදර සහෝදරියො, දූ දරුවො වෙලා උපදිනවා. ලේ නෑකම කියල හැදෙන්නෙත් මේ තියෙන සමානත්වය නිසා. ඒක අඩු වැඩි වශයෙන් විවිධාකාරයට පිහිටන්න පුළුවන්.

එතකොට ඉහත කියපු කාරණා 3 ත් එක්ක උතුජ පරිසරය සම්බන්ධ වෙලා එකතු වෙච්ච ශක්තියෙන් තමයි කෙස් ගහේ ප්‍රමාණය හදන්නෙ. ඒ හැදුවට පස්සෙ එයින් එහාට ඒක වැඩි කරන්න බෑ. වැඩි කරනව නම් මේ කාරණා 4 ත් එකිනෙකට සංසන්දනය කරල සම්බන්ධ කරල තමයි ගන්න වෙන්නෙ. එහෙම නැත්නම් සමතුලිත වෙන්නෙ නෑ.

ඒ නිසා අපිට ඕන විදියට දික් කරන්න හැදුවට මේ කාරණා 4 න්ම පාලනය වෙනවා. මේ හතරෙන් එකකින් විතරක් ඒක කරන්න බෑ. කර්මජ කය විතරක් ඒකට බලපාන්නෙත් නෑ. චිත්තජ කයත්, භෞතික කයත් බලපානවා. ඒ වගේම උතුජ පරිසරයත් බලපානවා. උතුජ රූප කිව්වම මවුපියන්ගෙන් ගත්තු පෝෂණය, ජාන සම්බන්ධය, කන බොන ආහාර, භෞතික පරිසරය කියන මේ සියල්ලමත් අහු වෙනවා. උතුජ රූපවල තියෙන මේ ශක්ති විශේෂයයි, කර්ම, චිත්ත කියන මේ දෙකෙන් ගන්න ශක්තියයි සංකලනය වෙච්ච මධ්‍ය ප්‍රතිඵලය තමයි අපේ මේ භෞතික ශරීරය. මේවායින් ප්‍රබලම එක තමයි කර්මජ කය හෙවත් සූක්ෂම මනෝ කාය කියල හඳුන්වන්නෙ. ඒකට මේ සියල්ලම යටත්. ඒක නැත්නම් අනෙක්වා කොච්චර තිබුණත් කරන්න බෑ.

දැන් එතකොට කර්මජ කයේ (සූක්ෂම කයේ) තියෙන මට්ටම ඒ විදියටම ගත්තොත් හරියට භූතයෙක් වගේ. ඒ නිසා තමයි භූත රූප අඳින කොට ඇඟිලිවලට දිගු නියපොතු දාල ඇඳල තියෙන්නෙ. මනුස්සයෙක්ගෙ මේ ඇස්ට්‍රල් බොඩිය හෙවත් සූක්ෂම කය ගත්තොත් දිගු රැවුලක්, දිගු කොණ්ඩයක්, දිගු නියපොතු තියෙන භූතයෙක් වගේ. නමුත් මනුස්සය මස් ලේ කය ඒ තත්ත්වයට පත් වෙන්න පෙර රැවුල, කොණ්ඩෙ, නියපොතු ආදිය තමන්ට අවශ්‍ය විදියට කපා ගන්නවා. ඒ නිසා හැඩරුවින් වෙනස් ස්වරූපයක් ගන්නවා. නමුත් අපේ කර්මජ කයේ රූපය එහෙම නෙවෙයි. ඒක හරියට භූතයෙක් වගෙයි. ඒ නිසා බැරි වෙලාවත් මනුස්සයෙක් මේ කර්මජ රූපයක් දක්කොත් භය වෙන්නත් පුළුවන්. අර විදියට රැවුල, කොණ්ඩෙ, නියපොතු ආදිය කවදාවත් කැපුවෙ නැත්නම් මනුස්සයත් භූතයෙක් වගේමයි. භූ කියන්නෙ බිඳ හරිනවා කියන අර්ථය. ගෝත්‍ර භූ කියන්නෙ ගෝත්‍රය බිඳ හැරියා කියන කාරණයෙන් ඒ බව පැහැදිලි වෙනවා. අත කියන්නෙ අත්බවය හෙවත් ශරීරය කියන එක. එතකොට භූ + අත - භූත කියන්නෙ අත්බැව බිඳී යාම නිසා ඉතිරි වෙන කොටස. ඒ තමයි අර සූක්ෂම කර්මජ කායික අවස්ථාව. ඒක භූතයෙක් වගෙයි. මනුස්සයගෙ කර්මජ රූපයත් භූතයෙක් වගෙයි කිව්වෙ මේ නිසා.

එතකොට කෙනෙකුට ප්‍රශ්නයක් එන්න පුළුවන්, ඔය ව්‍යායාම්, බෙහෙත් ආදිය මගින් ඇඟපත අවශ්‍ය විදියට හදාගන්නෙ කොහොමද කියල. කෘතීම විදියට එහෙම එක්තරා සුළු මට්ටමක් වෙනස් කර ගන්න පුළුවන් තමයි. එහෙම වෙන්නෙ මේ මස් ලේ කයට එක්තරා ප්‍රමාණයකට නම්මනය වන, රුප්පනය වන ස්වභාවයක් තියෙන නිසා. නම්මනය කිව්වෙ යම් කිසි පැත්තකට නමන්න, පුම්බන්න පුළුවන් ආකාරයේ නම්‍යතාවයක්. රුප්පනය කිව්වෙ රූපයේ යම් කිසි ඔප් නැංවීමක්. අන්න ඒ ප්‍රමාණයට විතරයි ඒ විදියට කෘතීමව වුනත් හැඩ කරගන්න පුළුවන් වෙන්නෙ. හැබැයි ඒ ව්‍යායාම් ආදිය අත්හැරියට පස්සෙ

නැවතත් ස්වභාවික ප්‍රකෘති තත්ත්වයට පත් වෙනවා. ඒ කියන්නෙ අර කර්මජ කයේ ප්‍රමාණයටම මස් ලේ කයත් නැවත හැඩ ගැහෙනවා. හරියට රබර් බෝලයක් තද කරගෙන ඉඳල නැවතත් අතහැරිය වගෙයි. එහෙම නැතිව දිගටම ඒ තත්ත්වය පවතින්නෙ නෑ.

මේ කාරණය තවත් උදාහරණයකින් පැහැදිලි කළොත්, වාහනයක රෝදයක යම් කිසි පිම්බුනු ප්‍රමාණයක් තියෙනවා. මේ රෝදයට හයියෙන් හුළං ගැහුවොත් අධික පීඩනය නිසා තවත් ටිකක් පිම්බෙනවා, ඔප් නැංවෙනවා. ඒ වගේම හුළං ඇරියොත් එහෙම රෝදෙ ඇකිලිලාම තියෙන්නෙත් නෑ. ස්වභාවික මට්ටමට එනකල් ඇකිලිලා නවතිනවා. කෘතීමව පුම්බන කොට වැඩියෙන් පිම්බෙන මට්ටම තමයි අර නම්මනය වන රූප්පනය වන මට්ටම කියන්නෙ. ඒ වගේ තමයි ශරීරයත් කෘතිමව එක්තරා මට්ටමකට පුම්බල ගත්තට, ඒක නැවැත්තුවොත් අර රෝදෙ හුළං ඇරියම යම් තරමකට ඇකිලිලා හිටිනව වගේ, මේ ශරීරයත් නැවත කර්මජ කයේ ස්වභාවයට පත් වෙනවා. කෘතීමව ව්‍යායාම් ආදිය කළාම හරියට අර පුම්බල හුළං ගහපු රෝදෙ වගේ.

ඒ නිසා යමෙකුගේ සූක්‍ෂම කර්මජ කය හොඳ පෘෂ්ඨිමත්, ශක්තිමත් විදියට පිහිටල තිබුණොත්, මස් ලේ කයට ව්‍යායාම් නොකළත්, මස් ලේ කයත් ඒ විදියට සකස් වෙලා තියෙනවා. ව්‍යායාම ආදී කෘතීම දේවල් මුකුත් නොකරන ඒ වගේ මනුස්සයොත් ඉන්නවා. ඒ වගේම සමහර මනුස්සයො ව්‍යායාම නෙවෙයි මොනව කළත් ඇඟපතක් නෑ, නිකං ඔතැනි වෙලා වැඩක් පළක් කරගන්න බැරිව ඉන්නවා. එතකොට ඒ අයගෙ සූක්‍ෂම කර්මජ කයත් එහෙමයි. ඒ වගේම සූක්‍ෂම කය ස්ත්‍රී වෙලා තිබිල, මැරිල චුතියෙන් පස්සෙ පුරුෂ වුනොත් මස් ලේ කයත් පුරුෂ බවට පරිවර්තනය වෙනවා. මේ සූක්‍ෂම කර්මජ කයට ඒ තරම් මහ බලවත් ශක්තියක් තියෙනවා. ලිංග පරිවර්තනය වෙන්නෙත් ඒ අනුවම තමයි. ඒ නිසා මේ කර්මජ කයෙන් ස්ත්‍රී පුරුෂ භාවය, හැඩරුව ආදී සියල්ලක්ම පාලනය කරනවා. කර්මජ කයට එන සමහර රෝගවලට බෙත් නැතිවෙන්නෙත් මේ හේතුව නිසා. ඉතින් අපි මොනව කළත් මේ කර්ම ශක්තියේ පාලනය තුළ ඉඳගෙන තමයි මේ ඔක්කොම කරන්නෙ.

ඊළඟට මේ ස්ත්‍රී පුරුෂ භාව කිව්වම භාව රූප හැටියට පෙන්වන්නෙ කර්මජ රූප. නමුත් මේ රූප දෙකේදි ස්ත්‍රී භාව, පුරුෂ භාව කියන්නෙ ලිංග නෙවෙයි, ගති ලක්‍ෂණ දෙකක්. ඒ ගති ලක්‍ෂණ දෙකෙන් එන කායික ස්වභාවය තමයි, මේ ස්ත්‍රී පුරුෂ විදියට පෙන්වන්නෙ. උදාහරණ විදියට කෙනෙක්ගෙ අතක් ගත්තොත් ඒ අතේ ලිංගයක් කියල දෙයක් පලාතකවත් නෑ. නමුත් ඒක ස්ත්‍රී අතක් ද, පුරුෂ අතක් ද කියල වෙන් කරල හඳුන ගන්න පුළුවන්. හැබැයි සමහර වෙලාවට සමහර ස්ත්‍රී අත් පුරුෂ අත් වගේ, සමහර පුරුෂ අත් ස්ත්‍රී අත් වගේ එක්තරා මට්ටමක වෙනසක් තියෙනවා. ඒක සිද්ධ වෙන්නෙ මේ මුලින් හටගත්තු භාව රූපවල තියෙන ගති ලක්‍ෂණ ඉස්මතු වීමෙන්. එතනදි ස්ත්‍රී භාවය, පුරුෂ භාවය කියල කර්ම භවයකින් හට ගත්තු භාවය යම් කිසි පටිසන්ධියකින් තමයි නැවත වෙනස් වෙන්නෙ. එතකොට ස්ත්‍රී පුරුෂ ගති ලක්‍ෂණ මිශ්‍ර වෙලා ප්‍රවෘත්ති විපාක වශයෙන් ඇති වන වෙනස්වීම් සිද්ධ වෙන්නෙ මේ අමතර ගති ලක්‍ෂණ ඉස්මතු වීමෙන්. හැබැයි ඒක භාව රූප



වෙනස්වීමක් නෙවෙයි. **භාව රූපයේ ස්ත්‍රී ගති ලක්‍ෂණ 75% ඉක්මෙව්වොත් තමයි නියම ස්ත්‍රියක් වෙන්නෙ. ඒ වගේම භාව රූපයේ පුරුෂ ගති ලක්‍ෂණ 75% ඉක්මෙව්වොත් තමයි නියම පුරුෂයෙක් වෙන්නෙ.** නමුත් අද ස්ත්‍රී, පුරුෂ වෙන් කරන්න පුරුදු වෙලා තියෙන්නෙ ලිංගවලින්. ස්ත්‍රී ලිංග නිසා ස්ත්‍රී කියනව, පුරුෂ ලිංග නිසා පුරුෂ කියනවා. නමුත් මේ භාව රූප දෙක වෙන් කරල තියෙන්නෙ එහෙම නෙවෙයි. ප්‍රධාන ගති ලක්‍ෂණ 2 ක් අනුව. ඒ තමයි ස්ත්‍රී, පුරුෂ කියන ගති ලක්‍ෂණ 2. ශරීරය පුරාම මුළු අවයවයන්ගෙම මේ ගති ලක්‍ෂණ 2 තියෙනවා. කෙනෙකුට යම් කිසි ඔතැනි ගති ලක්‍ෂණයක් තියෙනව නම් ස්ත්‍රී ගති ලක්‍ෂණයක් විදියට ඒක පිටට විද්‍යමාන වෙනවා. ඒ ගති ලක්‍ෂණය සමහර පිරිමි අයට පිහිටන්නත් පුළුවන්. ඒ වගේම පෞරුෂත්වයෙන් පිරිච්ච පිරිමි ගති ලක්‍ෂණයක් තියෙනව නම් ඒක පිටට විද්‍යමාන වෙනවා. ඒක සමහර ස්ත්‍රීන්ටත් පිහිටන්න පුළුවන්. ඒක කර්ම ශක්තියෙන් කර්ම රූප වශයෙන් තමයි එන්නෙ.

මේ විදියට ස්ත්‍රී භාව, පුරුෂ භාව කියල භාව රූප දෙකක් මුලින්ම පටිසන්ධියේදි ලබා දෙනවා. කර්ම ශක්තියෙන් ගෙනාපු පටිසන්ධියෙන් දුන්නු ඒ භාව ගති රූප අතර මගදි වෙනස් වෙන්නෙ නෑ. ඒ භවය අවසන් වෙනකල්ම ගෙනියනවා. හැබැයි ඒ භාව රූප කියන්නෙ ලිංග නෙවෙයි, ගති ලක්‍ෂණ හෙවත් ගති රූප. මිනිස් පටිසන්ධියක් ලබන කොට ඒ භාව රූපය ඉස්සෙල්ලම ලබල ඉවරයි. කාය දසක, භාව දසක, වස්තු දසක කියන මේ තුන ඒකාන්තයෙන්ම ලබල තමයි බ්‍රහ්ම කල්පික මනුස්සය ඉස්සෙල්ලම මේ මනුස්ස ලෝකෙ උපදින්නෙ. එතකොට මහ පොළවෙ තිබ්බ්ච භූමි පටක ලෙව කන්නෙ බ්‍රහ්මය නෙවෙයි, මනුස්සය. මොකද බ්‍රහ්මයට දිවක් නෑ. දිව හට ගන්නෙ මනුස්ස ලෝකෙ උපන්නට පස්සෙ. එතකොට සූක්‍ෂම කයකින් මේ මිනිස් ලොව උපන්නට පස්සෙ මුල් කාලෙ ස්ත්‍රී, පුරුෂ ලිංග පිහිටල තිබුණෙ නෑ. හැබැයි භාව ලබල තිබුණා. මේ නිසා කාලයක් යද්දි ශරීර ඝනීභවන වෙන කොට තමයි ස්ත්‍රී භාව තිබ්බ්ච අයට ස්ත්‍රී ලිංගත්, පුරුෂ භාව තිබ්බ්ච අයට පුරුෂ ලිංගත් එන්න පටන් ගත්තෙ. එහෙම ආවට පස්සෙ තමයි ස්ත්‍රී, පුරුෂ කියල දෙගොල්ලන්ට දෙගොල්ලන් වෙන වෙනම අඳුන ගත්තෙ. එතකොට මුල් කාලෙ මේ සූක්‍ෂම කයේ මේ කියන ලිංග, ලක්‍ෂණ වශයෙන් පිහිටල තිබුණත්, මස් ලේ කයට ආවෙ නෑ. ඒ ලක්‍ෂණ මෝරන කොට තමයි මස් ලේ කයට එන්නෙ. එහෙම නැතිව එක පාරටම සූක්‍ෂම කයේ තියෙන සියලු ලක්‍ෂණ මස් ලේ කයට එන්නෙ නෑ.

උදාහරණ විදියට ළමා වයසෙදි ළමයෙකුගෙ රැවුල වැවෙන්නෙ නෑ. මෝරන කොට රැවුල වැවෙන කාලයක් එනවා. හැබැයි මනෝමය සූක්‍ෂම කය / කර්මජ කය ගතෘතීත උපන් පොඩි ළමයගෙ වුනත් රැවුල තියෙනවා. ඒක මස් ලේ කයට එන්නෙ මෝරන කොට. මේ වගේ ශරීර මෝරන කොට තමයි ලිංග එන්නෙ. එතකල් මනුස්සයින් මේ ☞

ලෝකෙ පහළ වෙච්ච මුල් කාලෙ බාහිරට විද්‍යමාන වෙන ලිංග තිබුණෙ නෑ. උපදින පොඩි එකාගෙත් සූක්ෂම මනෝ කාය ගත්තොත් හරියට භූතයෙක් වගේමයි. හැබැයි කර්මජ රූපයයි, චිත්තජ රූපයයි, උතුජ පරිසරයයි නිසා ඒක එක්තරා මට්ටමකට පාලනය වෙනවා. චිත්තජ රූපයේ ගති ලක්ෂණ, කර්මජ රූපයේ ගති ලක්ෂණත් එක්ක සම්බන්ධ වෙලා තමයි උතුජ පරිසරයත් බලපාල කර්ම, චිත්ත, උතුජ කියන මේ තුනෙන්ම රූප නැගෙන්නෙ. ඒ සූක්ෂම කායික අවස්ථාව හැදෙන කොට හිත පටන් ගත්තු තැනින් හිතට අනුකූලවත් ක්‍රියා කරනවා. ඒ කියන්නෙ හිත නිසා යම්කිසි පාලනය වීමක් සිද්ධ වෙනවා. හිත ළපටි නම් ඒ ළපටි හිත තමයි ඉස්සෙල්ල ආරම්භ වෙන්නෙ. ඒ ළපටි හිතට අනුකූලව ළපටි හිතයි, කර්මජ කයයි ක්‍රියාත්මක වෙන කොට බාහිර ඉන්ද්‍රියන් පුංචි ළමයගෙත් සියුම්ව තියෙනවා. ඒ නිසා **පුංචි ළමයෙක් අරගෙන සූක්ෂම කර්මජ මනෝකාය බැලුවොත්, ස්ත්‍රී දරුවෙකුගෙ රැවුල නෑ. පිරිමි දරුවෙකුගෙ රැවුල ලාවට තියෙනවා.** චිත්තජ රූප කියන්නෙත් සූක්ෂම රූප. ඒ චිත්තජ රූපයි, මනෝමය කර්මජ කයේ රූපයි එකිනෙකට මිශ්‍ර වෙනවා. ඊළඟට ඒ දෙකේ සංකලනයක් තමයි එන්නෙ.

මේ සූක්ෂම කය කියල කිව්වම මනුස්සයෙක් මැරිල යන කොට ත්‍රිජ කායෙන් තමයි විශ්වයට නිදහස් වෙන්නෙ. ඒ සූක්ෂම කය ගඳ සුවඳ ආඝ්‍රහණය කරල සූක්ෂම චතුජ කයක් බවට පත් වුනාම ඒ තමයි ගන්ධබ්බ අවස්ථාව. ඒ ගන්ධබ්බය තමයි කර්මජ කයෙන් වැඩිල මනුස්සයෙක් වෙන්නෙ. දැන් මේ මනුස්සය අවුරුදු 60 දි මළොත්, තවමත් මනුස්ස භවය ඉවර නැත්නම්, අවුරුදු 60 ක ගන්ධබ්බයෙක් හැටියට තමයි ඉන්නෙ. මොකද චිත්තජ කයෙයි, කර්මජ කයෙයි සංකලනයක් තමයි තාමත් තියෙන්නෙ. මෙතනදි කර්මජ කය වෙනස් වෙන්නෙ නෑ. චිත්තජ කය වෙනස් වෙනවා. නමුත් කර්මජ කයට චිත්තජ කය ආදේශ කරන්න පුළුවන්. ඒ නිසා ගන්ධබ්බ කයෙත් අර කලින් තිබිච්ච චිත්ත ගති ලක්ෂණ හට ගන්න පුළුවන්.

උදාහරණ විදියට නිතර අතේ ඔරලෝසුවක් බැඳල ඉන්න මනුස්සයෙක්, එහෙම නැත්නම් කනේ කරාබුවක් දාපු කාන්තාවක් හදිසියේ මළොත්, ඒ අයගෙ සූක්ෂම මනෝ කායෙත් අර විදියට ඔරලෝසුව බැඳල, කරාබු දාල තමයි ඉන්නෙ. ඒ වගේම යම්කිසි විදියකින් ඇඳුම් ඇඳගෙන හිටිය නම් ඒවත් එහෙම්ම තියෙනවා. ඒ අර චිත්තජ රූපය නිසා. දැන් මේ කාරණය දැනගන්න පුළුවන් අවස්ථාවක් තමයි, නිතර අතේ ඔරලෝසුවක් බඳින්න පුරුදු වෙච්ච කෙනෙක්, ඔරලෝසුව ගලවල ඉන්න වෙලාවක කවුරුහරි ඇහුවොත් දැන් වෙලාව කීයද කියල එක පාරටම අත බැලෙනවා. ඒ කියන්නෙ ඒ පුද්ගලයගෙ හිතේ තියෙනව, තමන්ගෙ අතේ ඔරලෝසුව තියෙනව කියල ලාංඡනයක්. මොකද නිතර පාවිච්චි කරපු පුරුද්ද නිසා. ඒ වගේම ඒ විදියට කනේ කරාබු දාල හිටපු කෙනෙක් කරාබු කුට්ටම ගලවල ඉන්න වෙලාවක කවුරු හරි ඇහුවොත්, කෝ ඔයාගෙ කරාබුව කියල එක පාරටම කනට අත යනවා. කෝ මාලෙ කියල ඇහුවොත් එක පාරටම බෙල්ලට අත යනවා. එතකොට එහෙම එක පාරටම ඇහුවම ඒ පුද්ගලයාට මතක නෑ, තමන් ඒ පළඳනාව ගලවල ආව කියල.

ඉස්සෙල්ලම ඒ පළඳනාව පළඳින තැනට අත ගිහින් තමයි දෙවනුව ඒක ගලවල තියල ආපු බව කියන්නෙ. ඒ කියන්නෙ හිත හැම වෙලේම යමක් පරිහරණය කරල තිබුනම, ඒ ගති ලක්ෂණයෙන්මයි චිත්තජ රූපයේ ඉන්නෙ. ඊළඟ අත්භවයට යන කොට චිත්තජ රූපය, කර්මජ රූපයෙන් පරිවර්තනය වෙනවා. හරියට බොඳ වෙලා යනව වගේ. එතකොට චිත්තජ රූපය තද නින්දට වැටෙනවා. ඒත් එක්කම ඒ චිත්තජ රූපයේ ආකෘතිය කර්මජ රූපයෙන් අහක් වෙනවා. කර්මජ රූපය කර්ම ශක්තියෙන් කුඩා කරනවා. ඒ විදියට අංශු මාත්‍රයට කුඩා කරල හකුළල තමයි මවු ගැබකට යවන්නෙ. එතනින් පස්සෙ තමයි අර කලින් තිබිච්ච චිත්තජ රූපය වෙනස් වෙන්නෙ. එතකොට ඔරලෝසුව නෑ, කරාබුව නෑ. නමුත් මවු කුසට ඇතුල් වෙන කල්ම ඒ ගන්ධබ්බයට අර චිත්තජ රූපය නිසා ඒ පළඳපු ඒවා එහෙම්ම තියෙනවා. සමහර විට මවු කුස ළඟට ගිහින් නැවතත් මවු කුසෙන් අහකට යන කොට අර චිත්තජ රූපයම නැවත එනවා. ඒ කියන්නෙ ඒ චිත්තජ රූපයට අමතක වෙන්නෙ නෑ. හරියට නිදාගෙන හිටපු කෙනෙක් ඇහැරෙනව වගේ. නින්ද ගියාම යමක් දැනෙන්නෙ නෑ. හැබැයි ඇහැරෙව්වොත් නැවත දැනීම එනවා. මේ නින්ද යන මොහොත වගේ අවස්ථාවක් තමයි අර මවු ගැබට ඇතුල් වෙන මොහොත. ගැබට ගිහින් අලුතින් චිත්තය වැඩෙන්න පටන් ගත්තම තමයි, අර ඉස්සෙල්ල තිබිච්ච චිත්තජ රූප අමතක වෙවී, අලුත් චිත්තයට නව ජීවය ආරම්භ වෙන්නෙ. එතකොට ඒ චිත්තජ රූපයට තමයි පුංචි ළමයගෙ ස්වභාවය එන්නෙ. හැබැයි ඒ සමඟ ඇදිල එන ගති ලක්ෂණ නවත්තන්න බෑ. අර කර්මජ රූපයත් එක්ක නැවතත් ඒකට අනුව මෝරනවා. ඊට පස්සෙ තමයි වැඩිලත් අර පෙර අත්භවයෙ ගති ලක්ෂණ එන්නෙ.

ස්ත්‍රී පුරුෂ භාව රූප දෙක හැදෙන කොටත් ඔය විදියට තමයි එන්නෙ. එතකොට මේ භාව රූප කර්මජයි. මේ කර්මජ රූපය තුල සූක්ෂම ස්ත්‍රී, පුරුෂ ලිංග මානසිකත්වයට හේතු තියෙනවා. නමුත් භාව රූප කියන්නෙ ලිංගම නෙවෙයි. ඒ ලිංගවලට අදාල ගති ලක්ෂණ. ඒක හදවතේ හට ගන්න යම්කිසි විදියක පරිවර්තනයක්. ස්ත්‍රී ගති ලක්ෂණ ඇති කරන ශක්තිය තමයි ස්ත්‍රී භාව රූපය කියන්නෙ. පුරුෂ ගති ලක්ෂණ ඇති කරන ශක්තිය තමයි පුරුෂ භාව රූපය කියන්නෙ. මේ දෙකෙන් තමයි ස්ත්‍රී, පුරුෂ ගති ලක්ෂණ ඇති කරන්නෙ. නමුත් අද මේ කාරණයත් පටලවාගෙන. භාව රූපයන්ගෙ මෝරපු අවස්ථාවක් තමයි ස්ත්‍රී ලිංග, පුරුෂ ලිංග කියන්නෙ. ඒ වුනත් ඒ කාරණය විතරක් නෙවෙයි, ස්ත්‍රී පුරුෂ කියන්නෙ. කෙස් ගහේ පවා මේ ගති ලක්ෂණ තියෙන නිසා තමයි, කෙනෙක්ගෙ කෙස් ගහක් බලල ස්ත්‍රීද, පුරුෂ ද කියල කියන්න පුළුවන්කම ලැබෙන්නෙ. ශරීරයේ ඕනෑම තැනක රෝම කූපයක් ගත්තත් ඒකෙන් ස්ත්‍රී ද පුරුෂද කියල කියන්න පුළුවන්. ඒ තරමටම ස්ත්‍රී පුරුෂ ගති ලක්ෂණ ශරීර අඟපසඟවල හැම තැනම පිහිටනවා. ඒ හැම එකක්ම භාව රූපයේ මෝරපු අවස්ථා.

භාව රූපය කියන එක හෘදය වස්තුවේ හට ගන්න ඉතා කුඩා අංශු මාත්‍රයක් නමුත් ඒකෙන් කෙරෙන වැඩ මහ විසාලයි. හරියට ජංගම දුරකථනයක චිප් එක වගේ. චිප් එක පොඩි වුනාට විශාල දත්ත ප්‍රමාණයක් ඒකෙ ගබඩා වෙලා තියෙනවා. එතකොට මේ භාව රූපය තමයි එක පටිසන්ධියකින් පටන් ගෙන චුත වෙලා ඊළඟ පටිසන්ධිය වෙනකල්ම තියෙන්නෙ. මේ කාරණය තේරුම් ගන්න බැරිව පුරුෂයෙක් ස්ත්‍රියක් වීමත්, ස්ත්‍රියක් පුරුෂයෙක් වීමත් වෙන්න බැරි දෙයක්, ඒක උපතින්ම පටිසන්ධියකින් වෙන දෙයක් මිසක් පස්සෙ වෙන්න පුළුවන් දෙයක් නෙවෙයි කියල සමහරු වැරදි ආකල්ප ගන්නවා. නමුත් එහෙම දෙයක් ඒකාන්තයෙන්ම තියෙන බව බුදු දහමෙත් පෙන්වල තියෙනවා. මේ වෙන කොට නවීන විද්‍යාවෙනුත් ඔප්පු වෙලා තියෙනවා. එතකොට ඒ වගේ අවස්ථාවකදි භාව රූපයේ වෙනස්වීම නෙවෙයි සිද්ධ වෙන්නෙ. භාව රූපයේ තිබිච්ච ස්ත්‍රී පුරුෂ ගති ලක්ෂණ විවිධාකාරයෙන් ඉස්මතු වෙලා මොකක් හරි භාව ගති ලක්ෂණයක් වැඩි පුර මතුවීම නිසා සිද්ධ වෙන දෙයක්.

(ඉතිරි කොටස ලබන කලාපයෙන්)

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ :*

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# අපට නොපෙනෙන ලෝකය දහම් ඇසින්...

16 වන කොටස

## සමාධි ඇසට හසු වූ පියාඹන පීරිසියක ක්‍රියාකාරීත්වය

මේ ලිපි පෙළේ කිහිප අවස්ථාවකම උතුරුකුරු දිවයිනේ වැසියන් ගමන් බිමන් සඳහා භාවිතා කරන පියාඹන පීරිසිය ගැන සඳහන් කළා. දැන් මේ හෙළිදරව් කරන්නෙ ඒ වගේ පියාඹන පීරිසියක ක්‍රියාකාරීත්වය සම්බන්ධයෙන් සමාධියට හසුවෙච්ච තොරතුරු ටිකක්. මේකත් හරියට අර කලින් විස්තර කළා වගේ සක්විති රජ කෙනෙකුට පහළ වෙන චක්‍රරත්නය කියන රථය වගේ යානයක්. ප්‍රමාණය ගත්තොත් එකම ප්‍රමාණයේ නෙවෙයි, සාමාන්‍ය ප්‍රමාණයන්ගෙන් පටන් ලොකු කුඩා යානා තියෙනවා. එක් එක් අයගෙ පුණ්‍ය සෘද්ධිවල මට්ටම් අනුව එක වරකට 25 - 30 කට පමණ යන්න පුළුවන් පොඩි යානාත්, ඊට වඩා දහස් ගණනකට යන්න පුළුවන් විශාල යානාත් තියෙනවා. නමුත් ඒ වගේ ලොකු යානා මේ මනුස්ස ලෝකෙට එනව අඩුයි. බොහෝ විට පොඩි යානා තමයි මෙහේ එන්නෙ.

එතකොට මේ වගේ රථයක් ඒ වැසියන්ට පහළ වෙන්නෙත් ඒ අයගෙ පුණ්‍ය සෘද්ධියට. හැබැයි ඒ ලෝකෙ ඉන්න සියලුම වැසියන්ට මේ වගේ යානා නෑ. ඒකට හේතු තියෙන කෙනෙකුට තමයි පුණ්‍ය සෘද්ධියෙන්ම ඒ වගේ යානයක් වුනත් පහළ වෙන්නෙ. හරියට අපේ ලෝකෙත් යානවාහන හැමෝටම නෑ වගේ. මොකද යාන වාහන තියෙනව කියන්නෙත් එක්තරා පුණ්‍ය සම්පත්තියක්. ඒ වගේම **ඒ පියාඹන පීරිසි කියන යානාවල නියමුවෙක් වෙන්නත් හැමෝටම බෑ. ඒකත් පුණ්‍ය සෘද්ධියෙන්ම ඒක හිමි කෙනාටමයි ලැබෙන්නෙ.** හරියට අපේ ලෝකෙ ගුවන් යානා පදවන්න ඒකට වෙනම පුරුදු පුහුණු වෙච්ච ගුවන් නියමුවො ඉන්නව වගේ. හැබැයි ඒ ලෝකෙ යානා පදවන්න මෙහේ වගේ පුරුදු පුහුණු වෙලා බෑ. ඒ අවස්ථාව උප්පත්තියෙන්ම පුණ්‍ය සෘද්ධියට ලැබෙන පිරිසක් ඉන්නවා. ඒ අයට හැර අනෙක් අයට මේ ලෝකෙ වගේ පුරුදු පුහුණු වෙලා ඒ යානා පදවන්න බෑ. මොකද පුණ්‍ය සෘද්ධිය වගේම විශේෂයෙන් මානසික බලයක් ඒක ක්‍රියාකරවන්න අවශ්‍යයි. ඒ මානසික බලයත් එක්ක පියාඹන පීරිසිය සම්බන්ධයි. එතකොට ඒ ප්‍රධානියා අපේ ලෝකෙ වගේ පුහුණු කරල නිර්මාණය කරගත්තු කෙනෙක් නෙවෙයි. ඒකට හේතු ඇතිවම එහේ ඉපදිච්ච කෙනෙක්. ඒ පුද්ගලයගෙ පුණ්‍ය සෘද්ධියට තමයි ඒ වගේ රථයක් පහළ වෙන්නෙ. හරියට සක්විති රජ කෙනෙකුට චක්‍ර රත්නය පහළ වෙනව වගේ.

දැන් එතකොට මේකෙ ක්‍රියාකාරීත්වය ගත්තොත්, මේ පියාඹන පීරිසියක පැති 8 ක්, අට පට්ටම් හැඩයට යානයේ වට රවුමට පිහිටනවා. ඒ පැති අටේම ඒ ඒ පැත්තට කිරණ විහිදෙන දියමන්ති වගේ මැණික් කැටවලින් හැදිච්ච උපාංග 8 ක් තියෙනවා. මේ උපාංග 08 පිටතට උත්තල හැඩයකට පිහිටල තියෙන්නෙ. ඒකත් පුණ්‍ය සෘද්ධියෙන්ම පහළ වෙන දෙයක්. නමුත් ඒකෙ තියෙන භෞතිකත්වය ගත්තොත් මැණික් වර්ගයක්. ඒ මැණික් වර්ගයේ එක පැත්තකට චිත්ත කිරණක් වදින කොට තමයි මැණික ක්‍රියාත්මක වෙන්නෙ. නියමුවා හිතන විදිහට පිටවෙන චිත්ත කිරණ තමයි ඒකට බලපාන්නෙ. ඒ චිත්ත කිරණ වදිනකොට මැණික තුළ ඇතිවන රසායනික සංයෝගයකින් විශාල කිරණක් පිටවෙනවා.



මේ මැණික් වර්ගය ගැන කථා කළොත්, ඒක මේ අපේ ලෝකෙ විශේෂයෙන් තියෙන මැණික් වර්ගයක් කියල කියන්නත් බෑ. හැබැයි මේ ලෝකෙ නෑ කියන්නත් බෑ. ඒකට මේ අපේ ලෝකෙ කියන්නෙ දුවන මැණික් කියල. මොකද ඒක අල්ලන්න බෑ. අපේ මේ මහ පොළොවෙ පවා ඒව තියෙනවා. නමුත් අල්ලන්න බෑ දුවනවා. සමහර මැණික් ගරන උදවිය ඒව දැකල කලන්තෙ හැදිල වැටිලත් තියෙනවා. ඒ මැණික් වර්ගය හරි ගුප්තයි. ඒ දුවන මැණිකට අර වගේ කිරණ විහිදෙන ශක්තියක් තියෙනවා. ඒ නිසා තමයි අර යානයේ අට පැත්තට දියමන්ති අටක් විදියට මේ මැණික් වර්ගයෙන් උපාංග අටක් නිර්මාණය වෙලා තියෙන්නෙ.

ඒ වගේම මේ මැණික් වර්ගය සද්ධන්ත කුලේ ඇතුන්ටත් සම්බන්ධයි. ඒකත් ලේසියෙන් පහල වෙන්නෙ නෑ. සක්විති රජ කෙනෙකුට පුණ්‍ය සෘද්ධියටමයි ඒ වගේ ඇතෙක් පහල වෙන්නෙ. ඒ නිසා ඒ වගේ සද්ධන්ත කුලේ ඇත්තු අද නෑ. ඒ ඇතාට විශාල බලයක් තියෙනවා. ඇතාගෙ කුම්බස්තලයෙ පටන් ගෙන කොඳු නාරටිය දිගේ ඒ මැණික් වර්ගයේ සාරය පිහිටල තියෙනවා. සක්විති රජ කෙනෙක් හිතන පැත්තට ඇතා මෙහෙය වෙන්නෙත් ඒ මැණික්වල තියෙන ශක්තිය නිසා. ඒ වගේම ඒ ඇතාට උඩින් යන්න පුළුවන්කම ලැබෙන්නෙත් පුණ්‍ය ශක්තියෙන් ලැබෙන ඒ මැණික්වල තියෙන ශක්ති විශේෂය නිසා. සක්විති රජ කෙනෙක්ගෙ ඇතා ආකාසෙන් යනව කියන්නෙත් ඒකයි. එහෙම නැතිව තටු ගහල යනව නෙවෙයි. ඒ ඇතා සතර අපායට අයිති තිරිසන් සතෙක් වුනාට කර්ම විපාකජ සෘද්ධියක් තියෙනවා. හැබැයි ඌ ඕපපාතිකව සක්විති රජ කෙනෙකුට පුණ්‍ය සෘද්ධියටම පහල වෙන ඇතෙක්. ඒ ඇතාගෙ කය භෞතිකව ගොඩනැගිල තියෙන්නෙත් ඒ විදියටමයි.

සක්විති රජ කෙනෙක් පහල වෙන කාලයට ඔය මැණික ලබාගන්න ගුප්ත ක්‍රමයක් තියෙනවා. එතනදි රිදී කම්බිවලින්, අතර හිඩැස් හිටින්න හදපු කූඩුවක් වගේ භාජනයකට තමයි ඒ මැණික කොටු කරගන්නෙ. ඒ වගේ රිදී බඳුනකින් හැරෙන්න වෙන මොකකින්වත් ඒක අල්ල ගන්න බෑ. හැබැයි ඒක ඇතා මරල ගන්න ක්‍රමයක් නෙවෙයි. ඇතා ස්වභාවිකවම මළාට පස්සෙ, උගේ ඉහේ පටන් ☞

ගෙන ඒ මැණිකෙ තියෙන ශක්තිය ගුලි ගැහෙන්න පටන් ගන්නවා. කිරණක් විදිහට ඒක ගුලි ගැහිල කොඳු ඇට පෙල දිගේ ගිහින් වලිගය අගින් කිරණ විහිදමින් පිටවෙනවා. එහෙම විනිවිඳ යන්න පුළුවන් ශක්තියක් ඒ මැණිකට තියෙනවා. ඒ විදියට පිටවෙන කොට ඒක අර රිදී බඳුනෙන් අල්ලගන්නවා. මෙන්න මේ වගේ මේ පියාඹන පීරිසියේ තියෙන්නෙත් ඔය වගේ මැණික් වර්ගයක්. ඒ වගේම ඒ යානය හැදිල තියෙන්නෙත් රිදී මිශ්‍රණයකින්. මේ කාරණය ටිකක් විග්‍රහ කළේ මේවායේ තියෙන සම්බන්ධය පෙන්වන්න.

**දැන් මේ පියාඹන පීරිසියක ඒ කිරණ විහිදෙන කොට ඊට ප්‍රතිවිරුද්ධ දිශාවට තමයි යානය ගමන් කරන්නෙ.** උදාහරණ විදියට දකුණු පැත්තෙන් කිරණ විහිදුනොත් යානය උතුරු පැත්තට ගමන් කරනවා. උතුරු පැත්තෙන් කිරණ විහිදුනොත් දකුණු පැත්තට ගමන් කරනවා. ඊසාන පැත්තෙන් විහිදුනොත් නිරිත දිසාවට ගමන් කරනවා. වයඹ පැත්තෙන් විහිදුනොත් ගිනිකොණ දිසාවට ගමන් කරනවා. ඒ වගේ පැත්තෙන් පැත්තට කිරණ විහිදෙන දිසාවට විරුද්ධ දිසාවට තමයි යානය ගමන් කරන්නෙ. හරියට රොකට්ටුවක් යවන කොට දුම් කදම්බය යටට ගිහින් යානය උඩු පැත්තට යනව වගේ. ඒ ඒ පැතිවලට යානය හරවන්න තියෙන්නෙත් ඒ කිරණවලින්. යානය කෙලින්ම උඩට ගන්න ඕන නම් මැද ලොකු රවුමක් තියෙනවා. ඒ රවුමෙන් තමයි කෙලින්ම උඩට උස්සන්න අවශ්‍ය කිරණ විහිදෙන්නෙ. යානය පහත් කරන්න ඕන නම් ඒ මැද තියෙන රවුමෙන් තමයි කිරණ අඩු කරල පහත් කරන්නෙ. පහලට යන කිරණ ධාරාව ක්‍රමයෙන් බාල කරන කොට යානය උඩ ඉඳන් පහලට බහිනවා. නැවත උඩට ගන්නකොට ඒ කිරණ ධාරාවම වේගවත් කරනවා. නියමුවා හිතනවත් එක්කම ඒකෙන් විශාල කිරණ කදම්බයක් පහලට විහිදිලා යානය කෙළින්ම උඩට ඉස්සෙනවා. ඒ වගේම යානය අනිත් පැත්තට ඇලවෙන්න ගියොත්, කිරණ විහිදල අවශ්‍ය ගානට සමතුලිත කරල දෙනවා. ඒක **යානය ක්‍රියාත්මක කරන නියමුවගෙ මානසික ශක්තියෙන් තමයි පාලනය වෙන්නෙ.** එතකොට ක්‍රියාත්මක කරන්නෙ කිරණ ශක්තියකින්. හරියට විදුලි ආඳා විදුලිය නිකුත් කරනව වගේ ක්‍රමයක්. ඒක ඒ නියමුවාට උප්පත්තියෙන්ම උරුම වෙලා තියෙන්නෙ.

ඒ වගේම මේ යානය මධ්‍යයේ නියමුවගෙ ආසනය තියෙනවා. ඒක හරියට සිංහාසනයක රජෙක් ඉඳගන්නව වගේ අසුන් ගන්න පුළුවන් ආසනයක්. නියමුවා ඒ ආසනයට ගිහින් ඉඳගත්තම, ඔහු හිතන හිතන විදිහට යානය ක්‍රියාත්මක වෙනවා. අපේ මේ මනුස්ස ලෝකෙ වගේ අතින් පයින් ඔබන්න, හරවන්න, කරකවන්න, අතපය හොල්ලන්න ඒ කිසිම දෙයක් අවශ්‍ය නෑ. වේගය අඩු වැඩි වීම් ආදී සියල්ලම පාලනය වෙන්නෙ නියමුවගෙ සිතිවිලි අනුව. හිතනකොට යානයෙන් පිටවෙන කිරණවලින් තමයි වටපිටාවෙ සියලුම දර්ශන පෙන්වන්නෙ. මීදුම් පටල ආදී බාධක තිබුනට කිසි ප්‍රශ්නයක් නෑ. ඒව කපාගෙන කිරණ ධාරාවක් යනවා. ඒ කිරණ මාධ්‍යය තුලින්, හරියට නිකන් කිසිම දෙයක් නැති හිස් අවකාශයක් වගේ සම්පූර්ණයෙන්ම සුද්ධ ඇතිව යානයේ ගමන් මාර්ගය පේන්න පටන් ගන්නවා. අතර මග බාධක තියේ නම් ඒ සියල්ලම පේනවා. ඒ පෙනීම එන්නෙ අර කිරණ ධාරාවෙන්. මෙතනදි යානය ගමන් කරවන වේගවත් කිරණ වෙනයි, පෙනීම ලබා දෙන දර්ශන කිරණ වෙනයි. ඒ දර්ශන කිරණ ශක්තියෙන් ඉදිරිපස විතරක් නෙවෙයි, යානය අවට සම්පූර්ණ වටාපිටාවම පේනවා. නියමුවා හිතන හිතන පැත්ත ඒකෙන් බලන්න පුළුවන්. හරියට මහ දිවැසක් වගේ. තනිකරම මනසත් එක්ක සම්බන්ධ වෙලා තමයි වැඩ කරන්නෙ. ඉතින් හැප්පෙන්නෙ කෙරෙන්නෙ කිසි දෙයක් නෑ. බාධක තියේ නම් කල් තියා පෙනිල හිතන කොටම ඒව මග හැරෙනවා.

එතකොට මේ කිරණත් අපි හිතන විදියට නවීන විද්‍යාවෙ කියවෙන ප්‍රෝටෝන, ඉලෙක්ට්‍රෝන වශයෙන් හඳුන්වන ධන, සෘණ කිරණවලට වඩා අති සියුම්. මේ අපේ ලෝකෙ ධන සෘණ කිරණ එකට ගැටිල ක්‍රියාත්මක වෙන ආකාරයේ අපි හොයාගත්තු ක්‍රමයක් නෙවෙයි. ඒක ඒ අයගෙ පුණ්‍ය සෘද්ධියටම නිර්මාණය වෙච්ච දෙයක්. **ඒ කිරණ ප්‍රතිචාර දක්වන්නෙත් කිරණ ලෝකයේ කිරණ පද්ධතියකටමයි. ඒ සිද්ධ වෙන කිරණ කම්පනය අපේ කන්වලට ඇහෙන්නෙ නෑ,** ඇඟට දැනෙන්නෙ නෑ. ඒ නිසා තමයි අපිට ඒ යානාවල ශබ්දය ඇහෙන්නෙ දැනෙන්නෙ නැත්තෙ. හැබැයි ඒකෙ අති සියුම් ශබ්දයක් තියෙනවා. ඒ ශබ්දය අපේ ලෝකෙ යානා යන කොට වගේ අපිට ඇහෙන්නෙ නෑ. අති සියුම් විදියට තමයි ඇහුනත් ඇහෙන්නෙ. ළඟට එනකොට හ්ම් කියල පුංචි ශබ්දයක් එනවා. එතකල් ඇහෙන්නෙ නෑ. මොකද ඒ කිරණ ලෝකෙ සිද්ධ වෙන කිරණ කම්පනයන් අහන්න තරම් අපේ කන් සියුම් නෑ. ඒ තරම් අති සූක්ෂමයි. ඒ වගේම අපේ රේඩාර් පද්ධතිවලට ඒව අහුවෙන්නෙත් නෑ. ඒ නිසා රේඩාර්වලට ඒ වගේ යානයක් හසු කරගන්න බෑ. මොකද ඒ යානාවලින් නිකුත් කරන කිරණවලින් රේඩාර් කිරණ කපා හරිනවා. අපි අපේ ලෝකෙ රේඩාර්වලින් වැඩ ගත්තට, ඒ ලෝකෙ තියෙන පුණ්‍ය සෘද්ධිවලින් හට ගත්තු යානාවලට බලපෑම් කරන්න ඒවට බෑ. මේ නිසා පියාඹන පීරිසියකින් පිටවෙන කිරණවලින් වෙනත් බාහිර මාධ්‍යයකට ප්‍රතිචාර දක්වන්න දෙන්නෙ නෑ. ඒක ඒ අයගෙ පුණ්‍ය සෘද්ධියටම පහළ වෙච්ච දෙයක්. ඒ පුණ්‍ය සෘද්ධියත් එක්කමයි ඒ කිරණ ශක්තිය විහිදෙන්නෙ.

තවත් පැහැදිලි කරනව නම්, නියමුවා ඇතුලෙ ඉඳගෙන හිතනකොට නියමුවගෙ මානසික ශක්තියත් එක්කම යානය තුල තියෙන පුංචි ජල ධාරාවට ඒ සිතිවිලි කිරණ වැදිල පරමාණු බවට පත්වෙලා, ඒ කිරණ කදම්බය අදාල පැත්තට පිහිටල තියෙන මැණිකට වදිනවා. ඒ සඳහා යම් කිසි ජල ප්‍රමාණයකුත් ඒ යානයේ මධ්‍ය ලක්ෂයේ ගබඩා වෙලා තියෙනවා. ඒ ජලය මාධ්‍ය කරගෙන තමයි හිතන කොටම රසායනික සංයුතියක් හැදිල යානය ක්‍රියාත්මක කරන්න ප්‍රතිචාර දක්වන්නෙ. ඒ කියන්නෙ ඒ ජල පරමාණුවලින් තමයි අදාල රසායනික සංයෝගය එහෙ මෙහෙ චලනය වෙන්නෙ. එතකොට සිතිවිලියි, ජලයයි, මැණිකයි මේ සියල්ලම එකට සම්බන්ධයි. ජලය ආධාරයෙන් තමයි සිතිවිලියි, මැණිකයි සම්බන්ධ වෙන්නෙ. නියමුවා යමක් හිතන කොටම ඊට අනුව ඒ ජලය ප්‍රතික්‍රියා කරල යම් න්‍යෂ්ඨික ශක්තියක් නිපදවෙනවා. ඒ විදියට හිතන හැම අවස්ථාවකදිම ඒක සිද්ධ වෙනවා. මෙතනදි ජලය යම්කිසි ජලකර පරමාණු වගේ අති සූක්ෂම තත්ත්වයකට පත් වෙලා ඒක තමයි මැණිකට වදින්නෙ. ඒ දුන්නු සංඥා මැණිකට වැදුනට පස්සෙ ලක්ෂ කෝටි වාරයක් බලවත් වෙනවා. ඒ නිසා ඉතාම සුළු සංඥාවකින් ලක්ෂ කෝටි වාරයක් බලවත් කරල තමයි ඒ කිරණ ධාරාව අර උත්තල හැඩයට පිහිටල තියෙන දියමන්ති වගේ මැණික් ගලෙන් පිටවෙන්නෙ. ඒකෙන් කිරණ ආලෝකයත් එක්කම විශාල ශක්තියකුත් පිටවෙනවා. ඒ කිරණ තමයි විශ්වයට වැදිල විශ්වයේ තියෙන කිරණත් එක්ක ප්‍රතිචාර දක්වල, ප්‍රතිවිරුද්ධ දිශාවට යානය ගමන් කරන්න සලස්වන්නෙ. විශ්වයේ තියෙන ඒ කිරණ මේ මහ පොළොව ගත්තමත් හැම තැනම තියෙනවා. ආකාසෙ වාතය මාධ්‍ය කරගෙන ගුවන් යානා යනව වගේ, ඒ කිරණ මාධ්‍ය කරගෙන තමයි මේ පියාඹන පීරිසි ගමන් කරන්නෙ. කිරණවලින් කිරණවලට ප්‍රතිචාර දක්වනව මිසක් අනෙක් මාධ්‍ය තිබුනට ඒවාට කිසි ප්‍රතිචාරයක් දක්වන්නෙ නෑ.

ඒ වගේම යානය යනකොට කල් තියාම මග හදල දෙනවා. ස්වභාවික වායුව යානයේ වදින්නත් පෙර, සර්ෂණයක්

ඇති නොවන ප්‍රමාණයට ඇත් කරල ඉඩ හදල දෙනවා. කොච්චර වේගයෙන් ගියත් වායු සර්ෂණයක් එන්නෙ නැති නිසා අපිට ඇහෙන මට්ටමේ ශබ්දයක් එන්නෙත් නෑ. ඒ වගේම ඒ යානය පොලොවට බාන කොටත්, පොලව මට්ටමේ තියෙන වායුව කල් තියාම දෙපැත්තට දෙබෑ කරල ඉඩ හදල දෙනවා. හැබැයි යානය ඇතුලෙ ඉන්න අයට අවශ්‍ය ඔක්සිජන් ඒකෙ ඇතුලෙම තියෙනවා. ඒකට බලපෑමක් නෑ. යානයෙන් පිටස්තරව තියෙන වායුව විතරයි සර්ෂණයක් ඇති නොවන මට්ටමට ඉවත් කරන්නෙ. හරියට වාහනයක් වේගයෙන් ගමන් කරන කොට එක පාරටම තිරිංග තද කළොත් මහ සද්ධයකින් වැදිල නතර වෙනවා. නමුත් හෙමින් තිරිංග තද කළොත් මුකුත් ශබ්දයක් නැතිව වාහනය නතර වෙනවා. මේ වගේ දෙපැත්තෙ තියෙන වායුව කල් තියාම අවශ්‍ය ප්‍රමාණයට අයින් කරල දෙන නිසා වායු සර්ෂණයක් වෙන්නෙ නෑ. ඒ නිසා ශබ්දයක් නෑ, රත්වීමක් නෑ.

ඒ වගේම මේ යානයේ තියෙන ඒ ජලය ප්‍රධාන ඉන්ධනයක් නෙවෙයි. අමතරව සුළුවෙන් අවශ්‍ය වෙන දෙයක් විතරයි. පසුගිය කලාපයෙන් විස්තර කළ විදියට ඒක තමයි සක්විති රජ කෙනෙක් තමන්ගෙ පුණ්‍ය සෘද්ධියට පහළ වෙච්ච චක්‍ර රත්නය ක්‍රියාත්මක කරන කොටත් පැන් කෙණ්ඩියකින් පැන් වත් කරනව කියල කිව්වෙ. එතකොට මේ තියෙන ජලයත් ක්‍රමයෙන් අඩු වෙනවා. හරියට අපේ ලෝකෙ වාහනයකට තෙල් ගහල ටික දුරක් යන කොට තෙල් අඩු වෙනව වගේ. හැබැයි අපේ වාහනවලට තෙල් ගහනව වගේ ඒ යානා නවත්තල පුරවන්න දෙයක් නෑ. ඒ අයගෙ පුණ්‍ය සෘද්ධියට කිරණ මාධ්‍යයෙන් අවශ්‍ය ජල ප්‍රමාණය ඇදල ගන්න පුළුවන්. උදාහරණ විදියට යම්කිසි ජලාශයක් උඩින් ගමන් කරන කොට නියමුවගෙ චිත්ත වේගයත් එක්කම එකපාරටම රැල්ලක් ඇවිත් කිරණමය වශයෙන් අවශ්‍ය ජල ප්‍රමාණය උඩට ඇදල ගන්න පුළුවන්. ඒ වගේම ඒ අයගෙ තියෙන මේ චිත්ත වේගයෙන් මේ ලෝකෙ තියෙන ගස්වල පළතුරුවල රස ධාතුව වුනත් ඇදල අරගෙන පෝෂණය වෙන්න පුළුවන්. අපිට වගේ භෞතිකව ආහාර අනුභව කරන්න ඕන නෑ. නමුත් අවශ්‍ය නම් භෞතිකව අනුභව කරන්නත් පුළුවන්. එහෙම නැත්නම් අවස්ථානුකූලව අර ක්‍රමයට කිරණමය වශයෙන් ඇදල අරගෙන අවශෝෂණය කරගන්නත් පුළුවන්. ඒ ක්‍රමයටම ශරීරයට අවශ්‍ය ජලයත් කිරණමය වශයෙන් අවශෝෂණය කරගන්න පුළුවන්. ඒ අයගෙ පුණ්‍ය සෘද්ධියට, මේක මෙහෙම කරන්න ඕන, මේ විදියට කළොත් තමයි යන්නෙ ආදී වශයෙන් ඒ යානය ක්‍රියා කරවන්න ඕන විදියත් සම්පූර්ණයෙන්ම ඒ අයට පේනවා.

උදාහරණ විදියට යානය උඩට ගන්න හිතුවොත් ඒ පැත්තට අදාල සංයෝගය ප්‍රතිචාර දක්වල ක්‍රියාත්මක වෙනවා. යානයේ ගමන් මග සහ වේගයත් ඒ සිතිවිලි අනුවම සංයෝගයත් එක්ක පාලනය වෙනවා. මේ සංයෝගය එක්තරා ආකාරයක න්‍යෂ්ටික ප්‍රතික්‍රියාවක්. ඒකෙන් ක්‍රියාත්මක වෙන බලයෙන් අවශ්‍ය දුරක් යන්න පුළුවන්. ඒ බලයෙන් තමයි කිරණ උත්පාදනය වෙලා යානය ක්‍රියාත්මක වෙන්නෙ. හැබැයි මේ න්‍යෂ්ටික බලයක් කියල කිව්වට, **අපේ ලෝකෙ තියෙන න්‍යෂ්ටික බලය වගේ මනුස්සයින් ඇතුලු පරිසරය විනාශ කරන ශක්තියක් නෙවෙයි.** ඒ අයගෙ පුණ්‍ය සෘද්ධියට ගොඩ නැගෙන එක්තරා අගුණ නොවන න්‍යෂ්ටික බලයක්. ඒකෙන් කිසිම වායුවක් නිකුත් වෙන්නෙත් නෑ. පරිසර දූෂණයක් නෑ. කිසිම විසක් නෑ. න්‍යෂ්ටික බලය පිට වෙන කොට නිකුත් වෙන කිරණ ආලෝකයමයි යානයට මාධ්‍ය වෙන්නෙ.

මීට අවුරුදු කිහිපයකට පෙර ලංකාවෙ එක්තරා ප්‍රදේශයකට මේ වගේ පියාඹන පීරිසියක් පහත් වෙලා, ඒකෙ පොඩි මිටි මිනිස්සු පිරිසක් ඉන්නව එක්තරා පුද්ගලයෙක් දකල තියෙනවා. ඉතින් මේ පුද්ගලය ගහකට මුවා වෙලා බලාගෙන ඉන්න කොට, ඒ ආපු පිරිස් එළියට බැහැල වට පිටාවට මොනව හරි සංඥා වශයෙන් දැනුම් දීමක් කරල, නැවතත් උඩට නැගල යන්න ගිහින් තියෙනවා. ඊට පස්සෙ අර පුද්ගලයා යානය නවත්තපු තැනට ගිහින් බලන කොට, බිම තියෙන වැලි තනිකරම සුදු පාට වෙලා තිබුණලු. ඒකට ඇඟිල්ල තිව්වම හිරි වැටිල ගියාලු. ඒ තමයි අර යානයෙන් වැදිච්ච කිරණ. මොකද මේ සංඥා යවන කොට රූප සංඥා, ශබ්ද සංඥා කියන මේ ඔක්කොම ග්‍රහණය කරගන්න පුළුවන් වෙන විදියට කිරණමය වශයෙන් යවන්න පුළුවන්. එතකොට කෙනෙකුට යම් කිසි විදියකින් කතා කරන්න, පණිවිඩයක් දැනුම් දෙන්න අවශ්‍ය නම් ඒක සංඥාවක් වශයෙන් යවන්න පුළුවන්. ඒ ක්‍රමයෙන් කෙනෙකුගෙ හදවතට කෙළින්ම ඇහෙන්න කතා කරන්නත් පුළුවන්. ඒකට මොකුත් උපකරණ, සංඥා කුළුණු අවශ්‍ය නෑ. ඒ අයගෙ ඒ කිරණ එවල තමයි අවශ්‍ය පණිවිඩ දැනුම් දෙන්නෙ. නමුත් ඒ කිරණ අපට විස නෑ. ඒ වගේම ඒ විදියට වැඩි කාලයක් ඒ කිරණ එතන රැඳෙන්නෙත් නෑ. එතකොට මේ අපේ ලෝකෙ කිරණ වගේ නෙවෙයි ඒ කිරණ ප්‍රතිචාර දක්වන්නෙ, වෙනස් ආකාරයකට බව මේකෙන් පැහැදිලි වෙනවා.

ඊළඟට මේ යානයක් මේ ලෝකෙ ඉඳල යනව නම්, ඒ යන්නෙත් ර යන්නෙ හැඩයට එක්තරා ක්‍රම රටාවකට හරස් අතට. අවශ්‍ය නම් කෙලින්ම උඩට පහළට යන්න පුළුවන් වුනත් ගමන් කරන්නෙ හරහට. හරහට ගිහින් ඒ අයගෙ ලෝකෙට ගියාට පස්සෙ නැවතත් අනෙක් අතට ර යන්නෙ හැඩයට හැරෙනවා. එහෙම හැරිල ඒ ලෝකෙදි යන්නෙත් ඒ වගේම හරහට රවුමක්. ඒ ක්‍රමයට පෙත්තක හැඩයට හරහට ගිහින් තමයි යානය ඒ ලෝකෙදි පහත් කරන්නෙ. නමුත් අපිට මේ ලෝකෙ ඉඳගෙන ඒක යන හැටි හොයන්න බෑ. ඒ වගේ යානයක් අපේ ලෝකෙට පහත් වෙන කොටම විශාල එළියක් වශයෙන් තමයි අපිට ඒක පේන්නෙ. ඒ යානයේ යට තියෙන කිරණ වළල්ල තමයි ඒ විදියට කැරකි කැරකි ලොකුවට පේන්නෙ. යානය හරහට යන කොට පේන්නෙ, පැත්තෙ එළිය. ඒක කුඩා එළියක්. ඒ එළිය විහිදුවන්නෙත් කණාමැදිරිය එළිය නිව නිවා යන ක්‍රමයට. ඒ කියන්නෙ එක්තරා දුරකට සංඥාවක් දුන්නම එළිය විහිදගෙන ගිහින් එළිය නවතිනවා. නැවතත් ඕන වෙන කොට සංඥාවක් දුන්නම එළිය විහිදෙනවා. ඒ විදියට විහිදෙන එළියෙන් තමයි අවශ්‍ය දුර ප්‍රමාණය යන්නෙ. අවශ්‍ය නම් එළිය කරගෙනම යන්නත් පුළුවන්. කොහොම හරි ඒ නියමුවා හිතන විදියට තමයි ඒක ක්‍රියාත්මක වෙන්නෙ. ඒක තමයි මානසික බලයක් එක්ක යානය සම්බන්ධයි කිව්වෙ. **අපි අපේ ලෝකෙ යන්ත්‍රයක් අතින් පයින් ක්‍රියාත්මක කරල අපට අවශ්‍ය විදියට හසුරව ගන්නව වගේ, ඒ නියමුවා තමන්ගෙ මානසික බලයෙන් හිතන කොට ඒක අවශ්‍ය විදියට ක්‍රියාත්මක වෙනවා.** එතකොට මේ කියන මානසික බලයත් එක්ක තියෙන පුණ්‍ය සෘද්ධිය නිසාම, ඒ යානාවක් අපේ ලෝකෙ වගේ ඕන ඕන අයට පුරුදු වෙලා ක්‍රියාත්මක කරන්න බෑ. ඒ නිසාම අපේ යානා වගේ ඒව හොරකම් කරන්නත් බෑ. මොකද ඒක නියමුවගෙ පුණ්‍ය සෘද්ධියක්. ඒ නියමුවා හිතන විදියට විතරමයි ඒක ක්‍රියාත්මක වෙන්නෙ.

ඒ වගේම මේ යානයක් රවුම් හැඩයට හැදිල තියෙන්නෙත් අධික වේගයෙන් යන කොට සුළං වේගය මැඩපවත්වන්න ඕන නිසා. ඒ කියන්නෙ වෛරම්භ වාතය කියල අපි කියන ඕසෝන් ස්ථරය වගේ දෙයක් ඒ ලෝකෙත් තියෙනවා. මේ ඕසෝන් ස්ථරය හරහා අපි හිතන ක්‍රමයට නෙවෙයි යන්න වෙන්නෙ. ඒ ස්ථරය කපාගෙන යන්න වෙන්නෙත් අර කලින් කියපු වගේ ''ර'' යන්නෙ හැඩයට. ඒ කියන්නෙ ර යන්න යනව වගේ හරහට ගිහින් තමයි යන්නෙ. කෙලින්ම උඩට යන්න බෑ. කෙලින්ම ගියොත් අර ස්ථරයට අහු වෙලා සුනුවිසුනු වෙලා.

අපේ ලෝකෙ ඉඳන් රොකට්ටුවක් යවන්නෙත්, මේ ඕසෝන් ස්ථරය

මගහැරල "ර" යන්නෙ හැඩයට රවුමක් යන විදියට. ඒ විදියට ලෝකෙ වටේ රවුමක් ගිහිල්ල තමයි හරහට යන්නෙ. එහෙම නැතුව අහස් යානා යනව වගේ කෙලින් අතට යන්න බෑ. මොකද අහස් යානා ඕසෝන් ස්ථරය මට්ටමට උඩ යන්නෙ නෑ. ඊට හුඟක් පහතින් යන්නෙ. නමුත් අභ්‍යවකාශ තරණයට රොකට්ටුවක් යවන කොට ඕසෝන් ස්ථරය පන්නන්න වෙනවා. ඒක කෙලින්ම පන්නන්න බෑ කියන කාරණය විද්‍යාඥයින් දන්නවා. දැනගෙන තමයි අර විදියෙ ක්‍රමයක් අනුගමනය කරන්නෙ.

මේ ලෝකෙ කැරකෙන කොට වායු ගෝලයත් එක්කයි කැරකෙන්නෙ. නිශ්චල ඉහල අභ්‍යවකාශයේ වායුව ඒ විදියට කැරකෙන කොට විශාල ඝර්ෂණයක් ඇති වෙනවා. හරියට වාහනයක් වේගයෙන් ගමන් කරන කොට රෝද පොලවෙ ඝර්ෂණය වෙනව වගේ. එතකොට රෝද පොලවෙ වදින ස්ථානයේ තමයි වේගයෙන් කැරකෙන ගමන්, වැඩි ඝර්ෂණයක් ඇති වෙන්නෙ. ඒ වගේ තමයි ඕසෝන් ස්ථරයත් වායු ගෝලයත් එක්ක ඝර්ෂණය වෙන තැන අධි වේගයෙන් කැරකෙන නිසා විශාල සුලි හටගන්නවා. ලෝකය කැරකෙන කොට ඒ වටේට තමයි වේගය හැදෙන්නෙ. ඒක කියන්න බැරි තරම් අධි වේගයක්. ඒ හරහා ගියොත් ඒ සුලියට අහුවෙනවා. ඒ නිසා යම් ප්‍රදේශයකින් මේ ඕසෝන් ස්ථරය හරහා ද්‍රව්‍ය වස්තුවක් එනවනම් ඒක සුන විසුනු වෙලා යනවා. පිටසක්වලකින් ආවත් ඒක මේ ඕසෝන් ස්ථරය ඉක්මවා එන්න බෑ. මේ ලෝකෙන් යමක් පිටවෙන්න ගියත් එහෙමයි. ඒ නිසා පිටසක්වලකින් උල්කාපාත වගේ දෙයක් පොලොවට එන්න විදියක් නෑ. **මේ සක්වලේම තියෙන දෙයක් ඇරෙන්න පිටසක්වලකින් ඕසොන් ස්ථරය හරහා කිසිම දෙයක් එන්න විදියක් නෑ.** බැරිවෙලාවත් එහෙම දෙයක් එන්න ආවොත් ඕසෝන් ස්ථරයේ වදින කොටම සුනු විසුනු වෙලා පිච්චිලා යනවා. ඒ වගේ මේ ලෝකෙ යානයක් යම් කිසි විදියකින් ඒ හරහා යන්න ගියොත් ඒකත් කිට්ටු වෙනකොටම සුලිවලට අහුවෙලා කරකවල පුච්චල ආපසු දානවා. ඒ වගේ කිසිම දෙයක් බාහිරින් එන්න දෙන්නෙත් නෑ, සම තුලිත කරල දානවා.

ඒ වගේම මීට ඉහත ලිපියකින් බර්මියුඩා ත්‍රිකෝණය ගැන විග්‍රහ කළා. ඔය බර්මියුඩා ත්‍රිකෝණය ළඟින් අහස් යානාවක් හෝ මොකක් හරි දෙයක් යනකොට එතන තියෙන මහ සුලියට අහුවෙලා සුනු විසුනු වෙලා යනවා. මේ විදියට බර්මියුඩා ත්‍රිකෝණයේ එකතුවෙන රොන් බොර සහ සුන්බුන් ටික ඔක්කොම එකට එකතුවෙලා එක පොදියක් හැදෙනවා. ඒ විදියට මනුස්සයින් අහුවුනත්, ද්‍රව්‍ය වස්තු අහුවුනත් ඒ සියල්ලම සුනුවිසුනු වෙලා එකට ගුලිවෙලා, පොදියක් හැදිල විශාල ගිනි ගුලි බවට පත්වෙලා මහා තෙරපුමකින් විශ්වයට විසි කරනවා. එහෙම විසිවෙලා ගිහින් විශ්වයේ රවුමක් කැරකිලා කොහාට හරි වැටෙනවා. සමහර විට ඒ විසි වෙන වේගෙට කෙලින්ම උඩට ගිහින් වේරම්භ වාතයේ හෙවත් ඕසෝන් ස්ථරයේ වදින්න හදන කොටම, නැවතත් අහකට විසි කරනවා. ඒ කොටස් ගිහින් මේ මහපොලොවෙ කොතනකට හරි වැටෙනවා. එයින් බොහොමයක් කොටස් වායුගෝලයෙදි දැවිල පිච්චිලා යනවා. පොලොවට වැටෙන කොට සුනු විසුනු වෙලා පොඩි පොඩි කැලි බවට පත්වෙලා



තමයි වැටෙන්නෙ. ඒවා තමයි ඔය පිටසක්වලින් ආව උල්කාපාත කැලි කියල කියන්නෙ. ඒ එනකොට කලාතුරකින් විශාල කැල්ලක් දෙකක් එන්නත් පුළුවන්. ඒවා වැදිල තමයි අගාධ හටගන්නෙ.

දැන් ඉතින් **මේ සිද්ධ වෙන කාරණය තෝරගන්න බැරි වුනාම මොකද කියන්නෙ, පිටසක්වලකින් උල්කාපාත එනවයි කියනවා, ඒ නිසා අගාධ හැදුනයි කියනවා, ඩයිනෝසරයන් වඳ වුනයි කියනවා.** නමුත් ඩයිනෝසරයින් වඳවෙන්න හේතුව ඒක නෙවෙයි. අද අලි ඇතුන්ට ඉන්න පරිසරය නැතුව වගේ, උන්ට ඉන්න අවශ්‍ය පරිසරය නැති වෙලා ගියා. ඩයිනෝසර් කියන්නෙ අලි ඇතුන්ටත් වඩා විශාල ශක්තිමත් සතුන්. උන්ට අවශ්‍ය ආහාර, පරිසරය නැතිවුනාම උන් වඳවුනා. ඉතින් ඔච්චර ලොකු උල්කාපාතයක් වැදුනනම්, ඩයිනෝසරයින් විතරක් වඳවෙලා අනිත් සතුන් ඉතිරි වෙන්න පුළුවන්ද? එතකොට මිනිස්සු කොහොමද ඉතිරි වුනේ?.

ඉතින් ඊළඟට මේ පිටසක්වලින් එනවයි කියල කියන උල්කාපාත කැලිවල ජීව පදාර්ථත් තියෙනවයි කියනවා. තියෙනව තමයි. මේ ලෝකෙ තිබ්ච්ච ජීව පදාර්ථම තමයි බර්මියුඩා ත්‍රිකෝණයටයි, ඕසෝන් ස්ථරයටයි අහුවෙලා උණු කරල නැවතත් පොලවට දාන්නෙ. ඉතින් මේ සිද්ධ වෙන දේ තේරුම් ගන්න බැරි වුනාම ඊලඟට පිටසක්වලකින් ආව කියල යම් උපකල්පනයන්, මත ඉදිරිපත් කරනවා. මොකද එනව හොයන්නත් බෑ, යනව හොයන්නත් බෑ. නමුත් සක්වලකින් සක්වලකට ඔහොම කැල්ලක් එන්න ඔය මොන සක්වලක් ගැනද කියන්නෙ? සක්වලක් කියන්නෙ කොච්චර දුරක්ද? විද්‍යාඥයොම ඒ අයගෙ තියෙන මිනුම් අනුව කියනව, ඊලඟට තියෙන ළඟම සක්වලට පෘථිවියේ සිට දුර ආලෝක වර්ෂ මිලියන 2.5 ක් විතර වෙනව කියල. මේක සාමාන්‍ය මනුස්සයෙකුටවත් හිතාගන්න පුළුවන් දුරක්ද? එතකොට එච්චර දුරක ඉඳන් ග්‍රාහක කැල්ලක් මේ ලෝකෙට එනව කියන එක වෙන්න පුළුවන් දෙයක්ද ? එහෙම ආවත් ඔච්චර දුරක් එනකොට ඒක වායුගෝලයේ ඝර්ෂණයට අහුවෙලා දැවිල පිච්චිලා යනවා. එහෙම නැත්නම් ඕසෝන් ස්ථරයෙදි දැවිල පිච්චිලා යනවා. ඒ නිසා මේ කියන කථාව විද්‍යා සිද්ධාන්තවලට ගලපන්නත් බෑ, දහමට ගලපන්නත් බෑ.

දැන් මේ කථාව උදාහර ණයකින් පහදන්නත් පුළුවන්. අකුණක් ගහනකොට ඒ අකුණත් එක්කම යම් කිසි යකඩ ගිනි බෝලයක් යනවා. එතකොට ඒ අකුණට ආකර්ශණයෙන් දූවිලි ඇතුලු විවිධ පදාර්ථ අංශු සියල්ලම ඇදල අරන් එකට එකතුවෙලා ගුලියක් බවට පත්වෙනවා. ඒ ගුලිය තමයි අකුණත් එක්ක කොහාට හරි විසි වෙන්නෙ. එහෙම විසි වෙනකොට සමහර වෙලාවට තදට වදිනවා. සමහර ගස්වලට, ගොඩනැගිලිවලට වැදිල ඒවා පුපුරල යනවා. ඒ අර අකුණත් එක්කම එන යකඩ ගුලි නිසා ඒක ප්‍රබල කරනවා. මෙන්න මේ වගේ බර්මියුඩා ත්‍රිකෝණයට ඇදල ගන්න ද්‍රව්‍ය වස්තු, රොඩු බොඩු සියල්ලක්ම එකතුවෙලා එක පොදියට වේගයෙන් ඉහලට විසි වෙනවා. එහෙම විසි වෙනකොට ඕසෝන් ස්ථරය හරහා යන්න ගියොත් නැවතත් ඉවතට විසි කරල දානවා. ඒ එන වේගෙට ඒවා ගිනි අරගෙන බොහෝ කොටම මිනිස්සුන්ට කරදර නොවෙන විදියට පොලොවෙ තැනින් තැනට කැලි විදියට වැටෙනවා. ඔය ක්‍රමයට එනව මිසක් පිටසක්වලකින් මේ ලෝකෙට කැලි එන්නෙ නෑ. මේ සක්වලේම තියෙන දේවල් මේ ලෝකෙට එනව මිසක් වෙනත් සක්වලක දෙයක් මෙහෙ එන්නෙ නෑ. සක්වලකින් සක්වලකට එහෙම යන්න බෑ. මහා

**සෘද්ධි බල අභිඥා බල තියෙන කෙනෙකුට ඇරෙන්න, වෙන කෙනෙකුට කවදාවත් මේ සක්වලින් පිටසක්වලකට යන්නත්** බෑ, පිටසක්වලකින් මෙහාට එන්නත් බෑ. ඒක වෙනම අංශයක්. මේ විශ්වය නිර්මාණය වෙලා තියෙන්නෙ ඒ විදියට. ඒක ධර්මතාවක්. ඒ නිසා මේ අපි ඉන්න සක්වලේ තියෙන උතුරුකුරු දිවයින, අපරගෝයානය, පූර්ව විදේහය, ජම්බුද්වීපය කියන මේ ලෝක හතරෙ ඉන්න අයට මේ සක්වල ඇතුලත ඒ ඒ අයගෙ පුණ්‍ය බල අනුව කරක් ගහන්න පුළුවන් වුනාට, මේ සක්වලෙන් වෙනත් සක්වලකට යන්න බෑ. ඒ වගේම ඔය කියන ලෝක හතරෙ තියෙන ද්‍රව්‍ය වස්තූන් ඔය කියන යානා හරහා එහෙම නැත්නම් සතර මහා සාගර හරහා එකිනෙක ලෝකවලට හුවමාරු වෙන්න පුළුවන්. එහෙම වුනාමත් නොදන්නකම නිසා ඒව වෙනත් සක්වලකින් මෙහේ ආව කියල සමහරු හිතන්න පුළුවන්. මේ විග්‍රහය මෙච්චර දුරට කළේ, අද වෙන කොට විද්‍යාවෙන් පවා මේ කාරණය පටලවාගෙන තියෙන නිසා.

දැන් එතකොට නැවතත් මුල් විග්‍රහයට යොමු වුනොත්, මේ ඕසෝන් ස්ථරයත් මේ ලෝක චක්‍රයත් එක්කම කැරකෙනවා. ඒ කැරකෙන පැත්තටම, කැරකෙන වේගය අල්ලල තමයි මේ පියාඹන පීරිසිය කියන යානයත් පන්නව ගන්නෙ. ගුවනට ඇතුල් වෙන කොටත් ඒ ලෝකෙ කැරකෙන පැත්තටමයි යානයත් වේගයෙන් ඇතුල් වෙන්නෙ. ඒ ලෝකය කැරකෙන දිසාවට විරුද්ධව ආවොත් ගිනි ගෙන විනාස වෙනවා. ඒ නිසා යානයත් ඒ අනුවම හැඩ ගැහිල ගමන් කරනවා. ලෝකෙ කැරකෙන රටාවටම ප්‍රතිචාර දක්වනවා.

උදාහරණ විදියට කෙනෙක් බස් එකක ගමන් කරන කොට, බස් රථය නැවතුමේ නවත්වන්න පෙර ඒකෙන් පැන ගන්න ඕන නම්, දොර ළඟට ගිහින් ඒ බස් එක යන දිසාවටම ඒ වේගය අල්ලල ඒක පාලනය කරගන්න ඒ පැත්තටම පනින්න වෙනවා. අනිත් අතට පනින්න ගියොත් මහ විශාල සර්ෂණයකට අහු වෙනවා, පාලනය කර ගන්න බෑ. ඒ වගේම තමයි ඒ විදියට ගමන් කරන බස් රථයකට නගින්න ගියාමත්, බස් රථය ගමන් කරන දිසාවටම දුවල නගින්න වෙනවා. ඒ වගේ මේ ලෝකය කැරකෙන දිසාවට ඒ වේගය අල්ලල, ඒ වේගයට වඩා එක්තරා මට්ටමක වැඩි වේගයකින් යානය හරහට පන්නන්න වෙනවා. ඒ නිසා යන වේගය අල්ලගෙන, පන්නන්න කිට්ටු වෙන කොට යම්න් ගමන්ම තවත් වැඩි වේගයක් දෙනවා. ඒ ක්‍රමයට යානය පන්න ගන්න තමයි 'ර' යනු හැඩයට ගමන් කරන්නෙ. ඒ කියන්නෙ ර යන්නෙ තියෙන රවුම් හැඩයට අනුගත වෙලා ඒ වේගයෙන් ගිහින් එක පාරටම වේගය වැඩි කරල ර යන්නෙ අණ්ඩ වගේ තියෙන තැනින් අහකට පන්නනවා.

දැන් මේ ලෝකෙ කැරකෙන කොටත් බටහිර පැත්තෙ ඉඳල නැගෙනහිර පැත්තට තමයි රවුමක් කැරකෙන්නෙ. එතකොට යානය නැගෙනහිරින් ගිහින් බටහිරට ඇතුල් වෙන්න බෑ. ඒකත් බටහිර පැත්තෙ ඉඳල නැගෙනහිරට යන විදියටම තමයි ඇතුල් වෙන්න ඕන. යානයේ තියෙන මේ චක්‍රාකාර පෙති හැඩය නිසා ඒ ගමන පහසු කරවනවා. ඒ පෙති හැඩය නිසා ගමන් මගේ තියෙන වායුව මොහොතින් මොහොත කපාගෙන යනවා. හැබැයි හතරැස් වගේ වෙනත් හැඩයකට තිබුණ නම්, එක පැත්තකට වායුව වැදිල ප්‍රතිරෝධය වැඩි වෙනවා. එතකොට මේ වගේ වේගයකින් යන්න බෑ. ඒ නිසා හරියට කව පෙත්ත විසි කරනව වගේ තමයි යන්නෙ. කව පෙත්ත විසි කළාම ප්‍රතිරෝධය අවම නිසා තමයි හුගක් දුරකට යන්නෙ. කව පෙත්ත විසි කරනව වගේ හතරැස් එකක් විසි කරන්න බෑ. කව පෙත්ත හුළං කපාගෙන යන කොට සද්දෙත් අඩුයි. ඒ වගේ මේ පියාඹන පීරිසියත් ඒකට විරුද්ධව ප්‍රතිචාර දක්වන ක්‍රම අඩු වෙන විදියට තමයි පුණ්‍ය සෘද්ධියෙන්ම හැදිල තියෙන්නෙ. ඒක අපේ වාහන වගේ කෘතිමව හදපු එකක් නෙවෙයි.

උදාහරණ විදියට කුරුල්ලෙකුට පියාපත් තියෙනවා. ඌට කවුරුවත් ඒව හදල දුන්නෙ නෑ. නමුත් ඌට ඕන විදියට කරකවන්න පුළුවන් වෙන්න උඩට, හරහට යන්න, ක්‍රමානුකූලව පහත් කරන්න පුළුවන් විදියට ධර්මතාවයෙන්ම ඒක හැදිල තියෙනවා. කුරුමිණියෙක් ගත්තොත් සවි ශක්තිය තියෙන පියාපත් සනකමට හැදිල තියෙන නිසා, යමක හැපුනත් මුකුත් අනතුරක් නොවෙන්න සකස් වෙච්ච ක්‍රමවේදයක් ඌට තියෙනවා. ඒ වගේම පියාඹන කොට හුළං බදල අල්ල ගන්න ගැළපෙන විදියට තමයි උගේ තටු නිර්මාණය වෙලා තියෙන්නෙත්. ඒ කියන්නෙ කර්ම ශක්තියේ ක්‍රියාවලියෙන් බොහොම සූක්ෂම විදියට, අවශ්‍ය තැනට ගැළපෙන විදියට හැදෙනවා. මේ වගේ පියාඹන පීරිසියත් ඒ ලෝකෙ වැසියන්ගෙ පුණ්‍ය සෘද්ධියෙන් භෞතිකව බාහිර වස්තුවක් විදියට පහළ වෙනවා.

ඒ වගේම මේ පියාඹන පීරිසියක වේගය ගත්තොත් අපේ ලෝකෙ තියෙන ජෙට් යානා සියල්ලම පරාදයි. ඊට වඩා සිය දහස් ගුණයක් වේගය වැඩියි. නමුත් සාමාන්‍ය වේගයකින් තමයි මේ ලෝකෙ වටේ යන්නෙ. ඒක චිත්ත වේගයත් එක්ක පාලනය කර ගන්න පුළුවන්. ඒ නිසා අවශ්‍ය වෙලාවට තමයි අධි වේගයෙන් යන්නෙ. මේ ලෝකෙ ඉඳල උතුරුකුරු දිවයිනට යන්න ගත වෙන්නෙ ඉතාම සුළු වෙලාවයි. අපේ ලෝකෙ හෙමින් යනව නම්, ඒ ගානට වේගය පාලනය කරගන්න ඒ අයට පුළුවන්. එහෙම හෙමින් යන වෙලාවට තමයි ඒ වගේ යානයක් අපිට පේන්නෙ. ලෝකයක් ඇතුලෙ එහෙම ගියාට, ලෝකයකින් තවත් ලෝකයකට යන කොට ඒ වේගය වැඩි කරනවා. එතකොට බොහොම සුළු වෙලාවකින් යන්න එන්න පුළුවන්. එහෙම ගිහින් ඒ ලෝකෙට පහත් කරන කොට නැවතත් වේගය අඩු කරනවා. ඒ වේගය හරියට කොච්චරද කියල නිගමනය කරන්න අමාරු වුනත්, සමාධියට දැනෙන විදියට සාමාන්‍යයෙන් තත්පරයකට කිලෝමීටර් දාහකටත් වැඩියි. ඒ තරම් අධි වේගවත්. දික් කළ අතක් වක් කළ සැනින් බඹ ලොවට යනව කියන්නෙ ඊටත් වඩා වේගයක්, විශේෂ හැකියාවක්. ඒකත් යම් කිසි චිත්ත බලයකින්, අභිඥා බලයකින් කරන දෙයක්. ඒ වගේම මේ යානාවලත් හැටි එහෙමයි. **චිත්ත බලයෙන් පාලනය වෙන නිසා අපි හිතනවට වඩා අධි වේගවත්ව යන්න පුළුවන්.**

දැන් මේ කාරණය ඔප්පු වෙන විශේෂ අවස්ථාවක් ධර්මයේ සඳහන් වෙනවා. එක අවස්ථාවක විශාඛා උපාසිකාව, තමන් විවාහ වෙච්ච ස්වාමි පුරුෂයගෙ පියා හෙවත් මිගාර සිටුතුමා ඉන්න ඈත ප්‍රදේශයට දානයක් දෙන්න ලෑස්ති වුණා. පොත්වල තියෙන විදියට හැතැප්ම ගණනාවක් එහා. එතකොට දානෙ ලෑස්ති කරන්න සේවක පිරිසට භාර දීල, මං ආරාධනා කරන්නම් කියල මල් මිටක් අරගෙන බුදුන් වහන්සේ වැඩ ඉන්න දිහාව සිහි කරල, ඔබ වහන්සේ පන්සියයක් රහතන් වහන්සේලා සමග මගේ දානෙට වඩින සේක්වා කියල අධිෂ්ඨාන කරල උඩ දැම්මලු. ඒත් එක්කම ඒ මල්මිට ආකාසෙන් ඇවිත් බුදු රජාණන් වහන්සේ ළඟ හිටිය කියල සඳහන් වෙනවා. එතකොට ඒ මල් මිට ආවෙත් යම් කිසි පුණ්‍ය සෘද්ධියකින්. ඒත් එක්කම බුදුන් වහන්සේ ඇතුළු 500 ක් රහතන් වහන්සේලාට වඩින්න සක්‍ර දෙවියො යානා 500 ක් මාතලී දිව්‍ය පුත්‍රයාට කියල මැව්වලු. සක්‍ර දෙවියන්ටත් පිනක් කර ගන්න තමයි ඒ අවස්ථාව සලසල දුන්න කියන්නෙ. පුණ්‍ය සෘද්ධියෙන් මවන්න පුළුවන් දේවල් දෙවියන්ටත් තියෙනවයි කියන කාරණය මේකෙන් පේනවා. එතකොට ඒ මැව්වෙත් මේ පියාඹන පීරිසි වගේ රථ. මොකද ඒ වගේ පුණ්‍ය සෘද්ධියට මැවෙන යානාවල සමානත්වයක් තියෙනවා. සක්විති රජ කෙනෙකුට පහළ වෙන චක්‍ර රත්නයත් ඒ වගේ එකක්. හේතු වාසනා තියෙන, පුණ්‍ය සෘද්ධි තියෙන අයට සම්පත් ලැබෙන එහෙම ක්‍රමයක් තියෙනවා.

ඒ වගේම ඒ යානාවලින් යනකොට අපේ ලෝකෙ වගේ හදිසි අනතුරු වෙලා කඩා වැටෙන අවස්ථා එහෙම නෑ. හැබැයි ඉතින් ඒ අයගෙ කර්ම ශක්තිය ගෙවිල චුත වෙන වෙලාවක් ආවොත්, ඒක කොහේ කොයි වෙලේ වෙයිද කියන්න බෑ. විශේෂයෙන් ප්‍රධාන නියමුවා මළොත්, අනෙක් අයට යානය පාලනය කරගන්න පුළුවන්කමක් නැති නිසා කොහේ හරි වැදිල විනාශ වෙන්න පුළුවන්. එහෙම කර්ම විපාකයටම ගැලපෙන පිරිසක් එක්ක ඉන්න අවස්ථාවක් වුනොත්, චුත වෙනවත් එක්කම යානයත් කඩා වැටෙන්න පුළුවන්. හරියට අපේ ගුවන් යානයක් කඩා වැටිල පිරිසත් එක්කම විනාස වෙනව වගේ. නමුත් අපේ ලෝකෙ වගේ කාර්මික දෝෂ එහෙම නැත්නම් බාහිර පරිසරයේ බලපෑමකින් එන දෝෂ හේතුවෙන් සිද්ධ වෙන අනතුරු ඒ යානාවලට නෑ.

ඒ වගේම ඒ යානා මේ ලෝකෙට ආපු වෙලාවක ඔය වගේ වැටිච්ච කෑල්ලක් අහුලගෙන, ප්‍රයෝග සම්පත්තිය යොදල ඒකෙ තියෙන සිද්ධාන්තය ගැන හෝඩුවාවක් අරගන්න පර්යේෂණ කරන්නත් ලෝකයේ බලවත් රටවලට පුළුවන්. මොකද මේ ජම්බුද්වීපයේ ඉන්න මිනිස්සු ප්‍රයෝග සම්පත්තියෙන් යුක්තයි. දැනටමත් ඇමරිකාවෙ 51 වෙනි ප්‍රදේශය කියන ස්ථානයේ ඉතා රහසිගතව මේ එන යානා හා ජීවීන් ගැන පර්යේෂණ කරනවා. එහෙම ලැබෙන තොරතුරු ඒ අය ලෝසියෙන් ප්‍රසිද්ධ කරන්නෙ නෑ. මොකද අපේ මනුස්ස ලෝකයේ මේ බලවත් රටවල් අතර තියෙන අධික තරඟකාරීත්වය නිසා. නමුත් දිවැසක් සමාධියක් වැඩුව නම් ඔච්චර දඟලන්න දෙයක් නෑ. ඔය ඔක්කොම විස්තර ඒ දිවැසට සමාධියට ඉතා හොඳින් ගෝචර වෙනවා.

හැබැයි මේ ලෝකෙ ඉන්න අය ඒව ගැන පර්යේෂණ කළාට ඒ වගේ යානයක් හදන්න අවශ්‍ය සම්පත් මේ ලෝකෙ ලේසියෙන් හොයා ගන්න නෑ. අති දුර්ලභයි. මොකද ඒක පුණ්‍ය සෘද්ධියට පහළ වෙන දෙයක්. ඒ වගේම අධ්‍යාත්මික ශක්තියක් නැතිව ඒ වගේ දෙයක් කරන්නත් බෑ. මේ නිසා පිරිස් වශයෙන් එකතු වෙලා, ඒ අය අධ්‍යාත්මික පැත්තට නැඹුරු කරල, භාවනා යෝග ප්‍රගුණ කරල ඒ ක්‍රම අල්ලගෙන චිත්ත වේගයෙන් යමක් ක්‍රියාත්මක කරන්න උත්සාහ කරන්න පුළුවන්. ඒකෙන් යම් යම් හෝඩුවාවල් අරගෙන ඒ ඔස්සේ යම් යම් අත්හදා බැලීම් කරන්න පුළුවන්. ඒ වගේ ක්‍රමවලින් යම් ලෞකික දියුණුවක් මේ ලෝකයේ ලබන්න පුළුවන්. ඒ විදියට යම් යම් ධ්‍යාන සෘද්ධි පහළ කරගෙන චිත්ත වේගය හදන සිද්ධ විද්‍යාධරයන්ට ඒ වගේ හැකියාවක් ලැබුණත්, ඒක ලෝකයට සාපයක් විනාසයක් වෙන විදියට පාවිච්චි කරන්න බෑ. පෘතජ්ජන නිසා එහෙම දේකට පෙළඹෙන්න ගියොත් ඒත් එක්කම ඒ බලය නැතිවෙලා යනවා. අභිඥා බලයක් ලබා ගත්තොත් ඒ වගේ රථයක් පුණ්‍ය සෘද්ධියෙන් වගේම මවන්න හදන්න පුළුවන් වුනත්, **ඒව අයුතු විදියට පාවිච්චි කරල ලෝකෙට විනාසයක් කරන්න ගියොත් ඒ සිතිවිල්ල එනවත් එක්කම ඒ බලයත් එවෙලෙම නැතිවෙලා යනවා.**

දැන් ඊළඟට මේ පිටසක්වල ජීවීන් කියල නවීන විද්‍යාවෙන් හඳුන්වන මේ පියාඹන පීරිසිවලින් එන උදවිය, මේ ලෝකෙට එන්නෙ මොකටද කියල හරියට හොයා ගන්න තවමත් ඒ අයට බැරි වෙලා තියෙනවා. ඒ නිසා ඒ අය අපේ ලෝකෙ ආක්‍රමණය කරන්න එනව කියල සමහරු විවිධ මත පළ කරනවා. නමුත් ඒ අයට මේ ලෝකෙ ආක්‍රමණය කරන්න ඕන නම් මෙලහකටත් ඒක කරන්න තිබුණා. මොකද අද ඊයෙ ඔය ගැන විද්‍යාවෙන් පරීක්ෂණ ආරම්භ කළාට, මීට අවුරුදු දහස් ගණනකටත් ඈත ඉඳන් තමයි ඒ අය පියාඹන පීරිසිවලින් මේ ලෝකෙට එන්න පටන් ගත්තෙ. නමුත් ඒ අය කවදාවත් මෙහේ ඇවිත් කරදර කරල නෑ. ඒ නිසා ඇත්ත කතාව මේ එක එක මතයන් නෙවෙයි. යම් කිසි ආකාරයකට ගරු සත්කාර කළ යුතු ස්ථාන, සිහිවටන ස්ථාන, ඒ වගේම පිදිය යුතු උතුමන් ඇත්නම් ඒ ස්ථාන හා උතුමන් වන්දනා මාන කරල, ගරු සත්කාර කරල පින් ගන්න ක්‍රමයක් ඒ අයට තියෙනවා. එතකොට ඒ වගේ ස්ථාන තියෙන්නෙත්, උතුමන් ඉන්නෙත් මේ අපි ඉන්න ජම්බුද්වීපයේ. ඒ අය පුණ්‍ය විපාකයට පහළ වෙච්ච පුණ්‍ය සෘද්ධියෙන් ඒ ලෝකෙ ඉන්නව මිසක්, ඒ වගේ **විශේෂ පූජනීය ස්ථාන, ඒ වගේම ධ්‍යාන මගඵල ලාභීන්, භික්ෂූන් වහන්සේලා ඒ ලෝකෙ නෑ. ඒ නිසා විශේෂ පින් රැස් කර ගන්න නම් එහෙම අය ඉන්න තැනකට, ඒ වගේ ස්ථාන තියෙන තැනකට එන්න වෙනවා.** ඒ නිසා තමයි ඒ අයගෙ පිරිස් එක්ක, ඉඳල හිටල ඔය පියාඹන පීරිසියකින් මේ ලෝකෙ රවුමක් දෙකක් කැරකිලා යන්නෙ එන්නෙ. ඒ වගේ ස්ථාන, විශේෂ පුද්ගලයන් දැක බලාගන්න ඒ අයත් කැමතියි.

ඒ හැරෙන්න ඒ ලෝකෙ මිනිස්සුන්ට මෙහෙන් ගන්න සම්පත්තියක් නෑ. අපේ මිනිස්සුන්ට වගේ වැටකඩොළු ගහගෙන, රන් රිදී මුතු මැණික් නිධන් ආදිය හොයන්න ඒ අයට අවශ්‍ය නෑ. අපිටත් වඩා සිය දහස් ගුණයෙන් ඒ අයට ඒ වගේ සම්පත් තියෙනවා. ඒ නිසා එහෙම බලාපොරොත්තුවකින් ඒ අය මෙහේ එන්නෙ නෑ. හැබැයි අපේ මිනිස්සු එහේ ගියොත් නම් බේරෙන්න බෑ. එහේ තියෙන ඒව දැක්කොත් ගහ මරා ගන්නවා. නමුත් ඒක පුණ්‍ය සෘද්ධියෙන්ම වැළකිලා තියෙන්නෙ. මොකද ඒ අයගෙ පුණ්‍ය වාසනාවට එහෙම විරුද්ධ බලවේග නැගෙන්න විදියක් නෑ. ඒ නිසා මෙහේ මිනිස්සුන්ට ඒ ලෝකෙට යන්න බැරි වෙන්න ස්වභාව ධර්මයෙන්ම ක්‍රම හැදිල තියෙනවා. නමුත් අර පසුගිය කලාපයෙන් විස්තර කළා වගේ, සක්විති රජ කෙනෙක් පහළ වෙච්ච කාලෙක ඒ රජතුමාගෙ පුණ්‍ය සෘද්ධියට පහළ වෙන චක්‍ර රත්නයෙන් මෙහේ පිරිස්වලටත් ඒ ලෝකෙට යන්න පුළුවන්. හැබැයි ඒ ගියත් සක්විති රජතුමාගෙ පුණ්‍ය සෘද්ධියට මෙහේ මිනිස්සුන්ගෙ ගති මෙල්ල වෙන නිසා, එහේ ගිහින් ආක්‍රමණ, හොර මැරකම් ආදිය කරන්න බෑ. මොකද සක්විති රජ කෙනෙකුගෙ පුණ්‍ය සෘද්ධියට කිසිම කෙනෙකුට පංච දුශ්චරිත කරන්න ඉඩක් නෑ. ඒක ධර්මතාවයක්.

ඒ වගේම මේ උතුරුකුරු දිවයිනේ වැසියන් මේ ලෝකෙට එන්න තවත් හේතුවක් තියෙනවා. මොකද ඒ ලෝකෙ ඉපදෙන්න ඉන්න පිරිස් මේ ලෝකෙ ඉන්නව නම්, ඒ කාරණයත් ඒ අයගෙ පුණ්‍ය සෘද්ධියට අහුවෙනවා. එතකොට ඒ පිරිස බලල රැකවරණ කරන්න මෙහේ එනවා. එහෙම ඇවිත් බලල, ඒ අයගෙ කිරණ ශක්තියෙන් මොනව හරි කරන්න පුළුවන් නම් එහෙම දේවලුත් කරනවා. උදාහරණ විදියට මීට අවුරුදු 10 - 15 කට එහා එක්තරා ගමකට ඔය වගේ පියාඹන පීරිසියක් රාත්‍රී කාලයේ ඇවිත්, ඒ ගමේ ගෙදරක හිටපු කෙනෙක් ඒක දැකල, උඹල මොකද ඔතන කරන්නෙ කියල අහල තියෙනවා. උඹට මොකද අපි අපේ එකෙක් හොයනව කියල ඒ පිරිස උත්තර දීල, පියාඹන පීරිසියෙන්ම යන්න ගිහින් තියෙනවා. මොකද අද වුනත් පංච දුශ්චරිතයෙන් වෙන් වෙච්ච ලෝකයක් තියේ නම්, අනේ කොච්චර හොඳද කියන හැඟීමක් තියෙන පිරිස් ඉන්නවා. ඒ වගේ ප්‍රාර්ථනාවක් එක්ක යම් කිසි අධිෂ්ඨානයකින් කටයුතු කරන අයට, ඒ සංඛාර වැඩීම නිසා ඒ වගේ ලෝකෙක ගිහින් උපදින්න හේතු වෙනවා. නමුත් අනිච්ච, දුක්ඛ, අනත්ත කියන ත්‍රිලක්ෂණය දැකපු කෙනෙක්, ඔය කියන ලෝකත් ඒ කියන ත්‍රිලක්ෂණයෙන්ම යුක්ත නිසා ඒවට ගිහින් උපදින්න බලාපොරොත්තුවක් නෑ. කොහොම හරි මේ සසර ගමන කෙළවර කර ගන්න බලනව මිසක්, නැවතත් සුන්දර ලෝක හොය හොයා යන්නෙ නෑ.

(ඉතිරි කොටස ලබන කලාපයෙන්)

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ :*

**නිතිඥ චන්දන සිරිවර්ධන**

# නිවන් මාර්ගයේ මුල පටන් ගැන්මම අපදාන පාළිය තුලින්...

7 වන කොටස

මෙයින් කල්ප ලක්ෂයකට පෙර පදුමුත්තර බුදුන් වහන්සේ ලොව පහළ වූ කාලයේ වෙච්ච සිදුවීමක් ගැන තමයි මේ කතා කරන්නෙ. එතකොට සීවලී මහරහතන් වහන්සේ හංසවතී කියන නගරයේ රජකම් කරපු රජ කෙනෙක්. දෙවියන්, මිනිසුන්, නාගයන් සහ බ්‍රහ්මයන් කියන මේ සියලු දෙනාටම බුදුන් වහන්සේ දහම් දෙසන මොහොතක විශේෂ දෙයක් සිද්ධ වුනා. ඒ තමයි ''මහත් ලැබීම් ඇත්තා'' යනුවෙන් ඒ කාලයේ හිටපු ශ්‍රාවකයන් වහන්සේ නමකට බුද්ධ සාසනයේ අග තනතුරක් පිරිනැමීම. මේක දැක්ක අර රජතුමාටත් අදහසක් පහල වුනා, අනේ මටත් ඒ වගේ තනතුරක් ලබන්න ඇත්නම් කියල. හැබැයි එහෙම කියල නිකන් හිටියෙ නෑ, දවස් හතක් පදුමුත්තර බුදුන් වහන්සේ ප්‍රමුඛ මහා සංඝයා වහන්සේලාට දන් දීල, ඒ දින හතේ අවසානයේ අර පැතුම පැතුවා.

ඉතින් සියලු බුදුවරයන් වහන්සේලා වගේ පදුමුත්තර බුදුන් වහන්සේත් මේ දානයේ ආනිසංස සහ විපාක ලැබෙන හැටි එකින් එක විස්තර ඇතුව දේශනා කළා. අවසානයේ මේ රජතුමා ගෞතම බුද්ධ සාසනයේ සීවලී යන නමින් මහ රහතන් වහන්සේ නමක් වෙලා පැතුව ආකාරයට අග තනතුර ලබන හැටිත් දේශනා කළා. මේක සියලු මහා ශ්‍රාවකයන් වහන්සේලාටම පොදු ලක්ෂණයක්. නමුත් සීවලී මහරහතන් වහන්සේට ඒ ලැබීම ලැබුනෙ, කුස ගින්නෙන් හිටපු බැල්ලකට ආහාර වමාරල දුන්න නිසා කියල අද සමාජයේ වැරදි මතයක් තියෙනවා. ඇත්තටම ඒක එහෙම වෙන්න පුළුවන්ද? ඒකට හේතු තියෙනවද? බුද්ධ දේශනාව ඇසුරෙන්ම මේක විසඳගන්න බලමු.

ආනන්දය, වෙන වෙන පුගුලා (පුද්ගලයන්) කෙරෙහි පිහිටි මේ දක්ෂිණාවෝ තුදුස් දෙනෙකි (දහහතරකි). කවර තුදුස් දෙනෙක යත්, අර්හත් තථාගත සම්‍යක් සම්බුද්ධයන් විෂයෙහි දන් දෙයි. මේ පළමු වන පෞද්ගලික දක්ෂිණා යැ. ප්‍රත්‍යක බුද්ධයන් විෂයෙහි දන් දෙයි. මේ දෙවන පෞද්ගලික දක්ෂිණා යැ. අර්හත් තථාගත ශ්‍රාවකයා විෂයෙහි දන් දෙයි. මේ තුන් වන පෞද්ගලික දක්ෂිණා යැ. රහත් ඵල පසක් කරන්නට පිළිපන් ශ්‍රාවකයා විෂයෙහි දන් දෙයි. මේ සිවුවන පෞද්ගලික දක්ෂිණා යැ. අනාගාමීහට දන් දෙයි. මේ පස්වන පෞද්ගලික දක්ෂිණා යැ. අනාගාමී ඵල පසක් කරන්නට පිළිපන්නහු කෙරෙහි දන් දෙයි. මේ සවන පෞද්ගලික දක්ෂිණා යැ. සෙදගැමිහට දන් දෙයි. මේ සත් වන පෞද්ගලික දක්ෂිණා යැ. සෙදගැමි ඵල පසක් කරන්නට පිළිපන්නහු කෙරෙහි දන් දෙයි. මේ අටවන පෞද්ගලික දක්ෂිණා යැ. සෝවාන්හු කෙරෙහි දන් දෙයි. මේ නව වන පෞද්ගලික දක්ෂිණා යැ. සෝවාන් ඵල පසක් කරන්නට පිළිපන්නහු කෙරෙහි දන් දෙයි. මේ දස වන පෞද්ගලික දක්ෂිණා යැ. කාමයෙහි වීතරාග වූ බාහිර තාපසය කෙරෙහි දන්



දෙයි. මේ එකොළොස් වන පෞද්ගලික දක්ෂිණා යැ. පුහුදුන් සිල්වත්හු කෙරෙහි දන් දෙයි. මේ දොළොස් වන පෞද්ගලික දක්ෂිණා යැ. පුහුදුන් දුසිල්හු කෙරෙහි දන් දෙයි. මේ තෙළෙස් වන පෞද්ගලික දක්ෂිණා යැ. තිරිසන් ගියහු කෙරෙහි දන් දෙයි. මේ තුදුස් වන පෞද්ගලික දක්ෂිණා යැ. දක්ඛිණ විභංග සූත්‍රය - මජ්ජිම නිකාය 3 - 523 පිටුව

ඉහතින් පෙන්නුවේ දක්ඛිණ විභංග සූත්‍රයෙන් කොටසක්. ඒ අනුව පුද්ගලයෙක් උදෙසා, එහෙම නැත්නම් පුද්ගලත්වයක් අරගෙන දන් දෙනකොට, මම මේ දන් දෙන්නෙ අහවල් ස්වාමින් වහන්සේට, උන්වහන්සේ හරිම සිල්වත්, නිතරම භාවනායෝගීව ඉන්න උතුමෙක්.... ආදී වශයෙන් **පුද්ගලත්වයෙන් අරගෙන දෙන දානවලින් ලැබෙන පුණ්‍ය ඵලය අනුව ඒ දානය කොටස් 14 කට බෙදුවා. එයින් උඩින්ම ඉන්නෙ තිලෝගුරු සම්මා සම්බුදු පියාණන් වහන්සේ. යටින්ම හෙවත් 14 වෙනියට ඉන්නෙ තිරිසන් සත්තු.** බලු කපුටු දාන ආදිය අයිති වෙන්නෙ මේ 14 වෙනි අවස්ථාවට. ඒ තමයි පුණ්‍ය විපාක අඩුම දානය. කොහොමද එහෙම කියන්නෙ කියල කෙනෙකුට හිතෙන්න පුළුවන්. තිරිසන් වැඩ කියන්නෙ මොනවද? කොහොමද තිරිසන් අත්බැවක් කෙනෙකුට ලැබෙන්නෙ? ඒ විදිහට හිතුව නම් මේක තෝරගන්න ලේසියි.

මනුස්සකම ඉක්ම වූ, කිසි ගානක් නැතිව කරන පවුකාර වැඩ තියෙනවා. කිසි ගානක් නැතිව සතෙක් මරනවා, කෙනෙක්ගෙ දෙයක් හොරකම් කරනවා. අනෙක් මනුස්සයො කැවද බිව්වද කියල හොයන්නෙ නෑ, තල තලා වැඩ ගන්නවා. ඒ වගේ අයට පොදුවේ නමක් කියනවා. අපො ඒක නම් මහ තිරිසනෙක්, හිතක් පපුවක් නෑ, අනෙක් මිනිහගෙ දුක ගැන කිසි ගානක් නෑ. මේ ආදී වශයෙන් හඳුන්වනවා. ඉතින් ඒ ජාතියේ පවුකාර වැඩ කළාම බොහෝවිට ඊළඟ උප්පත්ති ජාතිය තිරිසන් වගේ සතර අපායක්. හරියට පාර තියෙද්දි, ඒ කියන්නෙ දස කුසලය නමැති නිවැරදි මාවත තියෙද්දි, ඒ මග නොයා තිරස් අතට හෙවත් දස අකුසලය කරමින් යන මාර්ගය. ඒ මාර්ගයේ යන වැඩවලට කියනව තිරිසන් වැඩ කියල. ඒකම උපාදාන කර ගෙන ඉඳල මැරිල ගියාම, අර හිතක් පපුවක් නැති උප්පත්ති ජාතියක තත්වෙට පත්වෙනවා. හිතක් නෑ කිව්වෙ ඇත්තටම හිතක් නැතුව නෙවෙයි, ඥානවන්තව හිතන්න බෑ කියන එක. ඉතින් ගුණයෙන් හීනයි. ඒ නිසා තමයි දානයක් දෙන කොට දන් දෙන කෙනාගෙත්, ලබන කෙනාගෙත් ගුණය, ප්‍රතිඵලය හොඳ වෙන්න බලපාන්නෙ. ඉතින් දෙන කෙනා කොච්චර ගුණවත් වුනත් ගන්න කෙනා ගුණ හීනයෙක් නම් ඒකෙන් ලැබෙන ප්‍රතිඵලත් අඩුයි. ඒ නිසා තමයි මුලින්ම සඳහන් කළේ,

අර බැල්ලට වමනෙ කරල දුන්න දානය නිසා මේ තරම් මහා ලැබීමක් එන්න විදිහක් නෑ කියල.

ඉහත පෙන්වපු සූත්‍රයේ ඊළඟට බුදුන් වහන්සේ මෙහෙම දේශනා කරනවා.

ආනන්දය, ඒ දානයන් කෙරෙහි තිරිසන් ගියහු කෙරෙහි දන් දී සියක් අනුසස් ඇති දක්ෂිණායෙක් කැමති විය යුතු යැ. පෘථජ්ජන දුශ්ශීලයා කෙරෙහි දන් දී දහස් අනුසස් ඇති දක්ෂිණයෙක් කැමති විය යුතු යැ...

අවසානයේ උන්වහන්සේ මෙහෙම දේශනා කරනවා,

සෝවාන්හු කෙරෙහි කවර කථා යැ? සෙදගැමි ඵල පසක් කරන්නට පිළිපන්නහු කෙරෙහි කවර කථා යැ? සෙදගැමි හට කවර කථා යැ? අනගැමි ඵල පසක් කරන්නට පිළිපන්නහු කෙරෙහි කවර කථා යැ? අනාගැමිහට කවර කථා යැ? රහත් ඵල පසක් කරන්නට පිළිපන්නහු කෙරෙහි කවර කථා යැ? තථාගත ශ්‍රාවක වූ රහත්හු කෙරෙහි කවර කථා යැ? ප්‍රත්‍යක බුද්ධයන් වහන්සේ කෙරෙහි කවර කථා යැ? තථාගත අර්හත් සම්‍යක් සම්බුද්ධයන් වහන්සේ කෙරෙහි කවර කථා යැ?

ඉතින් බුදුන් වහන්සේ අහනවා, ආර්යන් වහන්සේලාට දුන්න දානවලින් ලැබෙන විපාක ගැන අහන්නත් දෙයක්ද කියල. දැන් එතකොට වඩාත් ආනිසංස තියෙන්නෙ, අර පදුමුත්තර බුදුන් වහන්සේ ප්‍රමුඛ මහා සංඝයාට දුන්න දානයෙද, එහෙම නැත්නම් අර බැල්ලට වමාරල දුන්න දානයෙද ? නැණ නුවණ තියෙන පින්වතුන්ට ඒ කාරණය තෝරගන්න අමාරු නෑ.

එතකොට හැමෝම දන් දීල තමයි මේ වගේ පැතුමක් පතන්නෙ කියල මෙතෙක් මේ ලිපි පෙල කියවපු පින්වතුන්ට හිතෙන්නත් ඇති. මහා දන් දුන්නට පස්සෙ තමයි පැතුමක් පතන්නෙ. පසුගිය කලාපයක ලිපියකින් මේ දන් දීම, ඒ කියන්නෙ අග්‍ර වූ ශ්‍රේෂ්ඨ වූ කොටස දන් දෙන හැටි පෙන්නුවා. දැන් කෙනෙකුට හිතෙන්න පුළුවන්, ඇයි අපි දන් දෙන්නෙ කියල. මොකක්ද මේ දානය කියන්නෙ? ඇයි දන් දෙන්න ඕන? මොකක්ද ඒකෙ තියෙන වැදගත්කම?

දැන් මෙහෙම කතාවක් කිව්වොත් ඒක කී දෙනෙක් නම් පිළිගනීද? රාග, ද්වේශ, මෝහ ප්‍රහීණ කරපු උතුමන්ට හෝ එසේ කිරීමට උත්සාහ කරන උතුමන්ට ඒ අයගෙ කොටස දෙනවා. දෙවියන්ට, බඹුන්ට ඒ අයගෙ කොටස දෙනවා. දුගී මගී යාචකාදීන්ට ඒ අයගෙ කොටස දෙනවා. තිරිසන් සතුන්ට ඒ අයගෙ කොටස දෙනවා. එහෙම නැත්නම් මෙහෙම කතාවක් කිව්වොත් ... මම රෑ දවල් මහන්සි වෙලා යම් කිසි මුදලක් ඉපැයුවා නම්, යමක් ලැබුන නම්, ඒ ලැබුන කොටසේ අර කලින් කිව්ව සියලු දෙනාගෙම කොටස් තියෙනවා. ඒ කොටස් නැවතත් ඒ අයටම දෙන එක, එහෙම නැත්නම් මම ඒ අයගෙන් ගත්ත ණය කොටස ආපහු දාන එක තමයි දානය කියන්නෙ.

දැන් මෙහෙම කතාවක් කිව්වොත් කෙනෙකුට හිතෙන්න පුළුවන්, එහෙම වෙන්නෙ කොහොමද, ඒක කොහොමටවත් වෙන්න විදිහක් නෑ කියල. ඒක වෙන්නෙ මෙහෙමයි. මේ කල්ප ආරම්භයේදී, ඒ කියන්නෙ මිනිස්සු ආදි බ්‍රහ්ම කල්පික මනුස්සයන් විදියට හිටපු කාලයේ, සියල්ල තිබුනෙ පොදුවේ බෙදා හදාගෙන ගන්න ආකාරයට. (පෙර කලාපවල පළ වූ විවිධ ලිපිවලින් මේ ගැන වැඩි විස්තර බලාගන්න පුළුවන්). ඉතින් මානසිකව ටිකෙන් ටික දූෂ්‍ය වෙන කොට මිනිස්සු, පොදුවේ නිදහසේ බෙදාගෙන පරිහරණය කරපු දේවල්වලට වැටකඩොළු දමන්න පටන් ගත්තා. වෙනදට නිදහසේ ගමන් බිමන් ගිය උතුමන්ට වැටකඩොළු නිසා එතනින් යන්න බැරිව ගියා. සතා සිවුපාවන්ට ඒ ප්‍රදේශවලට එන්න බැරිව ගියා. උතුමන්ට, අනෙක් අයට, සතුන්ට අයිති කොටස් මිනිස්සු බලෙන් තමන් ළඟ තියා ගත්තා. ඉතින් ඒ ඉඩමකින් වගාවක් කරල ඵලදාවක් ගත්තොත්, අර පොදුවේ පරිහරණය කරපු අයගෙ අයිතිය දැන් ඒ ඵලදාවෙ නෑ කියල කාටද කියන්න පුළුවන්? ඒ හැඟීමෙන්, ආ... මෙන්න එදා මම නොදැනුවත්ව උතුමන්ගෙන් ගත්තු කොටස... මේක උන්වහන්සේලාට... දෙවියන්ගෙ කොටස මේක... දුගීමගී යාචකයන්ගෙ කොටස මේක... ආදී වශයෙන් හිතල වෙන් කළාම, අර ගත්ත ණය ආපහු ගෙව්ව වෙනවා, අපිම වහගත්තු කොටස නැවත විවෘත කළා වෙනවා. ඒ විවෘත කරපු තැනින් නැවත ලැබීම අපි කරා එනවා. ඔන්න ඔය විදියට තමයි දානයක් දුන්නම ලැබීම එන්නෙ.

ඉතින් ඔය විදියට සීවලි මහරහතන් වහන්සේ, පදුමුත්තර බුදුන් වහන්සේගෙ කාලයේ අර මුලින් දුන්න දානයේ පුණ්‍ය විපාකත් විඳගෙන එන සසර ගමනෙදි එක්තරා අතපසු වීමක් සිද්ධ වෙනවා. කොච්චර ශ්‍රාවක පාරමිතා පිරුවත්, සසර ගමන කොච්චර භයානකද කියල හිතෙන්නෙ මේ වගේ දේවල් නිසා. ඒ අත්බැවේදි රජකම් කරන්න ගිහින් වෙච්ච අතපසුවීමක්. තමන්ට සතුරු රජෙක් ඇතුලු සේනාවක් සතියක් තිස්සෙ හිර කරල නොයෙක් තාඩන පීඩනයන්ට ලක් කළා. ඒකෙන් ලැබුන ඊළඟ විපාකය තමයි නිරයට වැටීම. එතනින් ගිහින් අවසන් අත්බැවේ අර පාපයේ ශේෂ මාත්‍ර නිසා, මනුස්සයෙක් වශයෙන් මෙලොවට බිහිවෙන්න පෙර සත් අවුරුද්දක් මවු කුස තුළ හිරවෙලා ඉන්න සිද්ධ වුණා. ඒ කාලය තුළ නොයෙක් දුක් වින්දා. කෙනෙක් හිර කළාම අපිටත් ඒ ජාතියේම දුකක් කොහෙන් හරි විඳින්න සිද්ධ වෙනවා.

මේ වගේම තවත් කතාවක් ධර්මයේ සඳහන් වෙනවා. එක්තරා ස්වාමීන් වහන්සේලා පිරිසක් බුදුන් වහන්සේ හමුවෙන්න පා ගමනින් වඩින මොහොතක, රෑ බෝ වෙච්ච නිසා ගල් ගුහාවක නවාතැන් ගන්න තීරණය කළා. මහ වැසි, සුලං නිසා ඒ ගුහාව උඩ තිබුනු ගලක් පෙරලිලා ඇවිත් අර ගුහාවෙ කටටම වැටිල වැහුණා. ඉතින් හරියටම හත් දිනකින් ගුහාවෙ කට ළඟ තිබුන ගල ඉබේම ඉවත් වුණා. මේක අර ස්වාමීන් වහන්සේලාට හිතාගන්නත් බෑ. එතකල් හත් දිනක් අර ගුහාව ඇතුලෙ අන්ධකාරයේ බඩගින්නෙ ඉන්න වුණා. මේ කාරණය බුදුන් වහන්සේ හමුවෙන්න ඇවිත් සැලකර සිටියා. එතකොට උන්වහන්සේ එහෙම වෙන්න හේතුව පැහැදිලි කළා. ඒ කියන්නෙ එක්තරා අත්බැවක මේ ස්වාමීන් වහන්සේලා ගොපළු දරුවො වෙලා ඉඳල හරක් බලන්න යන ගමන්, මග හිටිය තලගොයෙක් මරන්න කියල, ඒ සතා ගුහාවක් තුල හිර කරල යන්න ගියා. ඊට පස්සෙ ඒ කාරණය මේ ළමයින්ට අමතක වුණා. දින හතකට විතර පස්සෙ ඒක මතක් වෙලා ඇවිත් ආපහු අර සතාට යන්න දුන්නා. ඒකෙ විපාකය තමයි මේ අවසන් අත්බැවේ අර ස්වාමීන් වහන්සේලාටත් විඳින්න සිද්ධ වුණේ.

දැන් මේ වගේ අදත් සමහර ගෙවල්වල සුරතලේට කියල සතුන් කූඩුවල දාගෙන ඇති කරනවා. කන්න බොන්න දුන්නත්, සාත්තු සප්පායම් කළත් ඒ සතුන්ගෙ නිදහසට බාධා කරල හිර කරල තියෙනවා. මේ අපි හිතන්නෙ නැති පැත්තක්. ඉතින් ඒ අයටත් කවද හරි ඒ ජාතියෙ හිරවීමක් වෙන්නෙ නෑ කියල කාටද කියන්න පුළුවන්? ඔය එක විදිහක හිර කිරීමක්. මේ විදියට නොයෙක් ආකාරයේ බොරු චෝදනා කරල පළි ගන්න චේතනාවෙන් සමහර විට නීතියෙන් හිර කරනවා. හදි හූනියම් කරලත් අද කාලෙ මිනිස්සු තව කෙනෙක්ව හිර කරනවා. ඒ වගේම හැමදාම යන එන පාරවල් වහල හිර කරනවා. නියමිත වෙලාවට තමන්ගෙ සේවකයන්ට පඩි නඩි නොදී හිර කරනවා. සල්ලි නැති වුනාම අදටත් කියන කතාවක් තමයි, මම දැන් හොඳටම හිර වෙලා ඉන්නෙ, කිසි දෙයක් කරගන්න විදිහක් නෑ, තාම පඩි ☞

දුන්නෙත් නෑ, දවස් පහ හයක්ම පරක්කුයි කියල.

මේ නිසා කෙනෙක් කුඩුවක දාලම හිරකරන්න ඕන නෑ. කෙනෙක් පහසුවෙන් මොකක් හරි යහපත් වැඩක් කරගෙන යන කොට, ඒක කර ගන්න බැරි වෙන්න බාධාවක් කරනව කියන්නෙ, ඒ පුද්ගලයව හිර කළා කියන එක. ස්වාමියා බිරිඳව නොයෙක් තාඩන පීඩනයන්ට ලක් කරල හිර කරනවා, අම්මා තාත්ත නැදැයො බලන්න යන්න දෙන්නෙ නෑ. ඒ වගේ දේවල්වලිනුත් කෙනෙක් තව කෙනෙක්ව හිර කරන්න පුළුවන්. ඒ හැම දේකින්ම ඊට ගැලපෙන විපාකයක් තමන්ටත් එනව කියල සිහි බුද්ධියෙන් හිතන්න ඕන. එහෙම හිතල ඒ වගේ දේවල්වලින් පුළුවන් තරම් වැළකෙන්න ඕන. ඉතින් ශ්‍රාවක පාරමිතාවක් පුරපු උත්තමයෙකුටත් එහෙම හිරවීමක් වුනා නම්, අපි ගැන කවර කතාද?

දුන් අර උතුමන්ට දීපු මහා දානවල ප්‍රතිඵල අවසාන අත්බැවේ සීවලී මහරහතන් වහන්සේට ලැබුණා. උන් වහන්සේ සිවුපසය ලැබෙන උතුමන්ගෙන් අග තනතුරට පත්වුණා. ලැබීම කොච්චරද කියනව නම්, මේ බුද්ධ වචනයෙන්ම ඒ කාරණය පැහැදිලි කරගන්න පුළුවන්.

''ටිකක් දුර ගිය පසු, ආනන්ද තෙරනුවෝ දෙමංසන්ධියකදී බුදුන් වහන්සේ වෙත ගොස්, ස්වාමීනි, රේවත වෙත යන ගමන් මාර්ගයන්හි මෙය දීර්ඝ මාර්ගයකි, සැට යොදුනක් දුරය, මනුෂ්‍යාවාස සහිතය. නමුත් මේ මාර්ගය ඍජු මගකි, තිස් යොදුනකි, අමනුෂ්‍යයන්ගෙන් පිරුණකි. අප යන්නේ කොයි මාර්ගයෙන්දැයි ඇසූහ. ආනන්දය, සීවලී තෙරනුවොත් අප සමග ආවෙහිද? ස්වාමීනි, එසේය. සීවලී තෙරනුවන් ආවාහු නම් ඍජු මාර්ගයම ගන්නැයි වදාළහ. ශාස්තෘන් වහන්සේ පිරිවර සහිතව තිස් යොදුන් කාන්තාරය සීවලි තෙරුන්ගේ පිනම අනුභව කරමින් වැඩියහ.'' (ධම්ම පදට්ඨ කතාවෙන් උපුටා ගන්නා ලදී)

දැන් එතකොට ඒ ලැබීම පවා උන් වහන්සේට අරිහත්වයට පත් වෙන්න බාධාවක් වුනේ නෑ. නමුත් ඒ ලැබීමට ගිජු වුනා නම් අනිවාර්යෙන්ම මාර්ගයට බාධාවක් වෙනවා. ඒක ප්‍රඥාවෙන් ගත යුතු තීරණයක්. නමුත් ලැබීම ගමන පහසු කරවනවා. හරියට, ගිනියම් වෙච්ච තාර පාරක, කෙනෙක් සෙරෙප්පු දෙකක් නැතුව ගමන් කරනවා, තව කෙනෙක් සෙරෙප්පු දෙකක් දාගෙන ගමන් කරනව වගේ වැඩක්. දෙන්නම එකම මාර්ගයේ ගමන් කරන්නෙ. හැබැයි එක් කෙනෙක් කකුල් පිච්චි පිච්චි අපහසුවෙන් ගමන් කරනවා, අනෙක් කෙනා කකුල පිච්චෙන්නෙ නැතිව පහසුවෙන් ගමන් කරනවා. පින නිසා එන ලැබීමත් අන්න ඒ වගේ. ගමනට උදව්වක්, පහසුවක් වෙනවා. ප්‍රඥාවන්තයින් ඒ පහසුවෙන් උපරිම ඵල නෙලා ගන්නවා. හරියට සීවලී මහ රහතන් වහන්සේ වගේ.

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු සමග අපදාන පාලිය 2- 1- සීවලී ස්ථවිරාවදානය ඇසුරින් සකස් කළේ:*

**ෆික්රි ඉස්මයිල්**
**පරිගණක ඉංජිනේරු - ගොතටුව**

# හෙළ බොදු පියුම දහම් සඟරාවේ 27 වන කලාපය සඳහා ශ්‍රමය හා මූල්‍යමය දායකත්වය සැපයූ පිංවතුන්

**ශ්‍රම දායකත්වය** ♦ ධම්මික සේනාධීර මහතා - නෙක්මෝ කම්පියුටර්ස් ආයතනය - මාලබේ ♦ අසංග මංජුල කුමාර මහතා - හෝමාගම ♦ සමන් සිල්වා මහතා - කළුතර ♦ චන්දන සිරිවර්ධන මහතා - අලපලාදෙනිය ♦ ෆික්රි ඉස්මයිල් මහතා - ගොතටුව ♦ රාජ් නිල්මිණි විජේවික්‍රම මහතා - ගොඩගම ♦ ප්‍රසාද් ද සිල්වා මහතා - දෙල්ගොඩ ♦ පර්ෆෙක්ට් කම්පියුටර් ආයතනයේ කාර්ය මණ්ඩලය - පිටකෝට්ටේ ♦ ඉමාෂි මුද්‍රණාලයේ අධිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලය ♦ නන් අයුරින් දායකවූ පින්වතුන්

**මූල්‍යමය දායකත්වය** ♦සමන් සිල්වා මහතා - කළුතර - රු. 12,800/- ♦2014.01.04 දින වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයේ පැවති ආශිර්වාද පූජාව සහ සදහම් වැඩසටහන වෙනුවෙන් ගිලන් පස ඇතුළු දානමාන කටයුතුවලට දායක වූ සියලු පින්වතුන් - රු. 12,218/- ♦ජයන්ති අත්තනායක මහත්මිය ඇතුළු පවුලේ සැම - මෙල්බන් නුවර, ඕස්ට්‍රේලියාව - රු.10,000/- ♦කරුණා ධර්මසේන මහත්මිය ඇතුළු පවුලේ සැම - හෝමාගම - රු. 10,000/- ♦ තුසිත නාකන්දල මහතා - මහනුවර- රු. 10,000/- ♦ අමිත් හඳුගොඩ මහතා - අත්තිඩිය - රු.5,000/- ♦ කැළුම් ලංකේශ්වර මහතා ඇතුළු පවුලේ සැම - නෙළුව- රු. 5,000/- ♦ චරිත් ඉන්දික මහතා - ඉතාලිය - රු. 5,000/- ♦ පුෂ්පික ගයාන් ඉන්ද්‍රජිත් ලොකුමාන්න මහතා - ගල්කිස්ස - රු. 5,000/- ♦ ඩබ්.ඒ. තිළිණවතී මහත්මිය සහ ටී. සිරිසේන සිල්වා මහතා - කඩවත - රු. 5,000/- ♦ සොනාලි සමරදිවාකර මෙනෙවිය - මහරගම - රු. 5,000/- ♦ දෙහිවල කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙනේ සදහම් වැඩසටහනට සහභාගි වන පිංවතුන් - රු. 5,000/- ♦ අමිල සල්ගාදු මහතා - බෝමිරිය - රු. 4,000/- ♦ ජනක හපුආරච්චි මහතා ඇතුළු පවුලේ සැම - ගිනිගත්හේන - රු. 3,000/- ♦ නුගේගොඩ නාලන්දාරාමයේ සදහම් වැඩසටහනට සහභාගි වන පින්වතුන් - රු. 3,000/- ♦ කෝලිත වීරසේකර මහතා - ගංගොඩවිල - රු. 2,880/- ♦ බිහාධි යොහන්සා සුදුසිංහ දියණිය ඇතුළු පවුලේ සැම - පානදුර - රු. 2,500 ♦ මානෙල් කටුගම්පොළ මහත්මිය - මහරගම - රු. 2,000/- ♦ කෝෂලා සිරිවර්ධන මෙනෙවිය - ගාල්ල - රු. 2,000/- ♦ නිලන්ත ප්‍රසාද් මහතා ඇතුළු පවුලේ සැම - මාලබේ - රු. 2,000/- ♦ පී.රංජිත් උපාලි මහතා - හෝමාගම - රු.2,000/- ♦ කේ.ඒ. ජයරත්න මහතා ඇතුළු පවුලේ සැම - හොරතුඩුව - රු. 2,000/- ♦ කමලා කාරියවසම් මහත්මිය - මහරගම - රු.2,000/- ♦ ඩබ්.උපුල් පරාක්‍රම ද සිල්වා මහතා - මාරවිල - රු. 2,000/- ♦ හසිත ධනංගොඩ මහතා - සිරිධම්ම මාවත, කොළඹ 10. - රු.2,000/- ♦ ප්‍රියංකා සෙනෙවිරත්න මහත්මිය ඇතුළු පවුලේ සැම - නෙළුව - රු.2,000/- ♦ විකසිත අබේවීර මහතා සහ ශානිකා අබේවීර මහත්මිය - කුරුණෑගල - රු.2,000/- ♦ අයිරාංගනී තිලකරත්න මහත්මිය - නාවල - රු. 1,500/- ♦ සරත් ගුණරත්න මහතා සහ රේණුකා ගුණරත්න මහත්මිය ඇතුළු පවුලේ සැම - ගොතටුව - රු. 1,500/- ♦ ගල්ගමුවේ ධම්මදස්සි හිමි - රු. 1,000/- ♦ පී. ඇසිලින් නෝනා මහත්මිය - ගල්ගමුව - රු. 1,000/- ♦ ගල්ගමුවේ විසූ මියගිය ටී.ජී. සඳමාල් විපුල් ජයසිංහ මහතාට පිං පිණිස - රු. 1,000/- ♦ දර්ශන පෙරේරා මහතා - පිළියන්දල - රු. 1,000/- ♦ ඩබ්.ටී. අමරදාස මහතා - පාදුක්ක - රු. 1000/- ♦ දිව්‍යා දුව සහ හිරාන් පුතා - ගාල්ල - රු. 1,000/- ♦ කේ.ඒ.උපාලි ජිනදාස මහතා - ගැටහැත්ත - රු. 1,000/- ♦ ඉන්ද්‍රානි විශාකා ජයසිංහ මහත්මිය- බොරලැස්ගමුව - රු. 1,000/- ♦ හෙළ රූ ස්ටුඩියෝ - කු/බෝපිටිය - රු. 1,000/- ♦ එච්.පී. විජේරත්න මහතා - කිරුළපන - රු. 1,000/- ♦ සිරියාවතී රන්දෙනි මැණිකේ - කුඩාවැව - රු.1,000/- ♦ තිලකා කරුණාතිලක මහත්මිය - නෙළුම්දෙණිය - රු. 1,000/- ♦ ජේ.ඒ. වජිර නලින්ද ජයතිලක මහතා - බියගම - රු. 1,000/- ♦ එම්.පී. විජේතුංග මහතා - පූජාපිටිය - රු.1,000/- ♦ දමයන්ති පත්තප්පෙරුම මහත්මිය

ඇතුළු පවුලේ සැම - වේයන්ගොඩ - රු.1,000/- ♦ කපිල වික්‍රමනායක මහතා සහ ජනිඳු බිම්සර පුතා - නෙළුව - රු.1,000/- ♦ ශ්‍යාමල් බණ්ඩාර මහතා-කුරුණෑගල - රු. 1,000/- ♦ රුවන් රණසිංහ මහතා - පන්නිපිටිය - රු.1,000/- ♦ නදීශා හර්ෂනී ලියනගේ මෙනෙවිය - කළුබෝවිල - රු. 1,000/- ♦ කේ. අමරතිලක මහත්මිය - මහරගම - රු. 1,000/- ♦ ශමීන් බණ්ඩාර මහතා - උඩුබැද්දෑව - රු. 1,000/- ♦ එරංග ලියනගේ මහතා සහ බිසන්තිකා ගුණසේකර මහත්මිය - කළුබෝවිල - රු. 1,000/- ♦ අනුරුද්ධ ඉද්දවෙල මහතා - කඩවත - රු. 1,000/- ♦ මලිත් ද සිල්වා මහතා සහ අනූපමා සිරිවර්ධන මහත්මිය - ගාල්ල - රු. 1,000/- ♦ මංජුල පී. ජයවර්ධන මහතා සහ හිමන්සා ගමනායක මහත්මිය - නිල්ලබේ - රු. 1,000/- ♦ හෂිත මිලින්ද අබේරත්න මහතා ඇතුලු පවුලේ සැම - කෑගල්ල - රු. 1,000/- ♦ චන්ද්‍රිකා අබේසිංහ මහත්මිය ඇතුලු පවුලේ සැම - නෙළුව - රු. 1,000/- ♦ එස්. ප්‍රසන්න සිල්වා මහතා - ගල්කිස්ස - රු. 1,000/- ♦ ස්වර්ණා සෝමරත්න මහත්මිය - දඹුටුව - රු. 1,000/- ♦ ප්‍රනීෂා නයෝමි මහත්මිය - හෝමාගම - රු. 1,000/- ♦ නදීකා නවරත්න මහත්මිය - මහනුවර - රු. 1,000/- ♦ ධනවතී පෙරේරා මහත්මිය ඇතුළු පවුලේ සැම - රදාවාන - රු. 1,000/- ♦ නුවන් යාපා අමරසේකර මහතා - රදාවාන - රු. 1,000/- ♦ ඩබ්. විලියම් මහතා - දෙහිඅත්තකණ්ඩිය - රු. 1,000/- ♦ රජිනි බණ්ඩාරනායක මහත්මිය - නුගේගොඩ - රු. 1,000/- ♦ රංජිත් වික්‍රමසිංහ මහතා, පද්මාවතී වික්‍රමසිංහ මහත්මිය, සුභාෂිනී දිසානායක මහත්මිය, නදිනි වික්‍රමසිංහ මෙනවිය, ජී.ජී. ලයනල් ආරියදාස මහතා - කඩිගමුව, උපුල් විජේනායක මහතා - මාවනැල්ල, මනෝජ් ජයසූරිය මහතා, උදාන ආරියවංශ මහතා - මහරගම, ඉසුර සම්පත් මහතා, පතිරණ විජේතිලක මහතා - හෝකන්දර, චතුර මල්වාන මහතා - කෑගල්ල, චන්දිම ගුණදාස මහතා - මොරටුව, දුමින්දා සංජීවනී මහත්මිය - නිට්ටඹුව, ශාන්ත මාරසිංහ මහතා - මහනුවර, කුමාරි ගොඩවිට මහත්මිය - කුරුණෑගල, ඩී.එම්. එල්. පුෂ්පකුමාර මහතා - වාරියපොල, සචිනි මුදිතා නාවලගේ මහත්මිය - වැලිමඩ, වෛද්‍ය එල්. සුබසිංහ මහතා - වෙලගෙදර, ඒ.එල්. කාන්ති මහත්මිය - කොට්ටාව, සිරිතුංග දෙළුම්දෙණිය මහතා - බෙන්තර - රු. 10,100/- ♦ එකතු වූ සියලු මුදල් පරිත්‍යාග- රු. 173,498/- ♦ පළමු පිටපත් 10000 සඳහා මුද්‍රණ වියදම රු. 232,500/- ♦අනෙකුත් වියදම් - 13,430/- ♦සම්පූර්ණ වියදම - රු. 245,930/- මුද්‍රණ කටයුතු සඳහා ගිය හිඟ මුදල සඟරා අලෙවියෙන් පියවා ගන්නා ලදී. සඟරා අලෙවියෙන් ලැබෙන ඉතිරි සියලු මුදල් නැවත මුද්‍රණ කටයුතු ඇතුළු දහම් කටයුතු සඳහා යොදවනු ලැබේ.

**ඉහත නම් සඳහන් පිංවත් පිරිස ඇතුළු ආධාර උපකාර කළ සියලු දෙනා සිදු කරගත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද හේතු කොටගෙන, අනන්ත සසරේ පටන් මේ දක්වා තම තමන් අතින් අවැඩ, අසාධාරණ, වැරදි, ප්‍රමාද දෝෂවලට ලක් වූ සියලු දෙනාට මෙන්ම උදව් උපකාර කළ සැමටත්, මියගිය සතර වරිගයක ඥාති මිත්‍රාදීන්ටත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද විහිදී පැතිරී පිහිටා සුඛිත මුදිත වෙත්වා, සුගතිගාමීව තම තමන්ගේ පැතුම් පරිදි නිර්වාණාවබෝධයටද හේතු වාසනා වේවා! එම ආධාර උපකාර කළ පිංවත් පිරිස් ඇතුළු සිය පවුල්වල සැමටත්, කරන කියන යහපත් රැකී රක්‍ෂා ව්‍යාපාර ආදියෙන් සියලු ජයග්‍රහණයන් අත් වේවා. දූ දරුවන්ගේ අධ්‍යාපන ආදී කටයුතුවලින් විශිෂ්ඨ ජයග්‍රහණ අත් වී සුචරිත පිරිසක් වී සියලු අභිවෘද්ධිය උදා වේවා!**

**සියවස් ගණනාවකට පෙර සැඟව ගිය නිමල බොදු මග යළි පුබුදුවමින්,**
**හෙළ බොදු පියුම දහම් කරුණු ඔබ වෙත රැගෙන එන්නේ, බුදු පියාණන් වහන්සේ අනුදැන වදාළ, අග්ගඤ්ඤ සූත්‍රය, නිරුත්තිපථ සූත්‍රය සහ අරණවිභංග සූත්‍රය යන සූත්‍රාන්තයන්ට අනුව, දහම් පදවල සැඟවුණු දහම් අරුත් මතු කරන පද නිරුක්ති සහ අතීතය, වර්තමානය, අනාගතය හඟවන තුන්කල් නිරුක්ති සහිත ව්‍යවහාර ශබ්ද නිරුක්ති ක්‍රමවේදය අනුව මිස, උන්වහන්සේ අනුමත නොකළ ලිඛිත භාෂා රීති සහිත බමුණන්ගේ ත්‍රිවේද නිරුක්ති මත නොවන බව සලකන්න.**

**පින්වත් ඔබ වෙනුවෙන් එළි දැක්වූ දහම් ගබඩාවන්...**

www.hiddendhamma.net mp3.hiddendhamma.net www.helabodhupiyuma.net www.aaryadharma.org
විද්‍යුත් ලිපිනය: webmaster@helabodhupiyuma.net දු.අ:- 071 3046895

**දම් සභා ගුවන් හඬ** - www.waharaka.com වෙබ් අඩවිය ඔස්සේ පුර සහ අමාවක පොහොය දිනයන්හි උදෑසන 8.00 සිට සවස 5.00 දක්වා

**සැඟවුණු බොදු මග යළි විවර කරමින් වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයේ සදහම් වැඩසටහන් පැවැත්වෙන කාල හෝරාවන්:**

සැම පුන් පොහෝ දිනකම සහ සැම අමාවක පොහොය දිනකම උදෑසන 8.00 සිට සවස 5.00 දක්වා - පෙහෙවත් සමාදානය, දහම් සාකච්ඡා සහ විශේෂ පුණ්‍යානුමෝදනාව.

ගමන් මාර්ගය: නිට්ටඹුව - රුවන්වැල්ල ප්‍රධාන මාර්ගයේ ගෝණගල්දෙනිය හන්දියේ සිට වහරක අතුරු මාර්ගයේ මීටර 350 ක් පමණ දුරින් දකුණු පස.

## හෙළ බොදු පියුම දහම් සඟරාවේ පසුගිය කලාපයන් ඇතුලු සියලු කලාපයන් දැනට ලබාගත හැකි ස්ථාන:

1. ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලය - තලවතුගොඩ පාර, පිටකෝට්ටේ
2. නෙක්මෝ කම්පියුටර්ස් ආයතනය - මාලබේ.
3. නිව් පියුමි කොමිනිකේෂන් - පීරිස් මාවත, කළුබෝවිල.
4. තුෂාරා ෆැෂන් - හයිලෙවල් පාර, හෝමාගම.
5. පිනැකල් නෙට් - ශානි ඉන්ස්ටිටියුට් - හයිලෙවල් පාර, ගොඩගම
6. තුෂාරි සාරි සෙන්ටර් - කොළඹ පාර, පාදුක්ක.
7. සුජය ෆාමසි - කටුබැද්ද හංදිය, මොරටුව.
8. ගේට්වේ අධ්‍යාපන ආයතනය - කලේගාන, ගාල්ල.
9. සමනල පොත්හල - නෙළුව.
10. නිව් මෙට්‍රෝ කම්පියුටර්ස් - කාලිදාස මාවත, මාතර
11. මෝලෙ කඩේ - මුදුන, වලස්මුල්ල.
12. කේ. පී. ස්ටෝර්ස් - ගන්තුන, කෑගල්ල.
13. නුගේගොඩ නාලන්දාරාම විහාරස්ථානයේ සදහම් වැඩසටහනින් (ඉරිදා උදේ 9.00 සිට සවස 2.00 දක්වා පමණි.) (077 7577592)
14. දෙහිවල කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරස්ථානයේ සදහම් වැඩසටහනින් (සෙනසුරාදා උදේ 8.30 සිට සවස 2.00 දක්වා පමණි) (දෙහිවල පොලිස් ස්ථානය අසල)

***ඉහත ආයතන හිමි පින්වතුන් මෙම සද් කාර්ය ඉටු කරනු ලබන්නේ කිසිදු වෙළඳ ලාභයකින් තොරව සාසනික කටයුත්තක් වශයෙන් පමණි.***

# එදා අම්මා... මෙදා දුව... මතු බිරිඳ...



එක් මිනිසෙකුට අම්මෙක් වූ කෙනෙක් එදා
නික්මී භවෙන් යළි ඉපදී දුවෙක් මෙදා
දුක් වී මළා බිරිඳක ලෙස භවක් හදා
දැක්කද මෙලෝ සත යන හැටි මමෙක් බදා

අනත වූ සසර ගමනේ භවයක අම්මා
පණ නල වගෙයි බැඳෙමින් කෙරුවද පෙම්මා
දින දින ගෙවී බිඳ ගෙන බැඳි භව බැම්මා
එන භව බිරිය වෙයි ගනුදෙනු නැත නිම්මා

මවු විතරක් නෙවෙයි අන් නෑහිතවත ද
සෙවුවද මෙලෙසමයි පෙර අත්භව වල ද
සවු සත මාරු වී නෑහිතවත් බව ද
ගෙවූ විට හැඬු කඳුළු පරයයි සිඳු දිය ද

මෙ අතර නොයෙක් තිරිසන් අත්භවද ගෙන
පෙරපර සබඳකම් ගිලිහෙයි කරුම යෙන
අනදර වෙමින් ලසු කොට දැන් සලකමින
මෙ සසර සරයි සත භව සොබ නොමැත දැන

මේ ලෙස එකම සතෙකුට මවු වෙලා සතෙක්
ආ දුර කොහොමදැයි වීමසා බලා මෙතෙක්
කීවද එ මවු මළ විට වැළපිලා කොතෙක්
සාගර දිය සුළුයි කඳුළැලි හලා එතෙක්

කොහෙන් පටන් ගෙන කොහි කෙළවර වන්නේ
ඇහෙන් කනින් දැක ඇසු විට නැත දන්නේ
භවෙන් භවය එන අත්බැව් මෙලෙසින්නේ
නිවන් දුටු විටයි හරියට වැටහෙන්නේ

පබැඳුම - නීතිඥ චන්දන සිරිවර්ධන

















# දවසක අවුරුදු...



තුන් සිය හැට හතර දිනකට නැති වෙනස
බන්ධන දිනක් එයි පලවෙනිදට මනස
ඉන් සිත සතන් තිබුණද එදිනට සනස
තුන් දොස නැගෙයි අන් දින නැති ලෙස නැණස



එක් දින විඳින්නට විසි කරනා කාසී
මක් වෙද කළොත් ඉතිරිය හැම දා ලේසී
දැක්මක නොඉඳ නෙක නෙක තිබෙනා රාසී
දුක් මිස හිස් විටදි නැත ලැබෙනා වාසී



මරනා සතුන් බඩ කට පුරවන්න රසින්
කරනා බැළුම් බඩු විකුණා ගන්න වෙසින්
දිරනා කයින් දිනකට සැනසෙන්න තොසින්
ගරනා මුදල් දුසිරිත වපුරන්න ගොසින්



මෙතෙක් දුරට සැමරුව අවුරුදු වාර
කොතෙක් වෙද බලා සිහි කළ විට නෑර
සෙතක් ලැබුව නම් යා යුතුමය දෝර
සිතක් නොහද කන අවුරුදු නැත සාර



පෙම් කර නොඉඳ දිනකට වේගයෙන් යන
දම් මග පුරනු අනතවු කල් ගියෙන් පැන
නිම් නැති සසර බියකරු බව එයින් දැන
කම් නැත සැමරුවත් අවුරුදු නැණින් ගෙන



පබැඳුම - නීතිඥ චන්දන සිරිවර්ධන

නීතිඥ චන්දන සිරිවර්ධන විසින් නුගේගොඩ ගංගොඩවිල වනාත පාරේ අංක 96/A දරණ ස්ථානයේ පිහිටි ඉමාෂි මුද්‍රණාලයේ මුද්‍රණය කර ප්‍රසිද්ධ කරන ලදී.